සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2556ක් වූ වප් මස (ව්‍යවහාරික වර්ෂ 2012 ඔක්තෝබර්)

12 වෙනි කලාපය



## අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්

සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

# මනු ලොවින්...



දිනකට ගෙවෙන මනු ලොව විසි හතර පැයේ
පමණට සැපය වැඩියෙන් දුක පිරිල තියේ
පවනට බඳු වූ වේගෙන් මිය ඇදෙන කයේ
රකිනට සැපක් ඇත්දෝ බෑ බලනු බියේ

උනුන් කොටවනා සිත් ඇති දනන් නෙක
අනුන් යට කරයි තම බඩ එයින් රැක
පිනුම් ගසන මුත් ලොව රස ලෙසින් දැක
දිනුම් නොමැත මරණෝදි වට කරන් දුක

ගෙවා පැය ගණන් අලුයම සිට සවස
දවා හරින වෙහෙසින් ගෙවෙනව දවස
නිවා ගන්න ආවත් රැය වෙත නිවස
දෙවා ගැඹුරු පැතුමන් නොනිවෙයි පවස

අන් සතු වස්තුවත් කර ගනිමින් මාගේ
සුන් කර උතුරු දම් පහළට යයි වේගේ
මින් පෙර නොවූ ලෙස ඇවිලෙන විට රාගේ
තුන් ලොව විසක් නැත මිනිසත් විස වාගේ

අට අනු රෝග නව අනු වැහැරුම් කියනා
වට කොට සමග තව නෙක අනතුරු තියෙනා
බැට කන කයක් ගෙන නටනා ගී ගයනා
හැට පැන ගියත් අදහස නම් හැර නොයනා

හදි හූනියම් අන වින කොඩි වින ද යනා
මදි නෑ කියන්නට ඇත යන සියලු තැනා
අදිනට උගුල් ලොව නෙක බන්ධන ද තනා
විඳිනට දෙවයි ගිනි ගුලි නැණ නොමැති දනා

එක ඉරියව්වකින් මොහොතයි ඉන්න හැකී
නෙක වේදනා ගෙන දෙයි කිසිවෙකුට හොකී
වක ගැහෙනා විටදි ගත රූ සපුව මැකී
දුක මිස සැපක් වෙද ආපසු බලනු සකී

දුක සැප නිති දෙවන මේ මනු ලොවෙහි තතු
සැක හැර බලන්නට බුදු බණ ඇසිය යුතු
රැක ගනු පිණිස තම වස්තුව නොකිය ගතු
නෙක රෝ දුක් ගෙනෙන ලොව අත හැරිය යුතු

පබැඳුම - නිහිඟු චන්දන සිරිවර්ධන



# පද නිරුක්ති සැඟව යෑමෙන් පසු වැසී ගිය සත්‍යය, යථාර්ථය නැවතත්

*(පසුගිය කලාපයෙන් - හෙළ අටුවාවෙන් පසු සැඟව ගිය දහම් අරුත් මතු කරන පද නිරුක්ති ක්‍රමය නැවතත්)*

බුද්ධ දේශනාවේ එන ජාති+අපි දුක්ඛා = ජාතිපි දුක්ඛා කියන දේශනා කොටසට පසු කාලීනව ජාතිය ද දුකයි කියල භාෂා නිරුක්තියක් දුන්නා. නමුත් මෙයින් ආර්ය අර්ථයට එන නිරුක්තිය වෙන්නේ අප්‍රිය ජාති දුකයි කියන එකයි. දැන් මේ කාරණය විග්‍රහ කරගත යුතුයි. ජාතිය ද දුකයි කිව්වම කවුරු හරි මෙහෙම අහනවා. ''දෙවියෝ, බ්‍රහ්මයෝ කියන්නේ ජාති නෙවෙයිද? රජවරු, සිටුවරු කියන්නේ ජාති නෙවෙයිද? එතකොට තරුණකම, නිරෝගිකම කියන්නේ ජාති නෙවෙයිද?'' දැන් මොකක්ද දෙන උත්තරය? මේ කියන ඒවත් ජාතිවලට අයිතියි. එහෙනම් ජාති නොවන දෙයක් මේ ලෝකෙ විද්‍යමාන වෙලා තියෙන ඒවායින් පෙන්වන්න පුළුවන්ද? එක්කෝ හිතේ හිත් ජාති, නැත්නම් බාහිර ලෝකයට අයිති ද්‍රව්‍ය වස්තු ආදියෙන් පෙන්වන ජාති. රූප ජාති, ශබ්ද ජාති, ගන්ධ ජාති, රස ජාති... ආදී මේ කියන ජාතිවලින් අහක් වෙච්ච ලෝකයක් නෑ. (සංːනිː(4), 57 පිටුව, <u>ජාති ධම්ම සූත්‍රය</u>) හැමතැනම ජාති. එතකොට මේ කියන **ජාති ඔක්කෝම දුක නම් මේ මිනිස්සු ජාතිවල සැරි සරයිද?** සියල්ල දුකයි කියල එක්තරා භික්ෂුවක් උත්තර දුන්නම බුදුන් වහන්සේ මෙහෙම අහනවා ''ඇයි මෝඩයෝ එහෙම කිව්වෙ? මේ සියල්ල දුක නම් ලෝක සත්වයා මේවා අල්ලගෙන සැරිසරනවද? කවුද උඹට එහෙම කියන්න කිව්වෙ? මම එහෙම දේශනා කළාද?'' මේ වගේ අදත් මේ පද නිරුක්ති නොදැනීමේ අඩුපාඩුව නිසා ධර්මය කොච්චර කටපාඩම් කරගෙන කියව කියවා හිටියත් කෙලෙස්වලින් මිදෙන්නෙ නෑ. ලෝකය නිස්සාරයි, වැඩක් නෑ කියල වැටහෙන්නෙ නෑ. බල්ලන්ට, උකුස්සන්ට අහුවෙච්ච මස් කැටි වාගෙ ලෝක සත්ත්වයා, අල්ලගෙන පොරකන්න දඟලනවා. මොකක් නිසාද? වටිනවයි කියන දෘෂ්ටිය නිසා. ඉතින් කොච්චර බණ කිව්වත් වටිනාකම නම් අඩුවෙලා නෑ.

ජාති+අපි දුක්ඛා = ජාතිපි දුක්ඛා කියන එකේ පද නිරුක්තිය පටලවාගෙන ජාතිය ද දුකයි කියල සිංහලෙන් අර්ථය දුන්නට පස්සෙ මේ වචනයෙන් විග්‍රහ කෙරෙන දහම් අර්ථය වැහිල ගියා. පුංචි වුණත්, ලොව නිස්සාරත්වය අවබෝධ



කරගෙන සසර කතරෙන් එතෙර වීමට මග පෙන්වන මේ දහම් වැකිය මේ විදිහට අර්ථ පටලවාගෙන විග්‍රහ කිරීම නිසා මහා වටිනා දහම් මාර්ගයක් වල්වැදිල ගියා. ඒ වල්වැදුණු මාර්ගය නැවත එළිපෙහෙළි කර ගැනීමයි අපට අවශ්‍ය වෙන්නේ. ඒක බොහොම ප්‍රවේසමෙන් ක්‍රමානුකූලව විග්‍රහ කරගත යුතුයි.

මේ ලෝකයේ ජාති නොවන දෙයක් නෑ කියල අපි කලින් විග්‍රහ කළා. එහෙනම් **තණ්හාව කියන්නෙත් ජාතියක්.** ඒ තණ්හාව කියන එකටත් රූප තණ්හා, ශබ්ද තණ්හා, ගන්ධ තණ්හා... ආදී ලෙස ආයතන හයෙන්ම ගන්නා තණ්හා අයිති වෙනවා. එතකොට ඒවත් දුකද? නෑ, ඒ දුකට හේතුව. ඒවා ප්‍රිය මනාප නිසයි ඒ පසුපස ගිහින් ලෝක සත්ත්වයා දුකට බැඳෙන්නෙ. **ඔක්කෝම දුක නම් ලෝක සත්ත්වයා ඒවා බදාගෙන අල්ල ගන්නවද?** දුකයි කියල දැනගෙනත් ඒක අල්ල ගන්න යන්නෙ මොන මෝඩයද? දුකට හේතුවකුත් තියෙනවා. එතකොට ඒ දුකට හේතුවත් දුකද? ''යං ලෝකේ පිය රූපං සාත රූපං එත්තේ සා තණ්හා උප්පජ්ජ මානා උප්පජ්ජති එත්ත නිවිසමානා නිවීසති'' **මේ ලෝකයේ යම් ප්‍රිය ස්වභාවයක්, මධුර ස්වභාවයක් ඇත්ද මේ තණ්හාව එහි උපදිනවා, එහි පවතිනවා. එහෙනම් මේ ලෝකයේ ප්‍රිය, මධුර ස්වභාවයක් නෑ කියල බුදුන් වහන්සේ දේශනා කළේ නෑ. ප්‍රිය, මධුර ස්වභාවයක් ඇති නිසාම ලෝක සත්ත්වයා** තණ්හාවෙන් එතැන බැඳෙනවා. ඒ නිසයි මේ ලෝකය අල්ලගෙන ආස්වාද හොය හොයා යන්නෙ. ඒ නිසා ආස්වාදය ආස්වාදය හැටියටත්, ආදීනවය ආදීනවය හැටියටත්, නිස්සරණය නිස්සරණය හැටියටත් දකින්න කියලයි බුදුන් වහන්සේ දේශනා කළේ.

මේ ලෝකයේ අංශු මාත්‍ර ආස්වාදයක් තියෙනවා, නැතුව නෙවෙයි. මේ ආස්වාදය නිසා ලෝක සත්ත්වයා ආදීනව බලන්නෙ නැතිව ආස්වාදය නමැති මායාවෙන් වැහිලා ආදීනවයට බැඳෙනවා. ඒකෙන් මහා දුකක් විඳිනවා. එහෙනම් ඒකෙ බැඳෙන්න තිබ්බච්ච ආස්වාදය තමයි දුකට හේතුව. ඒ දුකට හේතුව නිසා මනස වැහිල ගිහින් විඳින දුක් ගොඩ තමයි දුක. එහෙනම් **ජාතියද දුකයි කිව්වොත් එහෙම ඔක්කොම ජාති දුකද?** කෝ ධර්මයට ගැලපීම? දුකට හේතුවෙලා තියෙන ජාතිත් දුකද? එහෙනම් ජාතියද දුකයි කිව්වොත් එතකොට සම්පූර්ණ නෑ. නමුත් අද මොකද කියන්නේ, අර ප්‍රියයි මනාපයි කියන ඒවයි, අප්‍රියයි අමනාපයි කියන ඒවයි ඔක්කෝම දුකයි කියල නිගමනය කරනවා. දැන් මේ විදියට ලෝකයාට ධර්මය දේශනා කරන්න ☞

ගියාම මොකද වෙන්නේ? පෙනි පෙනී තියෙන ප්‍රියමනාපයත් දුකයි කියන මෝඩයා කව්ද කියල එදා හිටපු භික්ෂූන් වහන්සේ කෙනෙකුගෙන් අහපු මනුෂ්‍යයෙක් යන්න ගියා. ඊට පස්සෙ තමයි බුදුන් වහන්සේට ඒක ආරංචි වෙලා ඒ භික්ෂූන් වහන්සේගෙන් ඇහුවේ, ඇයි මෝඩයෝ එහෙම කිව්වෙ කියල. සියල්ල දුක නම් ලෝක සත්ත්වයා මේ සසර සැරිසරනවද කියල බුදුන් වහන්සේ ඒ භික්ෂූන් වහන්සේගෙන් විමසුවා.

එහෙනම් දැන් ජාතියද දුකයි කිව්වොත් මොකක්ද අපිට තේරෙන්නේ? මේ හැම ජාතියක්ම ජාති කියන එකට අයිති වෙන්නෙ නැද්ද? **හොඳ ජාති තියෙනවා, නරක ජාති තියෙනවා.** මේ හොඳ ජාතියි, නරක ජාතියි ඔක්කෝම පොදුවේ ජාති කියන එකට අහුවෙනවා. එහෙනම් ඔක්කොම දුකද? අපි හිතල බලන්න ඕන, ඒ ඔක්කොම දුකයි කිව්වොත් අපිට ඒක පිළිගන්න ක්‍රමයක් තියෙනවද, ඒක ඇත්ත කියල අනුමත කරන්න පුළුවන්ද, ඒක සත්‍යයක් කියල ගෝචර වෙනවද කියන කාරණා. එතකොට ප්‍රියයි, අප්‍රියයි කියල ජාති දෙකක් නැද්ද? **ප්‍රිය ජාති දුක නෑ, අප්‍රිය ජාති දුකයි.** ජාති අපි දුක්ඛා - ජාතිපි දුක්ඛා. අප්‍රිය ජාති දුකයි කියලයි මේ කියන්නේ. නමුත් ඒක ආස්වාදයකින් වැහිලා. එහෙනම් අප්‍රිය ජාති මොනවද? **සැපක් එනවා. ඒ සැප ගෙවෙනවට ප්‍රිය කරනවද? නෑ. ආස්වාදයක් දැනෙනවා. ඒක ගෙවිල යනවට කැමතිද? නෑ. එහෙනම් ප්‍රිය ජාතියක් හෝ අප්‍රිය ජාතියක් හෝ අපේ කැමැත්ත පරිදි සිදුවෙන්නෙ නැත්නම් ඒක ප්‍රියද අප්‍රියද? කැමති සේ පවතින්නෙ නැත්නම් ඒක අප්‍රියයි. අපි කැමති නැති දේවල් අපි කරා එනවා. අපි ඒකට ප්‍රිය කරනවද? නෑ. එහෙනම් කැමති දේවල් යනවා, අකමැති දේවල් එනවා. මෙච්චර කාලයක් අපේ ජීවිතයේ මේකම නේද සිද්ධ වෙලා තියෙන්නේ? එහෙම නොවුණ නම් අපිට කවදාවත් දුකක් එනවද? නෑ.** කැමති දේවල් අපි කරා එනවා. ඇවිදින් ඒව යනවා, ගෙවෙනවා. නමුත් අපි ඒකට කැමති නෑ. අප්‍රිය දේවල් අපි කරා එනවා. ඒකට කැමතිත් නෑ. නමුත් අපි කැමති නැති දෙයක්ම නේද සිද්ධවෙලා තියෙන්නේ? එහෙනම් මේ ප්‍රියයි, මනාපයි කියල ගන්න දෙයක් තියෙනව නම්, ඒවා යහපත් ඒවා කියල අපි නිගමනය කරනව නම්, ඒවා අපට දෙන්නෙ දුක නම්, සැප දෙන ආකාරයෙන් පෙනිල, ඒ සැප දෙන ආකාරයෙන් ආපු එක ගෙවිල ගිහින් අපේ බලාපොරොත්තු කඩකරනව නම්, අපේ බලාපොරොත්තු පරිදි ඒකෙ ආස්වාදය විඳින්න ඉඩ දෙන්නෙ නැත්නම්, ඒක නම් ධර්මතාව ඒක හොඳයිද? කල්පනා කරල බලන්න.

හැබැයි මේ කාරණා අබෞද්ධයන්ට දකින්න බෑ. මෙතන තියෙනවා බුදුන් වහන්සේ පෙන්වා දුන්න සැඟවිච්ච රහසක්. **ප්‍රියයි, මනාපයි, යහපතයි කියන ඒවාට ලෝක සත්ත්වයෝ ඇලෙනවා. මොකක් නිසාද ඒවා අපිව අමාරුවේ දාල ගෙවිල යන බව දන්නෙ නැති නිසා.** ඒ ප්‍රියයි, මනාපයි, යහපතයි කියල අපි කරා එන මොනවා හෝ වේවා ඒවා අපට සැනසිල්ල දෙන්න වගේ ඇවිත් අපේ බලාපොරොත්තු කඩකරලා මහා දුකක් දීල ගෙවිල යනවා. මේ කාරණා ටික දකින කෙනා දන්නවා මේ සැනසුමේ මුවාවෙන් අපි කරා ඇදිල එන්නෙ අපට වද දෙන, දුක් දෙන, අපිව මහා අසහනයට පත්කරවන, රිදවන ඒවා නේද කියල. **ආපු වෙලේ පටන් ඒ ලස්සනයි, ප්‍රියයි, මනාපයි, හොඳයි කියන ඒවා අපට නොයෙක් ආකාරයෙන් රිදවනවා. නමුත් මේ කාරණය අපි හිතල නෑ.** අපි ඒක නොසිතා මහා වටිනා දෙයක් අපට හම්බවුණා කියමින් උඩ පනිනවා. මම හරි ලස්සනයි කියල උඩ පනිනවා. නමුත් පවතින්න ආපු ලස්සනක් කාටවත් නෑ. වැහැරිලා වැනසිලා යනවා. මම හරි පොහොසතෙක් කියල උඩ පනිනවා. අන්තිමට දුප්පත් බවින් කෙළවර වෙනවා. මට මෙච්චර සම්පත් තියෙනවයි කියමින් උද්දාම වෙලා උඩ පනිනවා. හැබැයි බලා සිටිය දී ගෙවිල යනවා. ඒත් මේ එකකටවත් කැමති නෑ. නමුත් ඒකට උරුම ධර්මතාව මොකක්ද, **කොච්චර කැමති වුණත් අකමැති වුණත් කරන්න දෙයක් නෑ. අපේ බලාපොරොත්තු ඔක්කෝම කඩකරලා ඒ ප්‍රියමනාප දේවල් ගෙවිල යනවා. එහෙනම් මේ හේතුව නිසා ඔය ප්‍රියයි, මනාපයි කියන ඒවා අප්‍රිය ජාතීන්ගෙන්ම පිරිලා, අප්‍රිය ජාතීන්ගෙන්ම වටවෙලා. හොඳයි කියල යම් කිසි දෙයක් අල්ල ගත්තද, ඒක යම් තරමකට වටිනවයි කියල හිතින් දරා ගත්තද ඒක ගෙවෙනකොට, අපිට ඕන විදිහට නොපැවතී විනාශ වෙන කොට ඒ තරමට අපි දුක් වෙනවා, අඬනවා, වැලපෙනවා.**

උදාහරණයක් ගත්තොත් භාර්යාව ස්වාමිපුරුෂයා කෙරෙහිත්, ස්වාමි පුරුෂයා භාර්යාව කෙරෙහිත් විශාල ප්‍රියතාවක් දක්වලා අරගෙන කැන්දගෙන එනවා. මට රාජ කුමාරයෙක් හම්බවුණා කියල එක්කෙනෙක් සන්තෝස වෙනවා. මට රාජ කුමාරිකාවක් හම්බවුණා කියල අනෙකා සන්තෝස වෙනවා. මොකක්ද කැමැත්ත? ''මෙයා යන එන කරන කියන හැම මොහොතකම මා ඇසුරේම සිටිය යුතුයි. වෙන කිසි කෙනෙක් දෙස නොබැලිය යුතුයි. හම්බකරන ඒවා මටම ගෙනත් දිය යුතුයි. මම කියන දෙයම කළ යුතුයි. මට ලැබිච්ච වාසනාවෙන් මම බලාපොරොත්තු වෙන්නෙ ඕකයි''. භාර්යාවගෙන් හෝ ස්වාමිපුරුෂයාගෙන් හෝ මෙහෙම දේවල් තමයි බලාපොරොත්තු වෙන්නෙ. නමුත් හම්බවෙලා තියෙන්නෙ මොකක්ද? කැමති දේද? මා වසඟයේම සිටිය යුතුයි කිය කියා ඉන්නකොට කාගෙන් හෝ ආරංචියක් එනවා, ඔව් උඹ වසඟයේම තමයි අන්න අහවල් එකා ගෙට රිංගල එනවා මං ඇහැටම දැක්ක කියල. දැන් මොකක් කියයිද? බලාපොරොත්තු වුණේ මොකක්ද අන්තිමට ලැබුණෙ මොකක්ද? ''ඔව් උඹ ළඟින්ම තමයි ඉන්නේ, ඔය මිනිහා ගිහින් රිංගන තැන මම දැක්කා. හෙට අනිද්දාම උඹට දැන ගන්න හම්බවෙයි.'' දැන් මෙහෙම ආරංචියක් ආවොත් මොනවා කියයිද, කරයිද? හැබැයි තමන් ළඟ තියෙනවා අත පිහදාපු කොළ කෑල්ලක්. ඒක පැත්තකින් දාල තියෙනවා. එතකොට ඒක කවුරුහරි ඇවිදින් අරන් යනව දැක්ක කියල කවුරු හරි කිව්වොත් ඒකෙනුත් අර වගේ ප්‍රශ්නයක් දාහයක් ඇතිවෙනවද?

එහෙනම් අපට වැඩියෙන්ම ගිනි දුන්නේ අපි ආසා කරපු එකද, පැත්තකට දාල තිබ්බ්ච්ච් කොළ කෑල්ලද? අහක දාපු කොළ කෑල්ල කවුරු අරන් ගියත්, කවුරු අත පිහිදාල ගියත් අපට රිදෙනවද? **වටිනාකම හිතින් ගත්තෙ නැති දේ කැඩුණත් එකයි, බිඳුණත් එකයි, කවුරු හරි අරන් ගියත් එකයි, අපට රිදෙන්නෙ නෑ. නමුත් මේ ලෝකයේ ප්‍රිය ස්වභාවයෙන්, මධුර ස්වභාවයෙන් වටිනවයි කියල අල්ලාගත් භාර්යාව හෝ ස්වාමිපුරුෂයා අතරේ වෙනසක් වුණොත් ඒක අපිට රිදෙනවා.** අපිට අයිති නැති, අපි අල්ලගත්තෙ නැති, අල්ලපු වත්තේ කවුරුහරි කෙනෙක් හොරෙන් පොල් කඩාගෙන යනව අපි දකිනවා. දැන් අපිට රිදෙනවද? නෑ. නමුත් මගෙයි කියල අල්ලගත්, හරි ප්‍රියයි මනාපයි කියල හදාගත් තමන්ගෙ වත්තේ පොල් කඩාගෙන ගියොත් අපට රිදෙන්නෙ නැද්ද? එහෙනම් අපට වැඩියෙන්ම රිදවන්නෙ ප්‍රියයි, මනාපයි, යහපතයි කියල ආසාවෙන් අල්ලගත් ඒව ද නැතිනම් අපට වැඩක් නෑ කියල පැත්තකට දාල අපි අල්ලගත්තෙ නැති දේවල්ද? දුක කියන යමක් විද්‍යමාන වෙලා තියෙනවනම් ඒවාට අපි කැමතිත් නෑ, අල්ලගෙනත් නෑ. **එහෙනම් අපට වැඩිපුරම රිදවන්නේ කැමතියි කියල අල්ලගත්තෙ නැති දේවල් නෙවෙයි. අපි කැමති යමක් තියෙනවා නම් ඒකට පහර වදින කොටයි අපට දුක එන්නේ.**

දැන් සමහරු ඉන්නවා නිර්මල දහම් මග මතුවෙනවට කැමති නෑ. ඒකට පහර ගහනවා. මොකද තමන්ට ලැබෙන තාන්න මාන්න, ලාභ, කීර්ති, ප්‍රශංසා නැති වෙයි කියන බිය නිසා. ඒ නිසා ඒ අය නිවන් දකින මග, ලෝකය අතහරින මග මතුවෙනවට අකමැතියි. නමුත් කරන්න දෙයක් නෑ. කොච්චර

අකමැති වුණත් නිර්මල දහම මතුවෙන්න ඕන කාලෙට කොහෙන් හරි මතුවෙනවා, කාටවත් වළක්වන්න බෑ. එහෙනම් දුකට හේතු වුණේ මොකක්ද? කැමතියි, හොඳයි කියල අල්ලගන්න ගිය එකයි. නමුත් මේ කාරණය ලෝකෙට වැහිල ගිහින් ඒක දකින්නෙ නෑ. ප්‍රියයි, මනාපයි, යහපතයි කියල ලෝකයේ යම් ජාතියක් අල්ල ගත්තද ඒ අල්ලා ගැනීම නිසා අපි අප්‍රිය කරන, අමනාප කරන අකමැති දේවල් අපි කරා එනවා. නමුත් ඒකට අපි කැමති නෑ.

හැබැයි කවදාවත් ධර්මානුකූලව නොහිතන කෙනෙක්, හරි වටිනා දෙයක් මට හම්බවුණා, මේක නම් නරක නෑ, මේක දුකක් නෙවෙයි, මට දෙන්නේ සැප කියල මේ විදිහට හිතනවා. අපි හිතාගෙන ඉන්නේ මේ ප්‍රියමනාප ආස්වාද ගෙනත් දෙන දේවල් අපට යහපතක්ම කරල දෙයි කියල. නමුත් ඒ තුළ සැඟවිලා තියෙන මහත් ආදීනවයන් ගැන අපි හිතන්නෙ නෑ. **සුන්දර දේ හොඳයි කියල නිගමනය කරනවා මිසක් ඒ සුන්දර දේ තුළ සැඟවිලා තියෙන දුක් ගොඩ අපි දකින්නෙ නෑ.** මොකද හේතුව අර ප්‍රියමනාප ආස්වාද ස්වභාවයෙන් ඒ වටා තිබෙන්නා වූ මහා කුණු ගොඩ, මහා ආදීනවය, මහා දුක් ගොඩ වහල දමලා. මේ වහපු එක දකින්න කියලයි බුදුන් වහන්සේ දේශනා කළේ.

**සැප නමැති මායාවෙන් දුක වැහිලයි තියෙන්නේ. ඒ දුක අපි සිහි කරන්නෙ නෑ. සැප නමැති මායාවේ සැප ස්වභාවයම සිහි කරනවා. වටිනවයි කියන පැත්තම බලනවා. ඒ තුළ සැඟවිලා තියෙන දහසක් ආදීනවවලින් පිරිච්ච පොදියක් නේද මම මේ සැපයි කියල අල්ලගෙන තියෙන්නෙ කියල හිතන්න පුරුදු වෙලා නෑ.** මේ නිසා සසර කොච්චර කාලෙක ඉඳන් ආවත් බුදු දහම අහලා මේ සැඟවිච්ච කාරණය අල්ල ගන්නතුරු සත්‍යයට අනුව අපි හිතන්න දක්ෂ නෑ. මේ කාරණය වැහිච්ච දා පටන් දුකයි, දුකයි කිය කියා ඉන්නව මිසක් දුක්ඛ ආර්ය සත්‍යය හෙවත් ආර්යන් දකින්නා වූ දුක දකින්නෙ නෑ. මායා දර්ශනයකින් වහලා. ඒ මායා දර්ශනයට ප්‍රිය මධුර ස්වභාවයන් ගැබ් වෙලා. ඒ ප්‍රිය මධුර ස්වභාවය ගැබ් වෙලා තියෙන්නෙත් එක්තරා කුණු ගොඩක.

සුබ නැති ගොඩක මේ ශරීරයේ ලස්සන ගැබ් වෙලා. ලස්සන වෙලා පෙනුණෙ මොනවද? කෙස්, ලොම්, නියපොතු, දත්, සම කියන මේවා. ඉතින් කේසා, ලෝමා, නඛා, දන්තා, තචෝ කිය කියා අපි ඉන්නවා. මොකක්ද මේ කිව්වෙ කියලවත් බැලුවෙ නෑ. එහෙනම් අපි හරි ලස්සන කෙනා කියල රැවැට්ටුවේ කව්ද? මොනවද අපේ ඇහැට පෙනුණේ? ඔය කියපු පහ තමයි. ඔය ටික තුළ තිබිච්ච ඔප මට්ටමකින් තමයි මේවා ලස්සනයි, කැතයි, බලන්න ප්‍රියයි, අප්‍රියයි, කොච්චර බලා සිටියත් හරි සුවයි, මේක මට ලැබුණෙ නැත්නම් ඉඳලත් වැඩක් නෑ, වහ බොනවා ආදී වශයෙන් හොඳ හෝ නරක ලෙස නිගමනය කළේ. දැන් මතක් කරන කොට ගන්නෙ මොකක්ද? අර කෙස්, ලොම්, නිය, දත්, සම් කියන ඒවායේ ඔප මට්ටමක් හැදුණා අපිව රවටන්න. මේකට කිව්වා හරි ලස්සන කෙනා කියල. ඉතින් හරි ලස්සන කෙනා ලැබුණෙ නැත්නම් වහ බොනවයි කියනවා. එයාවම ඕනෙමයි කියනවා.

හොඳයි මෙහෙම කිය කියා ඉන්න වෙලාවක තරහකාරයෙක් ඇවිත් අර ලස්සනයි කියපු කෙනාට ඇසිඩ් පාරක් ගහනවා. දැන් මුහුණ වටේ තියෙන හංකඩේ ගියා. නමුත් කිරල බැලුවොත් අර කලින් තිබුණු ප්‍රමාණයෙන් මංචාඩියක් තරම් දෙයක්වත් බරින් අඩුවෙලා නෑ. හොඳයි දැන් අරන් පලයන් කිව්වොත් මොකක් කියයිද? මළ යක්ෂණියක් වගේ මට නම් දැන් මූණ බලන්නත් බෑ, මට එපා කියනවා. නමුත් අර දෙතිස් කුණප කොට්ඨාසය ලැබුණෙ නැත්නම් වහ බොනව කියලයි කලින් කිව්වෙ. ඔය කුණුගොඩ බාරගන්න නොලැබෙන නිසයි වහ බොන්න ලෑස්ති වුණේ. මුහුණෙ තිබිච්ච පොඩි ඔප මට්ටමකටයි මේ රැවටුණේ. බර බැලුවොත් ඔය ලස්සන කියන කොටස මංචාඩියක්වත් බරක් නෑ. අර කියපු කුණු ගොඩමයි, අර කියපු හංකඩේමයි ඔප මට්ටම් වෙලා තිබුණෙ. දැන් ඔප මට්ටම ඇරල දුන්නම මොකද කියන්නේ? කෝ අර කලින් තිබිච්ච වටිනාකම? වහ බොනවයි කියන්න තරම් බලවත් වුණේ මොකක්ද? අර කුණු ගොඩේ තිබිච්ච පුංචි ඔප මට්ටම.

එහෙම නම් මේ කියන සත්‍යය යථාර්ථය, ඔප මට්ටම කියන මායාවෙන් වහලා, ප්‍රිය මධුර ස්වභාවය ඇතිකරල භාරදුන්න කුණුගොඩට තමයි මේ පොරකන්නේ. අන්තිමට ඔප මට්ටමට රැවටිලා අල්ල ගත්තෙ කුණු ගොඩක්. එහෙනම් ඒ කුණුගොඩ අපට මොනවද දෙන්නේ? එතැන් පටන් ඒක නිසා හටගන්නා දුක දෙනවා. මොකක් නිසාද? ඔප මට්ටම ගෙවී යනවත් එක්කම රොඩු ගොඩ පේන්න තියෙනවා. කැන්දගෙන ඇවිල්ල අවුරුදු කීයද? කෝ අර කලින් තිබුණ ලස්සන? දැන් මොකද කරන්නේ? වෙන යුක්තියක්, ධර්මයක් බලාගෙන එක්කාවා නෙවෙයි ලස්සනටයි එක්කාවෙ. ලස්සන ගියාට පස්සෙ එක්කගෙන ආපු කාරණය ඉවරයි. (හැමෝම නෙමෙයි, ලෝකයේ පෘතජ්ජන පුද්ගලයින් අතර බොහෝ කොට දකින්න තියෙන කාරණයක් තමයි මේ කියන්නේ) දැන් කල්පනා කරල බලන්න ''ජාතිපි දුක්ඛා'' කියන එකේ අර්ථය කොච්චර නම් පටලවාගෙන තිබුණද කියල.

සමහර අය ලස්සන ගියාට පස්සේ, එහෙමත් නැතිනම් තමන් වසඟයේ පවත්වා ගන්න බැරි වෙන කොට පන්න ගන්න එක තමයි ඊළඟට කරන්නෙ. එහෙම නැත්නම් දැන් පරිහරණයට ගන්නෙ නෑ. දැන් තවත් ඔප මට්ටමක් හොයාගෙන වෙන කොහේ හරි දුවනවා. දැන් එතනත් ඔප මට්ටමක් ලැබුණොත් නැවතත් අර කලින් ඔප මට්ටම තිබූ කෙනා පස්සෙ යනවද? නෑ. හැබැයි අර ඔප මට්ටමට රැවටිලා ඉන්න වෙලාවෙ ඕනම නීතියකට රීතියකට යටත් වෙනවා. එක්කගෙන එනකොට කිව්වේ මුළු ජීවිත කාලයම ඕනෑම බැල මෙහෙවරක් කරන්න ලෑස්තියි, මගේ වසඟයේ මගේම වස්තුවක් බවට පත් වෙන්න ඕන කියලයි. මෙහෙම කතා වෙලා දෙන්නා එකතු වුණාට පස්සෙ මොකද වෙන්නේ? ඔපට්ටම ගෙවිල යනවා. ඒක තමයි කුණු ගොඩ වටා තිබුණු මායාව. දැන් කුණු ගොඩ දරන්න සිද්ධ වෙනවා. මේ තමයි ඒ තුළ සැඟවිලා තිබුණු දුක් ගොඩ. **එහෙනම් මේ සැපයි කියන මායාවෙන් වහල තියෙන සැඟවෙච්ච දුක අපි දකින්න ඕන.** ඒක දැක ගන්න කොට බුදුන් වහන්සේ දේශනා කරපු අප්‍රිය ජාති තිබිච්ච තැන දකිනවා. **අප්‍රිය ජාති ප්‍රිය භාවයකින් වහලා. මේ දහසක් අප්‍රිය දේවල් ප්‍රිය මාත්‍රයකින් වහලයි තියෙන්නෙ. මේ අප්‍රිය ජාති දුක වුණත් අපට ඒ දුක පේන්නෙ නෑ. ඒ ප්‍රිය මධුර ස්වභාවයෙන් වහල තියෙන නිසයි.** නමුත් දැනට අපි දුක දකිනවයි කියල මොකක්ද හොයන්නෙ? අර වහල තියෙන දුක නෙවෙයි මේ දකින්නේ. ඒක පවත්වා ගන්න බැරි අසහනයටයි මේ දුක කිය කියා ඉන්නෙ. ඒක නැතිවෙලා ගියාම, ''හරි වැඩේනෙ ඇලෙන්න විදිහක් නෑනේ!'' මෙහෙම කිය කිය අර ප්‍රිය, මධුර ස්වභාවයෙන් වෙනස් වෙන්නෙ නැති ස්වභාවයක් තියෙනව නම් ඒක සැපයි කියන දෘෂ්ටියේ ඉන්නවා.

**නමුත් ලෝකයේ ප්‍රිය මධුර ස්වභාවයක් කාටවත් ලබා දෙන්න පහළවෙලා නෑ, රවට්ටන්න පහළවෙලා තියෙනවා මිසක්.** මේකට කියනවා මාර උගුල, මාර පාසය, මාරයාගේ ආහාරය කියල. මරණය කරා ගෙනියන, මැරෙන දේවල්වලට ඇද දමන, දුක් විඳින දේවල්වලට ඇද දමන මාරයාගේ පාසයක් තියෙනවා. ඒක මායාවක්. **මේ ප්‍රිය මධුර ස්වභාවයට රැවටෙන ලෝක සත්වයා ඒ ප්‍රිය මධුර ස්වභාවය අල්ල ගන්න දහසක් ආදීනවයන්ගෙන් පිරිච්ච කුණු ගොඩක් පස්සෙ යනවා. මේ තමයි ලෝක සත්වයා නොදකින පැත්ත.**

එහෙනම් මේ සැප සංඥාවෙන් මෙච්චරකල් අරන් තියෙන්නේ උගුලක් නම්, දැන් ඇත්ත දැක්කට පස්සෙ උගුල සැපයි කියල නිගමනය කරනවද? දැන් උගුල උගුලක් හැටියට සලකනව

මිසක් අපට යහපතක් කරල දෙනව කියල පිළිගන්නෙ නෑ. කලින් නම් උගුල උගුලක් හැටියට දක්කෙ නැති නිසා උගුලට අහුවෙලා සන්තෝස වුණා. ඇත්ත දක්කට පස්සෙ උගුලට අහු වුණොත් මහා විනාශයක් කියල දන් ඒ කෙරෙහි දුකක් දකිනවා. එහෙනම් **ලෝකයේ ප්‍රිය මධුර ස්වභාවයක් ඇන්ද ඒක උගුලක් කියල දක්ක දාට උගුලට අහුවෙන්න කැමති නෑ. එදාට උගුලේ වටිනාකම බැහැල යනවා.** මේක දැන ගත්තම, අප්‍රිය ජාති ප්‍රිය මායාවකින් වහලා, ඒ අප්‍රිය ජාති ප්‍රියයි කියන මායාවකින් අපිව රවටන බව තේරුම් ගන්නවා. එහෙනම් ලෝක සත්ත්වයා ප්‍රිය ජාති කියල පිළිඅරගෙන තියෙන්නෙ අර මායාවෙන් වහල තියෙන අප්‍රිය ජාති දහස් ගණන් පොදියකට. ඔය අප්‍රිය ජාති පොදිය, ප්‍රිය ජාතියක් හැටියට අපිව රවටල තියෙනවා. මෙන්න මේ නිසා **ලෝක සත්වයා ඒ ප්‍රිය ජාති කියල රැවටිච්ච දේවල් අල්ල ගන්න ගිහින් ඒක වරදින කොට ඇතිවන දුකට, දුකයි කියල හිතාගෙන ඉන්නවා.**

එහෙනම් ආර්යයෝ දකින දුක මොකක්ද? (සං:නි:(4) දුක්ඛ සමුදය සූත්‍රය, ලෝක සමුදය සූත්‍රය...) ඔය මායාවෙන් වහල තියෙන පොදියම අප්‍රිය ජාති පොදියක්. ඔය පෙනුම, ඔප මට්ටම, ලස්සන මායාවක්, උගුලක් මිසක් අපට සැනසුම ගෙනත් දෙන්න ආපු එකක් නෙවෙයි. මේ උගුලට අහුවෙන අපට සිද්ධ වෙනවා අනන්ත දුක් විඳගෙන, වෙහෙස විඳගෙන, අඬ අඬා, දුක් වෙවී, හැපි හැපී තව තවත් ඒවා පස්සෙ යන්න. මේ කාරණය දක්කට පස්සෙ කවදාවත් උගුල ප්‍රිය මනාප වශයෙන් ගන්න කැමති නෑ. මොකක්ද උගුල? ඇසට **පෙනෙන ලස්සනට බැඳීම කියන උගුල, කනට ඇහෙන මිහිරි නාදයට බැඳීම කියන උගුල, නාසයට දැනෙන හරි සුවඳයි කියන දේට බැඳීමේ උගුල, දිවට දැනෙන රසයට බැඳීමේ උගුල, කයට ස්පර්ශයෙන් බැඳීම කියන උගුල.** මේ උගුල් පහට හසුවීමෙන් නිර්මාණය වන ආස්වාදය නමැති උගුල. (මේ උගුල් පහ නිසා මනායතනය නමැති හය වන උගුලට අහුවෙනවා.) පංචකාමය නමැති උගුල් පහයි ඒ. මේක තමයි මාරයාගේ ආහාරය. ඒකෙන් තමයි මාරයා ලෝකයට බැඳ ගන්නේ. මරණය කරා ගෙනියන පැත්තට බැඳ ගන්නවාට මාරයා බැඳ ගන්නවා කියල කියනවා. වසවර්තී කියන මාරයා නෙවෙයි මේ කියන්නේ. එයත් මාර උගුලට අහුවෙච්ච කෙනෙක්. යමක් මරණය කරා යන්නේද, මරණයට පත් කරවන්නේ ද, මරණයට පත්වෙන දෙයක් කරා බඳින විට, ඒ තුළ පවත්වන විට, මැරෙන ඒවා තුළ අපි පවත්වනවා නම්, ඒක උගුලකිනුයි බැඳල තියෙන්නේ. ඒකට බැඳුනාම මාර උගුල කියනවා. ඒක මරණයට පත් කරවන දේවල් අල්ලන වැඩපිළිවෙළක්. මරණයට පත් නොවන ලෝකයක් නෑ. ඒක හොඳයි කිව්ව නම් මරණය කියන මාරයාට අයිති දේවල් හොඳයි කියල කිව්ව වෙනවා. හැබැයි මෙතන දී වසවර්තී මාරයා කියල ගත්තොත් වැරදියි. වසවර්තී කියන්නේ දේව පුත්‍රයෙක්. ඒ දේව පුත්‍රයත් ප්‍රියයි මනාපයි කියන ඒවාට බැඳිලා ඔය කියන මාර උගුලට අහුවෙච්ච කෙනෙක්. එයාටත් මාරයාගෙන් බේරිල්ලක් නෑ, කවදා හරි මැරෙන්න වෙනවා.



එහෙනම් අපි කවුරුත් අහුවෙලා **ඉන්න ලොකුම මාරයා තමයි මරණයට පත් වෙන දේවල්වලට ඇලුම් කරමින් බැඳීම.** මේ නිසා මාර දිව්‍ය පුත්‍රයාටත් ඒ භවයේ ඉඳගෙන නිවන් දකින්න බෑ. අපේ මුගලන් මහරහතන් වහන්සේත් දූසී කියන මාරයෙක් වෙලා පෙර ආත්ම භවයක හිටියා. වසවර්තී මාරයාට පෙර ඒ තානාන්තරය හොබවපු කෙනා තමයි දූසී මාර පුත්‍රයා.

ප්‍රියයි මනාපයි කියන දේවල්, මේ කියන අපි හැමෝම සාරයි කියල ගත්තා. මේ සාරයි කියන්නේ මාර උගුලකට රැවටෙන මායාවක් බව දක්කෙ නැත්නම්, අපි නිගමනය කරනවා, අපේ දෘෂ්ටියකින් ලෝකෙ තියෙන මේ ප්‍රියයි මනාපයි කියන ඒවා ඇත්තටම සාරයි කියල. සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු කියන මේ ඔක්කෝටම කියන එක නමක් තමයි ''සං'' කියන්නේ. මේ වචනයෙන් පෙන්වන්නේ සුවය සඳහා එකතු කරගත් දේවල්. සුව විඳින බලාපොරොත්තුවෙන් රැවටිලා යමක් එකතු කර ගන්නවද, ඒවා ඔක්කොම 'සං'. හැබැයි මේවා හම්බවෙලා ටික දවසක් යන කොට බලාපොරොත්තු කඩවෙලා ගිහින් අර 'සං' කියන ඒවා අපිව දුකට පත් කරවනවා. නමුත් ඇත්ත පේන්නෙ නැති නිසා මේ 'සං' කියන එකතුව සාරයි කියන නිගමනයට බහිනවා. එතකොට තමයි සංසාරයට වැටෙන්නේ. මේවා මාර උගුල් කියල පේන්නෙ නැති නිසා, උගුලකට කොටු කරවන, මහා දුකකට කොටු කරවන මායා උගුල් බව දන්නෙ නැති නිසා මේ ප්‍රිය මධුර ස්වභාවයන්ට රැවටිලා සාරයි කියන දෘෂ්ටි ස්වභාවයෙන් ඒවා බදා ගන්නවා. මේ දෘෂ්ටියෙන් යම් තාක් ඒවා පස්සෙ ගමන් කරනවද, ඒකට කියනවා සංසාර ගමන කියල.

එහෙනම් අපි සංසාරය දුකක් වෙන හැටි දකින්න ඕන. එතකොට අපිට ඕන වෙනවා සංසාරෙන් මිදෙන්න. 'සං'' කියන මේ එකතුව සාරයි කියල අල්ලාගත් මේ අවිද්‍යාවෙන් මිදුනාම සංසාර දුකෙන් මිදෙනවා. ප්‍රිය මධුර ස්වභාවයෙන් වහල තියෙන මේ කුණු ගොඩ මාර උගුලකින් වහලා අපිව කොටු කරන්න තියෙන දලක් වගේ දක්ක දාට, මේ ප්‍රිය මනාප කියන්නේ ලස්සනයි කියල අල්ල ගන්න වටිනා දෙයක් නෙවෙයි, අපිව කොටු කරන උගුලක් කියල දකිනවා. ඊට පස්සෙ ඔය උගුලට රැවටෙන්නෙ නෑ. ඒක උගුලක් බව දක්කා. එහෙනම් සාරයි කියන දෘෂ්ටියට ආයෙත් අහුවෙන්නෙ නෑ.

දැන් මේ විදිහට ජරාපි දුක්ඛා, ව්‍යාධිපි දුක්ඛා, මරණංපි දුක්ඛා කියන ඒවත් තෝරාගත යුතුයි. හැබැයි පද නිරුක්තිය අරගෙන වචනය තෝරා ගත්තමයි හරියට අර්ථය එන්නේ. මේවත් අද අර්ථ දැක්වන්නේ ජාතිය ද දුකයි කියල විග්‍රහ කළා වගේ ජරාව ද දුකයි, ව්‍යාධිය ද දුකයි, මරණය ද දුකයි ආදී වශයෙන්. දැන් මෙතනදීත් **ජරාව ද දුකයි කිව්වොත් හැම ජරාවක්ම දුකද?**

අපිව මහා පීඩාවට පත් කරන මහා ගඳ ගස්සවන කුණු ගොඩක් අපේ ගෙදර ළඟ තියෙනවා. දැන් ඒක ☞

ජරාවට ගිහින් දිරල ගියොත් ඒක දුකද? නෑ, ඒක අපිට සතුටුයි. එහෙනම් ජරාව ද දුකයි කිව්වොත් දහමට ගැළපෙනවද? ජරා + අපි දුක්ඛා = ජරාපි දුක්ඛා. **අපි අප්‍රිය කරන විදිහට යමක් ජරාවට පත් වුණොත්, එහෙම නැත්නම් අපි ප්‍රිය කරන දෙයක් ජරාවට පත් වුණොත් තමයි අපිට දුක එන්නේ.** අපේ ගෙදර තියෙන වටිනා ගෘහ භාණ්ඩයක් දිරල ගිහින් ජරාවට පත් වුණොත් එහෙම වෙනවට අපි අප්‍රිය කරනවා. ඒ කියන්නේ අපට ප්‍රියමනාප දෙයක් ජරාවට පත් වෙන එක අපට අප්‍රියයි. ඒකට කැමති නෑ. ඉතින් දුක එනවා.

ඒ වගේම තමයි ව්‍යාධිපි දුක්ඛා කිව්වමත් **ඔක්කොම ව්‍යාධි නෙවෙයි අපට දුක ගෙනත් දෙන්නේ. අප්‍රිය ව්‍යාධියක් ඇති වුණොත් ඒක තමයි දුක් දෙන්නේ.** ව්‍යාධිය කිව්වම ලෙඩ රෝග හැදිල වැහැරීම අයිති වෙනවා. තමන්ට හෝ තමන්ගේ ප්‍රිය මනාප හිතවතෙකුට ලෙඩක් හැදුණම ඒක අපට අප්‍රියයි. ඒකට කැමති නෑ. ඉතින් දුක එනවා. හැබැයි ඔය අතරේ ඉන්නවා අපට වින කරන අපේ සතුරෙක්. අපේ බලාපොරොත්තුව මොකක්ද, අනේ ඕකට අහවල් ලෙඩේවත් හැදිල එක තැන් වෙනව නම්... කියන එකයි. මෙහෙම හිත හිතා ඉන්න කොට ආරංචි වෙනවා ඔහුට පිළිකාවක් හැදිල කියල. දැන් අපි දුක් වෙනවද? නෑ. දැන් උඩ පනිනවා අනේ යසයි කියල. මේ තමයි පෘථජ්ජන ස්වභාවය. එහෙනම් **අපි ප්‍රිය කරන ව්‍යාධීන්ට අපි කැමතියි. එතකොට ඒක දුක නෑ. නමුත් අපි අප්‍රිය කරන ව්‍යාධියක් හැදුණොත් අපි ඒකට අකමැතියි. අපිට දුක එනවා.**

ඊළඟට මරණං + අපි - මරණංපි දුක්ඛා කියන එක මරණය ද දුකයි කියලයි අද විග්‍රහ කරන්නේ. නමුත් හැම **මරණයක්ම අපිට දුක ගෙනත් දෙනවද? නෑ. අප්‍රිය මරණ දුකයි. හැබැයි ප්‍රිය මරණත් තියෙනවා.** උදාහරණ විදිහට රටටම එපා කරපු මහා මිනීමරු පිළිලයක් වගේ පුද්ගලයො ඉන්නවා. මිනිස්සු බලාගෙන ඉන්නවා මේ වගේ එවුන් මැරිල යන්නෙවත් නෑ කියල. දැන් ඒ වගේ කෙනෙක් මැරුණොත් අපට දුකද? අප්‍රියද? නෑ, ඒක ප්‍රියයි. එහෙනම් මරණය ද දුකයි කියල කිව්වොත් කෝ ධර්මයට ගැළපීම?

දැන් මේ කියන කාරණා ටික ඔප්පු වෙන තැනක් තමයි ''අප්පියෙහි සම්පයෝගෝ දුක්ඛෝ - පියෙහි විප්පයෝගෝ දුක්ඛෝ'' කියන තැන. **අප්‍රිය දේවල් සමග එකතු වීම දුකයි, ප්‍රිය දේවල්වලින් වෙන්වීම දුකයි කියලයි** මේකෙන් කියන්නේ. ජාතිපි දුක්ඛාවලින් පටන් අරගෙන මේ කාරණය අවසානයේ හොඳින් පෙන්වා තියෙනවා. ජාති, ජරා, ව්‍යාධි, මරණ... ආදී මේ කියන ඒවායින් අප්‍රිය දේවල් අරගෙන ඒවත් එක්ක එකතු වීම දුකයි කියල පෙන්වනවා. ලෝකයේ තියෙන ප්‍රිය අප්‍රිය දේවල් දුකක් වන ක්‍රමය තමයි මේ පෙන්වල තියෙන්නේ. අන්තිමට පෙන්වනවා ''යම් පිච්ඡං නලබති තම්පි දුක්ඛං'' කියල.

මේ කාරණයත් පද නිරුක්තියෙන්ම තෝරාගත යුතුයි. යම් ප්‍රිය මනාප දෙයක් කැමති විදිහට ලැබෙන්නෙ නැත්නම් ඒක දුකයි කියලයි මේ පෙන්වන්නේ. අර කියපු දුක් කරුණු ඔක්කෝම කැටි කරලයි මේ විග්‍රහ කරල තියෙන්නේ. (මේ පිළිබඳව මජ්ඣිඃ(3) හි එන <u>සච්ච විභංග සූත්‍රයේ</u> විස්තර කරල තියෙනවා) දැන් මේ කියන කාරණාවන් අපට නැහැයි කියන්න බෑ. අපි කාටත් මේ වගේ දේවල්වලින් අත්දැකීම් තියෙනවා. **අපි කැමති විදිහට පවතිනවා නම්, ලැබෙනවා නම් එතන දුකක් නෑ. එසේ නොවන විටයි දුක එන්නේ.** මජ්ඣිඃ (2) 530 පිටුවේ එන <u>ප්‍රිය ජාතික සූත්‍රයෙන්</u> ප්‍රිය ජාති අපට දුක ගෙනත් දෙන හැටිත් පෙන්වා තියෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුමින් නිවන සොයා....

**දහමෙහි ගැඹුරු තැන් සැදැහෙන් විමසීම**
**නිවනෙහි සුවය ලැබ මෙලොවදී සැනසීම**
**අප සිහි කළොත් අනුපිළිවෙල දහමේම**
**නැත එහි සැකක් නිවැරදි වේ වැටහීම**

**ගත් දෙය සියලු අතහැර යන බව දනිමි**
**මෙත් සිත පතළ සත හට නිසි මග කියමි**
**උත්තම කෙනෙකු ලෙස සසරින් එතර වෙමි**
**වත්කම දැනුම සදහම් මග පිළිපදිමි**

**පෙළ බස හෙළ බසද පදරුත් හැඳින ගෙන**
**පැණ ඇස යොමා සිව්සස් ගුණ සුවඳ දැන**
**අදහස තිබේ නම් සසරින් එතර වන**
**නිදහස මෙයයි හෙළ බොදු පියුමින් සදන**

**නැහැ සැක ගියොත් මේ මග බොදු මගය කියා**
**කිව හැක පැහැදිලිව බුදුහිමි දෙසුව නියා**
**දවසක නුදුරු කරුණා මෙත් ඇතිව දයා**
**ජය සක පිඹින ලෙස පිබිදෙමු නිවන සොයා**

**ශාස්ත්‍රපති ඩබ්. ඒ. ජයවර්ධන - වහරක**

## නිවැරදි කිරීමයි

හෙළ බොදු පියුම පසුගිය 11 වන කලාපයේ දෙවන පිටුවේ තුන් වන තීරුවේ පල වූ ''කෝලිත පරිබ්‍රාජක ලෙස ඒ කාලයේ වැඩ හිටපු සැරියුත් මහරහතන් වහන්සේට'' යන්නෙහිත්, ''කෝලිත පරිබ්‍රාජකතුමා සෝවාන් වුනා'' යන්නෙහිත්, ''අස්සජි මහරහතන් වහන්සේගෙන් බණ අහන්න ගිය කෝලිත පරිබ්‍රාජකතුමාට'' යන්නෙහිත් ''කෝලිත පරිබ්‍රාජක'' යන්න උපතිස්ස පරිබ්‍රාජක ලෙසත්, ''තම මිතුරු උපතිස්ස පරිබ්‍රාජකතුමාට'' යන්න තම මිතුරු කෝලිත පරිබ්‍රාජකතුමාට ලෙසත් නිවැරදි විය යුතු බව කරුණාවෙන් සලකන්න.

## ආදී බ්‍රහ්ම කල්පික මනුෂ්‍යයාගේ සිට අවිද්‍යා තණ්හා මුල් වී ගොඩනැගූ ශක්තියෙන්

# බාහිර ලෝකය නිර්මාණය වූ හැටි

**ලෝක** ආරම්භයේදී ආභස්සර බ්‍රහ්ම ලෝකයෙන් පහළ වූ බ්‍රහ්ම කායික මනුෂ්‍යයන්ට ආහාර වුනේ, දස අකුසලයෙන් වෙන්වෙලා සීලවන්තව, ගුණවන්තව හිටපු චිත්ත ප්‍රසාදයයි. ඒ අය ප්‍රීතිය ආහාර කොටගෙන, ස්වයං ප්‍රභා ආලෝකයෙන් ජීවත් වුනා. ඒ වෙනකොට අව්-වැසි, ඉර-හඳ, ගංගා ආදී කිසිවක් තිබුණෙ නෑ. ඔවුන්ට අවශ්‍ය දේ ඉටුකරගත හැකි පුණ්‍ය සෘද්ධීන් තිබුණා. නමුත් බොහෝ කාලයක් ගතවෙන කොට, බ්‍රහ්ම ආයුෂ පිරිහිලා යන කොට බ්‍රහ්ම තත්ත්වයට පත්වීමට පෙර, කෙලෙස් ප්‍රහීණ කර නොතිබූ නිසා අනන්ත සසර ගමනේ, පෙර ඇසුරු කරපු ගංගා, ඇල, දොල, වැව්, පොකුණු, මල්වතු, උයන්වතු ආදී සුන්දර ලෝකයක් (ඒ ලෝකය සුන්දරයි කියල හිතන්නේ අවිද්‍යාව දුරු කරල නැති නිසා) සිහින ආකාරයෙන් දකින්න පටන් ගන්නවා. එබඳු සුන්දර ලෝකය සිහිනෙන් අවදිවෙන කොට නෑ. **අද මනුස්සයන් සිහින දකින විදිහට ඒ කාලයේ බ්‍රහ්ම කල්පික මනුස්සයන් දැක්කේ සමාධි දර්ශනයක්.** එතකොට "එබඳු සුන්දර ලෝකයක ජීවත් වෙන්න ඇත්නම්..." කියන මානසිකත්වයක්, බලාපොරොත්තුවක් හට ගන්නවා. මේ විදිහට අවිද්‍යා ප්‍රත්‍යයෙන් තණ්හා සහගත චිත්ත සංඛාරයක් ගොඩනැගීම හේතුවෙන් එබඳු සුන්දර ලෝකයක් සකස් කර දීම සඳහා නානාක්ෂණික (නොයෙක් නොයෙක් අවස්ථාවල) කර්ම ශක්තිය නම් වූ ශක්තියක් ගොඩනැගෙනවා.

ආස්වාදයක් විඳින්න නම්, අභ්‍යන්තර ලෝකය හා බාහිර රූපාදී අරමුණු ලබාගත හැකි බාහිර ලෝකයක් උවමනායි. ඒ සඳහා නාම-රූප සකස් කිරීමට මේ නානාක්ෂණික කර්ම ශක්තිය දෙකට බෙදී, අභ්‍යන්තර හා බාහිර ආයතන වශයෙන් ආයතන සකස් වෙනවා. අභ්‍යන්තර චක්ඛායතන, සෝතායතන, ඝානායතන, ජිව්හායතන, කායායතන, මනායතන කියන නාම-රූප සකස් වෙනවා. බාහිර වශයෙන් රූපායතන, ශබ්දයතන, ගන්ධායතන, රසායතන, පොට්ඨබ්බායතන, ධර්මායතන කියන නාම-රූප සකස් වෙනවා. දැන් ප්‍රශ්නයක් ඇති වෙනවා, බ්‍රහ්මකායික මනුෂ්‍යයන්ට ඇස, කන, නාසය, දිව, කය, මන තිබුණේ නැද්ද, ඔවුන් සිහින ආකාරයෙන් සුන්දර ලෝකයක් දැක්කෙ කොහොමද කියල. ඔවුන්ට බ්‍රහ්ම කායික ස්වභාවයේ ඇස, කන, නාසය... ආදිය තිබුණා. නමුත් ඔවුන් ඒවා ආයතන කරගෙන තිබුණෙ නෑ. **බ්‍රහ්ම කායික මනුස්සයන් කියන්නේ ප්‍රථමධ්‍යාන බ්‍රහ්මත්වයෙන් චුත වෙලා බ්‍රහ්ම ස්වභාව ඇති ස්වයං ප්‍රභා ආලෝකයෙන් ආකාශචාරීව ජීවත් වූ මිනිස් පටිසන්ධි ලැබූ පිරිසක්.** ගන්ධ, රස, ස්පර්ශ යන ප්‍රසාද රූප



තිබුණත් ඒවා ක්‍රියාත්මක වුනේ පසු කාලයකයි. මොවුන්ගේ කෙලෙස් අනුශය තිබුණට යටපත් වෙලයි තිබුණේ. ආයතනවලින් කරන්නේ යම් යම් දේ රැස් කරන එක, ඒ රැස්කරන ලද දේවල් පිළිබඳව කටයුතු කරන එක. ඇස තිබුණට, රූප දැක්කට ඇස චක්ඛායතනයක් වෙන්නෙ නෑ. ඵස්ස පච්චයා වේදනා කියන පටිච්ච සමුප්පාද ක්‍රියාවලිය ක්‍රියාත්මක කළොත්, ඇසෙන් ස්පර්ශ වන රූපය කෙරෙහි මතු බලාපොරොත්තුවක් ඇතිකර ගත්තොත් තමයි, ඒ රූපය කෙරෙහි ක්‍රියාත්මක වීමක් අවශ්‍ය වෙන්නේ. එතකොට ඇස චක්ඛායතනයක් වෙනවා. ස්පර්ශ වූ රූපය කෙරෙහි මතු බලාපොරොත්තුවක් ඇතිකර නොගත්තා නම්, ඇස සතර මහා ධාතුන්ගෙන් සකස් වුන, දිරාපත් වෙලා වැනසිලා යන සංඛතයක් පමණයි. එයින් සැප විපාක හෝ දුක් විපාක ජනිත කරන කර්ම ශක්ති උද කරන්නෙ නෑ.

දැන් බාහිර නාම-රූප සමග අභ්‍යන්තර නාම-රූප ස්පර්ශ වීමෙන් රැස්කරගන්නා අරමුණුවලින් ආස්වාදයක් විඳින්න නම්, ඒ අරමුණු ගලපා සකස්කර දෙන මනායතනයක් අවශ්‍ය වෙනවා. නැත්නම් වේගයෙන් බිඳි බිඳී සකස් වෙන, ඇස හා වේගයෙන් බිඳි බිඳී සකස් වෙන රූප ස්පර්ශ වන ක්ෂණික ස්පර්ශ මාත්‍රයන් රැහැනක් පමණයි ඇති වෙන්නේ. මේ ස්පර්ශ මාත්‍ර රැහැන ගලපා සකස් කර හඳුන්වා දීම සඳහා මනායතන සකස් වෙනවා. මෙතනදී අපි හොඳින් තේරුම් ගත යුතුයි, අවිද්‍යාවත් තණ්හාවත් හේතුවෙන් ගොඩනැගුණු ලෝකයේ ආස්වාදය හඳුන්වා දෙන්න ගොඩනැගුණු තවත් උපකරණයක් පමණයි මනස කියන්නෙ කියන කාරණය. උදාහරණයකින් කියනව නම් "අම්මා" කියන ශබ්දයේදී 'අ' ශබ්දය සෝතායතනයේ ස්පර්ශ වෙන කොටම ඒක අතීතයට යනවා. (අතීත නාම-ගෝත්‍රයක්) 'ම්' ශබ්දය සෝතායතනයේ ස්පර්ශ වෙන කොටම ඒකත් අතීතයට යනවා. 'මා' ශබ්දයත් ස්පර්ශ වෙන කොටම අතීතයට යනවා. දැන් මේ අතීත නාම-ගෝත්‍ර රැහැන මනසින් සකස් කර "අම්මා" කියන හඬක් බව සංඥා කරනවා. මේ ශබ්ද තුනම තුන් දෙනෙක් එකවර ශබ්ද කළොත් "අම්මා" කියන හඬක් ඇහෙන්නෙ නෑ. නොපැහැදිලි ශබ්ද ගොඩක් පමණයි ඇහෙන්නෙ.

ආස්වාද විඳින බලාපොරොත්තුව වැඩි වෙච්ච තරමට ඉන්ද්‍රිය හයම ආයතන ලෙස ක්‍රියාත්මක වෙනවා. බ්‍රහ්ම කල්පික මනුස්සයාටත් ආයතන හැදෙන්නේ මෙහෙමයි. **පළමුව ස්වයං ප්‍රභා ආලෝකයෙන් ආකාශචාරීව බ්‍රහ්ම ස්වභාවයෙන් කල් ගෙවන බ්‍රහ්ම කල්පීය මනුස්සයාගේ ආසාව වර්ධනය වන විදිහට මිනිස් භූමිය ජල ගෝලයක් ලෙස**

සකස් වෙලා ඒ මත ඉතා සුවඳවත්ව, රසවත්ව කිරි යොදයක් වගේ භූමි පටලයක් ආහාරය ලෙස හැදෙනවා. සුවඳට ගිජු වෙලා පොළොවට ළං වන ඒ මනුස්සයන් රස පොළොව ලෙව කා බලා ආහාර රසයෙන් මත් වෙලා බුදින්න පටන් ගන්නවා. රසාස්වාදයට හිත බලවත් වෙන කොට ඒ ආහාරය අතුරුදන් වෙලා එබඳුම රස, සුවඳ ඇති හතු වැනි ආහාරයක් පහළ වෙනවා. තව කල් යනකොට ඒකත් අතුරුදන් වෙලා බදාලතා නම් ස්වයංජාත වැල් වර්ගයක් එබඳුම රසින්, සුවඳින් පහළ වෙනවා. ක්‍රමයෙන් ආහාරයට ගිජු වෙන කොට ඒවත් අතුරුදන් වෙලා දහයියා නැති පිරිසිදු ඇට සහිත ස්වයංජාත ඇල් හාල් කෙත් පහළ වෙනවා. ඒවත් රසයි, සුවඳයි.

තව බොහෝ කාලයක් ගතවෙන කොට ස්වයංජාත හැල්වල සුගන්ධයෙන් ජීවත්වන අතරේ, ඒවා බුදිමින් රස විඳීමට තණ්හා සහගත වෙනවා. රස තණ්හාවෙන් ඒවා අනුභව කිරීම හේතුවෙන් බ්‍රහ්ම කායික මෘදු කය රළු වෙනවා. එකිනෙකාගේ රස තණ්හාව එක එක ආකාර වන නිසා කායික ස්වරූප අසමාන වෙනවා. කෙනෙක් පැහැපත් වෙනවා. තව කෙනෙක් පැහැයෙන් අඩු වෙනවා. ඒ ඒ අයගේ පුණ්‍ය සෘද්ධි පිරිහෙනවා. මේ විදිහට වෙනස්කම් ඇතිවෙන කොට කැමති-අකමැති කියන බෙදීමක් හිතේ හටගන්නවා. ප්‍රීතිය ආහාර කරගෙන හිටපු කාලයේ එබඳු බෙදීම් තිබුණෙ නෑ. දැන් අකමැති කෙනෙක් දැක්කම ගස්සල යනවා. වේගයෙන් දුවනවා. ශරීරය වේගයෙන් චලනය වෙනවා. එතකොට ඒ අයගේ ඇඟේ ශක්තිය පිරිහුන බව දැනෙනවා. ශක්තිය තවත් ප්‍රභේදයකට පත් වෙනවා මිසක් විනාශ වෙන්නෙ නෑ කියන විද්‍යා සිද්ධාන්තයකුත් තියෙනවා. දැන් ගස්සල යනකොට ශක්තිය විසි වෙනවා. තමා ළඟ ඇති ශක්තිය පිරිහෙනවා. විසිවුනු ශක්තිය බාහිරින්, ඈතින් පිහිටනවා. ස්ව (තමා) + විසි = විස්ව. තමාගෙන් ඈත්වුනු ශක්තියට විශ්ව ශක්තිය කියල කියනවා. ගස්සල ගිය නිසා විසිවුනු ශක්තිය විශ්වයේ "ගස්" නමින් පිහිටනවා. එක්කෙනෙක් ගස්සල ගියාම, අනිත් කෙනා වැලපෙනවා. වැලපෙන හේතුවෙන් බැහැරට විසිවෙන ශක්තිය, ඈතින් දුරස් වෙලා ''වැල්'' නමින් විශ්වයේ පිහිටනවා. දැන් ගස්සල ගිය හේතුවෙන් කෙනෙක් වැලපෙනවා නම්, වැලපෙන කෙනා සනසන්න ගස්සල ගිය කෙනාට සිද්ධ වෙනවා. එහෙනම් මිනිස් සිතේ හටගත් මානසික සංඛාරයක් හේතුවෙන් බාහිර ලෝකයේ ගස්-වැල් කියල දෙයක් නිර්මාණය වෙලා තියෙනවා. ඒ විතරක් නෙවෙයි, ධර්මතාවය ක්‍රියාත්මක වෙලා, වැලපෙන කෙනා සනසන්න පිරිහුණ ශක්තියට ශක්තියක් දෙන්න වැල්වලට නැගී සිටින්න ගස් ආධාර කරන්න ඕන. මේ හේතුවෙන් ගස්වල වැල් එතෙනවා. ධර්මතාවය හේතුවට - ඵලය ලෙසින් බාහිර ලෝකයේ සකස් වෙලා තියෙන්නෙ එහෙමයි.

දැන් අභ්‍යන්තර ලෝකයේ ශරීර ශක්තිය බැහැරට විසිවෙලා ගිය නිසා දුර්වල වූ ශක්තිය ලබා ගන්න බාහිර ලෝකයේ නිෂ්පාදනය වූ ගස් වැල් ආහාරයට ගන්න සිද්ධ වෙනවා. මේවා නිකම්ම ආහාරයට ගන්නත් බෑ. අභ්‍යන්තර නාම රූපවලින් හටගත් ශරීරයට ඔරොත්තු දෙන විදියට, පැහෙන විදියට තියෙන්න ඕන. ඒ ශරීරයේ පිහිටන්න පුළුවන් විදියට, "ඉද්ද" වෙන්න පුළුවන් විදියට සකස් වෙන්න ඕන. ඒ නිසා බාහිර ලෝකයේ සකස් වෙන ධාන්‍ය වර්ග පැහෙනවා. ගෙඩි ජාති ඉදෙනවා. එතකොට තමයි අපට භුක්තිය සඳහා ගන්න පුළුවන් වෙන්නෙ. අර මුලින් නිකුත් කරපු නානාක්ෂණික කර්ම ශක්තිය, බාහිර ලෝකයේ ධාන්‍ය ජාති පැහෙන තුරු, ගෙඩි ජාති ඉදෙන තුරු සකස් වීමට ක්‍රියාත්මක වෙනවා. පැහුණාම ඉදුනාම ප්‍රයෝජනයට ගත්තත් නැතත් ඒවා දිරාපත් වෙනවා. නිකුත් කරපු ශක්තිය නිකුත් කළේ, පැහෙන තුරු ඉදෙන තුරු සකස් වීමටයි. තවදුරටත් පවත්වාගෙන යන්න ශක්තියක් ඉතුරු නෑ.

මේ ආකාරයට අපේම මනසින් අවිද්‍යාවත්, තණ්හාවත් හේතුවෙන් ගොඩනගාගත් ශක්තිය ක්‍රියාත්මක වෙලා තමයි බාහිර ලෝකයත් සකස් වෙලා තියෙන්නෙ. මේ ශරීරය හැදිල තියෙන්නෙත් ආපෝ, තේජෝ, වායෝ, පඨවි, ආකාස (ශරීරය ඇතුලේ තියෙන කුහර) කියන ධාතුන්ගෙන්. ගස් වැල් ආදිය හැදිල තියෙන්නෙත් මේ කියන ධාතුන්ගෙන්. ඒ නිසා මේ ශරීරයත් ගස් වැල් වගෙයි. සත්ත්වයෙක් පුද්ගලයෙක් නෙවෙයි කියල කොච්චර කිව්වත් වැඳගෙනම, හිත තියාගෙනම, ශ්‍රද්ධාවෙන්ම ශ්‍රවණය කළත්, අහල ඉවර වුනාම හිතෙන්නෙ, ''ඒ වුනාට... ගස් ඇවිදින්නෙ නෑ, හිතන්නෙ, කථා කරන්නෙ නෑ, මම ඇවිදිනව, හිතනව, කියනව, කරනව. ඉතින් ගසත් මමත් එකයි කියල පිළිගන්නෙ කොහොමද?'' කියලයි. මූල ධර්මය වැටහෙන තුරු ''මම, සත්ත්වයෙක්, පුද්ගලයෙක්'' කියන දෘෂ්ටියෙන් ඈත් වෙන්න අමාරුයි. ගණිත ගැටළුවකදී ගණන හදන මූලධර්මය දන්නෙ නැතුව කොච්චර හොඳට කියල දුන්නත් ගණන හදන්න අමාරු වගේ.

බාහිර ලෝකයේ තියෙන මනෝ මූලික මායා සහගත රූප ඇසුරු කිරීමෙන් ලබන යම් ආස්වාදයක් ඇත්ද, ඒ ආස්වාදයත් නින්දෙන් දකින සිහිනයක ආස්වාදය වගේ අසාරයි, හරයක් නෑ. නින්දෙන් දකින්න කැමති දේ නැවත නැවත දකින්න කැමති වගේ ආස්වාදයන්ද නැවත නැවත විඳින්න මනස කැමතියි. නමුත් සිහිනයේ හරයක් නෑ වගේ ආස්වාදයන්ගෙත් හරයක් නෑ. මේ මූලික සිද්ධාන්තය වැටහෙන තුරු, අවබෝධ වන තුරු මේ අසාර ආස්වාද අසාරයි කියල වැටහෙන්නෙත් නෑ. ඒවා පසුපසම හඹා යමින්, ඒ ආස්වාද වස්තූන් අයිති කරගන්න, රැස්කරගන්න උත්සාහ කරමින්, බැරි වෙනකොට දුෂ්චරිතව හෝ දස අකුසලයම කරමින් ඒවායේ විපාක වශයෙන් අනාත සසර ගමනක දුක් වේදනා විඳිනවා.

'දිට්ඨියා ච අද්දිට්ඨියා'' - කරණීයමත්ත සූත්‍රයේ මෙබඳු සඳහනක් තියෙනවා. දෘෂ්ටි ගතිකයෙක් වුනොත් ඔහු දෘෂ්ටි පථයෙන් එහා දකින්නෙ නෑ. ඇයි? දෘෂ්ටිය යම් පෙදෙසකට සීමා වුනොත් ඉන් බැහැර දේ දකින්න බෑ. ශ්‍රද්ධාව කියන්නෙ දෘෂ්ටිගත වීමක් නෙවෙයි. "සද්ධා ධනං...." නිවන අවබෝධකර ගන්න උත්සාහවන්ත වෙන කෙනෙකුට බුද්ධ, ධම්ම, සංඝ කියන ත්‍රිවිධ රත්නය කෙරෙහි ඇති ශ්‍රද්ධාව ධනයක්. ඇසට සුද ආපු නිසා යම් කෙනෙක් වෛද්‍ය උපදෙස් අනුව සැත්කමක් කරල කාවයක් සවිකරගෙන විවේකීව ඉන්නවා. "ඇස අනිත්‍යයි, වෙනස් වෙන සුළුයි, අන්‍ය තත්ත්වයට පත්වෙනවා..." විවේකීව දහම් දේසනාවක් ශ්‍රවනය කරන ඔහුට මෙබඳු අදහසක් එනවා. ''ඇත්ත නේන්නම් හොඳට පෙනී පෙනී තිබුන ඇස නොපෙනෙන තත්වයට පත්වුනා, වෙනස් වුනා, ස්ථිරව හොඳට පෙනී පෙනී තිබුණෙ නෑ, පෙනෙන තත්වයෙන් නොපෙනෙන තත්වයට පත් වුනා. බුදු බණ ඇත්තම තමයි...''

ටික දවසක් විවේකීව හිටපු ඔහු ඇසේ ආවරණය ඉවත්කර වෛද්‍ය උපදෙස් අනුව අවශ්‍ය ඖෂධ ප්‍රතිකාර කරනවා. දැන් ඔහුට හොඳටම සුවයි. දැන් සැත්කම කරන්න පෙර තිබුණ පෙනීමටත් වඩා හොඳින් පේනවා. මේ අතර ඔහු බලන්න ආපු හිතවතෙක් "දැන් ඔබට හොඳටම සනීපයි නේද? හොඳ (සිනමා සිත්තමක්) ෆිල්ම් එකක් ඇවිත් තියෙනවා. යමුද බලන්න" කියල යෝජනා කරනවා. ඔහු දැන් සිනමා සිත්තම බලනවා. මොහොතක් පාසා දකින මන වඩන රූප දර්ශන නිසා ඔහු රාගයෙන් බැඳෙනවා, මත්වෙනවා, ඔහුගේ ඊළඟ කැමැත්ත මේ දකින රූප රාමුවක් ක්‍රියාත්මක කරන්නයි. ඇහේ සුද එන වයසෙ හිටියට මනස ඒ වයසට ගිහිල්ල නෑ. දැන් ඔහු කාම දහයෙන් වේදනා විඳිනවා. මුලින් ඔහු "ඇත්තම නේන්නම්, ඇස අනිත්‍යයි, වෙනස්වන සුළුයි, අන්‍ය තත්ත්වයට පත්වෙනවා..." කියල පිළිගැනීමෙන් ප්‍රායෝගික ජීවිතයේදී ඔහුට නිවීමක් සැනසීමක් ලැබුනද? නිවන්

දකින්නෙ, නිවීම අත් දකින්නේ මරණයෙන් පස්සෙ නෙවෙයි ජීවත් වෙත්දිමයි. බුද්ධ දේශනාව නම්, රාගක්ඛයෝ නිබ්බාණං, ද්වේසක්ඛයෝ නිබ්බාණං, මෝහක්ඛයෝ නිබ්බාණං.... ඔහුගේ රාගය ක්ෂය වුනාද? රාගයෙන් දැවෙනවා, වයස්ගත වීම නිසා තැවෙනවා, දුක්ඛ දහයෙන් මුසපත් වෙනවා. ඔහුට තරුණ කාලයක් තිබුණා. ඒකාන්තයෙන්ම එය අන්‍ය තත්ත්වයට පත් වෙමින් මැදිවියත් ඉක්ම ගියා. දැන් එය ඇත්ත කියා පිළිගැනීමෙන් ඔහුගේ කාම දහයත් නිවුනද? අනේ මට මෙහෙම වුනා නේද? ඉස්සර නම් මම කුරුල්ලෙක් වගේ නිදහසේ (ඒකත් අවිද්‍යාවේම අදහසක්) ගමන් බිමන් ගියා... යැයි සිතමින් ඔහු තැවෙනවා.

මෙන්න මේ දුකට කියනවා "යම් පිච්චං න ලභති තම්පි දුක්ඛං" කියල. හැබැයි **වෙනස් තාවයට පත්වුන නිසා නෙවෙයි දුක, කැමති සේ හැසිරීමට නොලැබීම නිසයි.** කැමති සේ නෑ... කියන්නේ අන් + ඉච්ඡයි = අනිච්ඡයි. මේ තුන් ලෝකයේ හටගත් දෙයක් ඇත්ද ඒවා අනිච්ඡයි. හේතු කාරක වූ මූල ධර්මය සිහිකරල බලන්න. අවිද්‍යාවත්, තණ්හාවත් හේතුවෙන් හටගත් ආස්වාද බලාපොරොත්තුවලින් ගොඩනැගෙන ශක්තිය ක්‍රියාත්මක වෙන්නෙ, ආස්වාද ලබන්න පුළුවන් මොහොත උද වනතුරු ගොඩනගල දෙන්නයි. ඉන්පසු පවත්වාගෙන යෑමේ ශක්තියක් නැති නිසා ක්‍රමයෙන් දිරාපත් වෙලා වැනසිලා යනවා.

එහෙනම් අපි කැමති විදිහට නොපවතින අභ්‍යන්තර ලෝකයක් (ඇස, කන, නාසය, දිව, ශරීරය) හෝ බාහිර ලෝකයක් (රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ) ඇසුරු කිරීමෙන් ආස්වාද විඳින්න බලාපොරොත්තු තබා ගැනීම (ඡන්ද රාගයෙන් බැඳීම) හරයක් නැති අනාථ සසර ගමනක, දුක් වේදනා හා බැඳීමක් ම බව පැහැදිලි වෙනවා. බල්ලන්ට ලැබුන මස්කටු වාගෙ, උකුස්සන්ට ලැබුන මස් කැටි වාගෙ, ආස්වාද මාත්‍රයක් පසු පස ආදීනව කන්දක් ඇති නිසා ආස්වාදයෝ අසාරයි. මේ බව වටහාගෙන ආස්වාද කෙරෙහි ඡන්දරාගය දුරුකිරීම ම නිවනයි, සැනසීමයි.

මේ ආකාරයෙන් ඉච්ච සේ නැති නිසා එබඳු දේ පරිහරණය දුක ගෙන දෙන නිසා ඒ පරිහරණය නිසිඳ, අනිසිඳ කියා ඇසීමටයි ''නිච්චං වා අනිච්චං වාති'' කියල ධර්මයේ සඳහන් වෙන්නෙ. භික්ෂූන් වහන්සේලාට අනිසි බව වැටහී තිබුණු නිසයි අනිච්චං භන්තේ කියල පිළිතුරු දුන්නේ. පසුව ඉතා මෑත කාලයක අනිච්ච කියන එකට සංස්කෘත පදයක් අරගෙන තෝරන්න ගියපු නිසයි අනිත්‍යය, ස්ථිර නැති අර්ථය අරගෙන තියෙන්නේ. අසාර බව පෙන්වන අනත්ත කියන එකට අනාත්ම යනුවෙන් සංස්කෘත වචනයක් දෙන්න ගිහින් තමයි ආත්මයක් නැත යන අදහස අරගෙන තියෙන්නේ.

මස් ලේ නැති ඇට බලු ලෙව කන්නේ - කුස පිරුමක් එලයක් නොලබන්නේ.

මස් ලේ නැති වුනත් මස් කටුවෙ ගඳ තියෙනවා. ඒකට ආසාවෙන් බැඳෙන බල්ලන් කොයි මොහොතක හෝ මස් රස විඳීමේ බලාපොරොත්තුවෙන් කටු හැපුවට, තමන්ගෙම විදුරුමස, දිව තුවාල වෙලා ගලන ලේ රස පමණයි දැනෙන්නෙ. කුස පිරීමක් නෑ. ඒත් අතහරින්න කැමතිත් නෑ. ලෝකයාත් මේ වගේ ආස්වාද මායාවට රැවටිලා, හිත පිරෙන දවසක් එනතුරු නොසිඳෙන ආසා බලාපොරොත්තු තව තව ඇතිකර ගන්නවා. දුකම විඳිනවා.

මස් කැටියක් ගත් උකුසකු අහසේ
මස් නොදැමුව උකුසන්ගෙන් වැනසේ

**තරඟකාරී ලෝකයේ පොරකාලා ලබාගන්න ආස්වාදජනක වස්තු රැක ගන්න, පවත්වා ගන්න විශාල වෙහෙසක්, දුක් ගොඩක් ආදීනව වශයෙන් තියෙන බව දකින්නෙ නෑ.** ආස්වාද මාත්‍ර මායාව නිසා සිනමා සිත්තමේ රූප හොඳයි, ලස්සනයි කියල අවිද්‍යා සහගත විනිශ්චයක් කළ නිසයි රාගයක් ඉපදුනේ. ඒ රූප ජරා-මරණ, ව්‍යාධි ඉක්මවා නැති, වැහැර. වැනසෙන, මුදලට කරන මායා රංගනයක් පමණයි යන්න නුවණින් දැකීම ඡන්දරාගයෙන් මිදීමයි. එවිටයි සිත නිවෙන්නේ. ඇස තියෙනවා. ඒ නිසා රූප පේනවා. නමුත් ඒවායේ වටිනා හරයක් නෑ කියල දකිනවා.

අං.නි.(6) 365 පිටුවේ එන <u>උපාලි සූත්‍රයේ</u> - ගැඹුරු දියවිල් උපමා කරපු දේශනාවක් තියෙනවා. ''උපාලි, යම් සේ මහ දිය විලක් වේ නම්, එකල සත් රියන් වේවයි, අටරියන් වේවයි හස්ති නාගයෙක් (ඇත් රජෙක්) එයි නම්, ඕ හට මෙබඳු සිතක් වන්නේය. මම මේ දිය විලට බැස කණ්ණසන්ධෝපික (කන් හෝදනවා) නම් ක්‍රීඩාද කෙළ නෙම්, පිට්ඨිසන්ධෝපික (පිට හෝදනවා) නම් ක්‍රීඩාවද කෙළ නෙම් නම්.... ස්නානද කොට, පැන් බීමද කොට, ගොඩ නැගී කැමති තැනක යෙම් නම් යෙහෙකැයි හේ මහ දිය විලට බැස, කණ්ණසන්ධෝපික නම් ක්‍රීඩා ද කෙළ සේය. සනහා කොට..... පැන් බී ගොඩ නැගී කැමති තැනක යන්නේ ය. ඒ කවර හෙයින යත්, උපාලි මහත් වූම ආත්ම භාවයෙක් (ශරීර අත්බැවක්) ගැඹුරෙහි ප්‍රතිෂ්ඨා විඳුනේය. ඉක්බිති සසකයෙක් (හාවෙක්) වේවයි, විඩාලයෙක් (නරියෙක්) වේවයි එන්නේය. ඕ හට මේ සිත වන්නේය. මම් කවරෙ කිම්? ඇත් නා කවරෙක? මම් මේ මහ දිය විලට බැස කණ්ණසන්ධෝපික..... සනහා පැන් බී ගොඩ නැගී කැමති තැනක යෙම් නම් මැනවැයි හේ ඒ දිය විලට වහා නොපස්විකා (දියෙහි ගැඹුර නොවිමසා) පැන්නේය. ''ගිලෙනුයේ හෝ ඉපිලෙනුයේය'' යන තෙල ඔහු විසින් කැමති විය යුතු. හේ කවර හෙයින යත් උපාලි, ලඝු වූ ශරීර ආත්මභාවය ගැඹුරෙහි ප්‍රතිෂ්ඨා නොවිඳුනේමය. උපාලි, එපරිද්දෙන් ම යමෙක් මෙසේ කියා නම්, මම සමාධි නොලබනුයෙම්, අරණ හා වනපෙත් හා ප්‍රාන්ත සෙනසුන් සෙවුනෙමියි ඔහු විසින් ගිලෙයි හෝ ඉපිලෙයි යන තෙල කැමති විය යුතුය.''

**ආරණ්‍යයේ භාවනා නොකිරීම නිසා සමාධි නොලබනුයේ යයි යම් කෙනෙක් කියනවා නම්, එය එසේ නොවන බව** මේ දේශනාවෙන් පැහැදිලි වෙනවා. තවද ආනාපාන සති භාවනාවේ "අරඤ්ඤගතෝවා" යනු අරණකට ගියේ... යන අදහසක් නොවන බවත්, ඊට වඩා ගැඹුරු අරුතක් දැක්වීමට "අරඤ්ඤගතෝවා" යන්න යොදාගෙන ඇති බවත් පැහැදිලි වෙනවා. මහ වනයේ මල් පිපී සුවඳ හමන කොට, කුරුළු ගී ඇහෙන කොට, මන බඳින රූ රටා ඇති සතුන්, සමනළ ආදීන් දකින කොට, දිදුලන සඳ එළිය දකින කොට යෝගියාගේ කමටහන බිඳී සොබා සෞන්දර්යයට වසඟ වෙනවා. ඉන්දියාවේ යෝගීවරු අදත් නාරිලතා මල් පිපෙන කාලයට ඒ ප්‍රදේශයෙන් ඈත්වන බව අහන්න ලැබෙනවා. එමෙන්ම **රෞද්‍ර වන සතුන්ගේ බියකරු හඬ ඇහෙන කොටත්, සර්පාදීන් පිළිබඳව දන්නා සිත් ඇති විටත්, අමනුෂ්‍යයන්ගේ විවිධ ක්‍රියාකාරකම් හේතු කොටගෙනත් මහ අරණක හුදෙකලා වී රුක් මුලක කමටහනක් වඩන්න පුළුවන්ද? සාමාන්‍ය සිතක මතුවන බිය නැති ගැනුම් හේතුවෙන් කමටහන බිඳිල යනවා.** "ගිලෙයි හෝ ඉපිලෙයි" යනුවෙන් අදහස් කර ඇත්තේ මෙයයි. මෙවැනි කරුණක් මුල් කරගෙන බුදුපියාණන් වහන්සේ භික්ෂු පිරිසකට කරණීයමත්ථ සූත්‍රය දේශනා කරල තියෙනවා. හස්ති නාගයෙක් කියන්නේ අරිහතුන් වහන්සේයි. උන්වහන්සේලා සුන්දරත්වයෙන් වශී වෙන්නෙවත්, බියෙන් තැති ගන්නෙවත් නැතිව, වනයේ නිසල පරිසරය තුල ධ්‍යාන සමාපත්ති සුව විඳිනවා.

ශ්‍රී සද්ධර්මයත් විවෘත වුයේම බබලනවා, (ඕපනයිකෝ ගුණය) විවෘත වූයේම ගැඹුර දකිනවා. ඒ දිය විලේ තමාගේ තරමට පැන් බීමට, දිය නෑමට සුදුසු ආකාරය දකිනවා. ශ්‍රද්ධාවෙන් අසන ධර්මය, ප්‍රායෝගික ජීවිතය ධර්මය දෙසට ඇදී සිටින

27 වෙනි පිටුවට...

# අපට නොපෙනෙන ලෝකය දහම් ඇසින්...

බුදුන්වහන්සේ පෙන්වා දුන් මුළු ධර්මස්කන්ධය පුරාම තියෙන්නේ හේතුඵල දහම් රටාවක්. හේතුව යම් සේද ඵලය ඊට අනුකූලයි. මේ විදිහට අපි ආපු අනාදිමත් සංසාරයේ එදා පටන් අද දක්වා අප්‍රමාණ වශයෙන් හේතුවට අනුකූල වූ ඵලයන් හටගෙන තියෙනවා. මෙතනදී අපට දකින්න පුළුවන් සමහරක් හේතු පංචේන්ද්‍රිය මනසට ගෝචර වෙනවා. උදාහරණ විදිහට ප්‍රාණ ඝාතයක්, සත්ත්ව හිංසාවක් කළොත් ඒක අපට දැන ගන්න පුළුවන්. හැබැයි ඒකට අනුරූප පාපය කියන ඵලය එහෙම දැන ගන්න බෑ. ඒක සැඟවුණු පැත්ත. පාපය විපාක වශයෙන් ආවට පස්සෙ ඒ විපාක ලෙස පහළ වෙච්ච ලෝකයේ සියල්ල පංචේන්ද්‍රිය මනසට ගෝචර වෙන්නෙ නෑ. **මේ ලෝකයේ තියෙන සියලු දේවල් මිනිස් ඇසට පේන්නෙ නෑ. සියලු ශබ්ද මිනිස් කනට ඇහෙන්නෙ නෑ. සියලු ගන්ධ මිනිස් නාසයට දැනෙන්නෙ නෑ. සියලු රස මිනිස් දිවට දැනෙන්නෙ නෑ. සියලු ස්පර්ශ මිනිස් කයට දැනෙන්නෙ නෑ. සියලු ධර්මයෝ මිනිස් හිතට හිතාගන්න බෑ. මේ සියලුම දේවල්වලින් ඉතාම අල්ප මාත්‍රයයි මිනිස් පංචේන්ද්‍රියන්ට හා මනසට ගෝචර කර ගන්න පුළුවන් වෙන්නේ.**

මේ කියන මිනිස් මානසිකත්වය ඉක්මෙව්වාට පස්සෙ **මිනිස් ඇස ඉක්ම වූ දිවැසක්, මිනිස් කන් ඉක්ම වූ දිවකන්, මිනිස් දැනීම් ඉක්ම වූ දිව්‍යමය දැනීමක් පහල වෙනවා.** මේ දැනීම පහල නොවෙච්ච ඇතැම් උදවියට (විශේෂයෙන් නියත මිත්‍යා දෘෂ්ටිකයන්ට) නොපෙනෙන ලෝකය ගැන තේරුම් කරනවයි කියන්නේ, හරියට අන්ධයාට රූප ගැන කතා කරනවා වගේ වැඩක්. ඇස් අන්ධ කෙනෙකුට රූප ගැන, වර්ණයන් ගැන කිව්වොත් ඒ මානසිකත්වය තුළ ඒ පුද්ගලයාට තේරුම් ගන්න දත්තයන් පිහිටල නෑ. මේ නිසා ඔහුට වර්ණ ගැන කිව්වට තේරුම් ගැනීමේ ශක්තියකුත් නෑ. මේ වගේ අපේ පංචේන්ද්‍රියන්ට ගෝචර නොවන නොපෙනෙන පැත්තක් තියෙනවා. මිනිස් ඇස තිබිලා මිනිස් ලෝකය පෙනුණත්, නොපෙනෙන පැත්තෙන් අන්ධයි. ''අන්ධෝ බාලෝ



පෘථජ්ජනෝ'' කියල බුදුන් වහන්සේ දේශනා කළෙත් පෘථජ්ජනයා අන්ධයි බාලයි කියලයි. ඇත්ත ඇති සැටියෙන් බැලීමේ ශක්තිය, ඒ ඥානය නැති නිසයි අන්ධයි කිව්වේ. එහෙම නැතිව ඇස් පේන්නෙ නැතිව නෙවෙයි. මිනිස් ඇස පේනවා. නමුත් ගැඹුරු ධර්මයක්, ඒ ගැඹුරු ධර්ම නියාමයෙන් දකින්න පුළුවන් ශක්තියක් නෑ. මේ නිසා මිනිස්සු තමන්ගේ ඇහැට පෙනෙන, කනට ඇහෙන ප්‍රමාණය විතරක් අරගෙන එයින් පිටස්තර ලෝකයක් නෑ, ඒ බව ඔප්පු කරන්න පුළුවන් කියල නොයෙක් තර්කවාද හා මතයන් ගොඩනගනවා.

බුදුන් වහන්සේ වැඩ හිටපු කාලයෙත් මෙවැනි තර්කවලින් මතුවෙච්ච වාද 62 ක් තිබුණා. (මෙයින් උච්ඡේද වාදය තමයි භයානකම) නමුත් ඒවා සත්‍යය යථාර්ථය නෙවෙයි, විවිධ පුද්ගලයන්ට පෙනෙන තර්කවාදවලින් ගොඩනගා ගත් ඒවායි. ''අපායක් නෑ, දිව්‍ය ලෝකයක් නෑ, කොහෙද ඕව තියෙන්නේ? වෙන්න පුළුවන්ද? ඕවා මිනිස්සු හදා ගත්තු එක්තරා සංකල්ප, කන්න හදාගත්තු සූත්‍ර ....'' මේ ආදී දේවල් කියල එවැනි නොපෙනෙන පැති ගැන මිනිස්සු මුළා කළා. අද ඊයෙ විතරක් නෙවෙයි, අවුරුදු 2500 කට පෙරත් මේ කියන, අපායක් නෑ, ඕව ඔක්කොම තියෙන්නෙ මේ ලෝකයේ... කියන මේ ආදී සංකල්ප තිබුණා. එදා විතරක් නෙවෙයි අදත් තියෙනවා.

මෙබඳු සංකල්පයන්ට ගෝචර වෙලා ඉන්න පිරිසට එහෙම වෙන්නත් හේතුවක් තියෙනවා. **යමක් නෑ කියල පෙන්නුවාට පස්සෙ, ධර්ම න්‍යායකින්වත් ඒක ඔප්පු කරන්න බැරි නම්, ඔප්පු කරල පෙන්නන්නත් පුළුවන්කමක් නැත්නම් ඒ වෙලාවේ ඒ මතය ජයගත්තාම පාලු ගෙයි වළං බිඳිනවා වගෙයි ඒ අයගේ මතය ජය ගන්නවා.** ඒ දෘෂ්ටියට වැටුණොත්, ඇහෙන් බලන්න බැරි සියුම් දිවැසට ගෝචර වන සියුම් රූප කලාපයන්ගෙන් හටගත් එබඳු වන්නා වූ ලෝකයක් තියෙනව ද කියලවත් දැනගන්න බැරිව යනවා. ඒ නිසා තමයි මේ සද්ධර්මය අති දුර්ලභයි කියන්නේ. **නොපෙනෙන පැත්තක් සමාජයට මතු කරල දෙන්න හරි අමාරුයි. ඒවායේ න්‍යාය ධර්මයන් කියල දෙන්නත් අමාරුයි.** නමුත් එබඳු දේ හේතු ඵල සහිතව පෙන්වා දෙන කොට නුවණැත්තන් විසින් තේරුම් ගන්නවා, මෙහෙම න්‍යාය ධර්මයක් තමන්ට හිතාගන්න පුළුවන් කියල. එබඳු ☞

ආකාරයෙන් යථාර්ථයට පත්වෙලා ඥානය පහළ වුණාට පස්සෙ ඒ කියපු කාරණය සත්‍යයක් කියල ශ්‍රද්ධාවෙන් හෙවත් විශ්වාසයෙන් මුලින් ඇදහුවත්, පසුව ඒක තමාගේ අත්දැකීමෙන්ම ඇත්ත කියල දැන ගන්නවා. එහෙම දැනගත් පුද්ගලයෝ එදාට ලෝකයට ප්‍රකාශ කරනවා, පින්වත්නි මෙහෙම ඇත්තක් තියෙනවා, මේක බොරුවක් නෙවෙයි කියල. හැබැයි එහෙම කියන කොට ඒක අහගෙන ඉන්න උදවියට ඒ පුද්ගලයා එහෙම පිළිගත යුත්තෙක් ද කියන කාරණය පිළිගන්න හේතු යෙදිල තියෙන්න ඕන. කවුරු හරි කිව්වොත් මමත් විද්‍යාඥයෙක් කියල අනෙක් අය ඒක පිළිගනියි ද? ඒ සඳහා ලෝක සම්මතය තුළ ඔහුව විද්‍යාඥයෙක් බව පිළිගන්න අවශ්‍ය දේවල් කරල ඒකෙන් ලෝකයාට මොනව හෝ දෙයක් පෙනිල තිබිය යුතුයි. ලෞකික දැනීමකින් හෝ අනෙක් අයට වඩා විශේෂත්වයක් ඔහු ළඟ තිබිය යුතුයි. එතකොට ඒ වගේ **නොයෙක් අත්දැකීම් ලබපු අය තමන්ගේ අත්දැකීම් ගැන කතා කරන කොට, ඒ ඇත්ත කියල පෙන්වන්න පුළුවන් සුළු සුළු කාරණා හෝ ඔප්පු විය යුතුයි.** එවිට ඒ තුළින් මිනිස්සු පිළිගන්නවා, ඒ පුද්ගලයා ඇදහිය යුත්තෙක්, පිළිගත යුත්තෙක් කියල. එවැනි කෙනෙක් යම් සත්‍යයක් ප්‍රකාශ කළොත් ඒ ප්‍රකාශ කළ පුද්ගලයාගේ චරිත ලක්ෂණ, ඔහුගේ ප්‍රකාශවල තියෙන නිරවද්‍යභාවය, ඔහුගේ හැසිරීම් රටා කියන මේවායින් නිගමනය කරනවා, ඔහු අපි ඉක්මවා ගිය විශේෂ පුද්ගලයෙක් කියල. මේ නිසා ඔහු ප්‍රකාශ කරන දේවල් තුළ විශ්වාස කරන්න අදහන්න වදන් තියෙනවා.

මේ විශ්වාසය ඇති වුණාට පස්සෙ ඒ විශ්වාසය පදනම් කරගෙන තමයි පළමුවෙන්ම නොපෙනෙන පැත්ත විශ්වාස කරන්නේ. ''දිව්‍ය බ්‍රහ්ම ලෝක තියෙනවයි කිව්වට එකපාරටම විශ්වාස කරන්න ඇහැට දැක්කෙ නෑ.'' මේ වගේ භෞතිකවාදී තර්ක එනවා. නමුත් ඒවාට හේතු න්‍යායන් ඉදිරිපත් කරන කොට ඇත්තටම මේ කතාව නිකන්ම බොරු වෙන්න බැහැ නේද කියන කාරණාව මතුවෙනවා. ඒ වගේම ලෞකික යන්ත්‍ර සූත්‍රවලින් පෙන්වන්න පුළුවන් ආසන්න කරුණු තියෙනවා. උදාහරණ විදියට හෘද සැත්කම් වගේ දේවල් සිද්ධ කරන කොට ඒ සඳහා පිළිගත් වෛද්‍යවරුයි කියන නැණ නුවණක් ඇතැයි කියන, ලෝකයා විසින් පිළිගත් ඒ පිරිස විසින්ම කියනවා ඒ වෙලාවේ වෙච්ච සිද්ධිය. ඒ වෙලාවේ සිහි නැති වෙච්ච පුද්ගලයා කියනවා මම උඩට වෙලා බලාගෙන හිටියා, උඩට ඇදිල ගියා, ශල්‍යකර්මය කරන හැටි බලාගෙන හිටියා, මෙන්න මේ මේ අය තමයි එතනට ආවේ, මේ මේ විදියටයි සැත්කම කළේ... ආදී වශයෙන්. මෙහෙම කියන කොට එතැනදී සාක්ෂියක් ඔප්පු වෙනවා. මේ සිහි නැති වෙච්ච පුද්ගලයාට මෙතැන දී නින්ද ගියා වගේ තත්ත්වයක් ඇති වුණා නම් කවදාවත් ඒ වගේ දේවල් දකින්න බෑ, කියන්න බෑ. මේ වගේ සත්‍ය දේවල් එක් කෙනෙක් විතරක් නෙවෙයි බොහෝ අය කියනවා. ඒ වෙලාවෙදි උඩට පාවෙලා ගිහින් වෛද්‍යවරුන්, හෙදියන් කතා කරපු වචන පවා අහගෙන ඉඳල තියෙන බව ඔප්පු වෙලා තියෙනවා.

මේ විදියට කතා කරන කොට ඒ කියන කාරණා සත්‍ය වුණාම ලෞකික නුවණැති අය හේතු සාධක ඇතිව ඒ කාරණා පිළිගන්නවා. මේ විදියට ශරීරයත් සමග සම්බන්ධ වෙලා තිබ්බ, ඇස්ට්‍රල් බොඩි වශයෙන් හඳුන්වන ඒ වගේ සූක්ෂ්ම ශරීරයක් පිටවෙලා යනවයි කියල පළවෙනි නිගමනයට බැහැලා, ඒ පිළිබඳව තවත් පරීක්ෂණ කරන්න පටන් ගන්නවා. මේ සඳහා ඉතාම සූක්ෂ්ම ආකාරයේ ඡායාරූප ගන්න පුළුවන් නොයෙක් ආකාරයේ කැමරා උපකරණ නවීන විද්‍යාවෙන් නිපදවල තියෙනවා. ඒ මගින් මේ මිනිස් සිරුරේ භෞතික ඇහැට නොපෙනෙන දේවල්, සියුම් කිරණ මාලාවල්වලින් ඇතිවන තරංග පද්ධති ශරීරය වටේ ක්‍රියාත්මක වන හැටි ඡායාරූප ගත කරල තියෙනවා. සමහර අවස්ථාවල දී මරණාසන්න පුද්ගලයන් ශරීරයෙන් පිටවෙලා යන එබඳු වන්නා වූ රූප ස්වභාවයන් පවා කැමරාවලට හසු වෙලා තියෙනවා.

මෑතක දී ඡායාරූප ගත් එබඳු පර්යේෂණයක දී අවුරුදු 90 ක පමණ පුද්ගලයෙක් උපැස් යුවළක් පැලඳගෙන ඇඳේ නිදාගෙන ඉඳලා මැරෙන මොහොතේදී ගත් ඡායාරූපයක ඔහුගේ ශරීරය මැදට එනකල් ශරීරයෙන් තවත් ශරීරයක් නැගිටල තියෙනවා. එසේ නැගිටපු ශරීරයෙත් උපැස් යුවළක් දාගත් ඒ ජාතියේම පුද්ගලයෙක් නැගිටල ඉන්නවා. ඔහුගේ ශරීරයෙන් භාගයක්ම ඉවතට විසිවෙලා. මැරෙන්න ආසන්න ශරීර කඳ ඇඳේ නිදාගෙන. ඒක ඒ විදියටම වැටිල තියෙනවා. අර ඉණ දක්වා නැගිට්ට සූක්ෂ්ම ශරීරයත් වෙනම තියෙනවා. (යක්කල, වීදියවත්ත, පී. කළුආරච්චි මනෝ විශේෂඥතුමා ළඟ මේ ඡායාරූපය අදටත් තියෙනවා)

දැන් මේ වගේ කාරණාවලින් ඔප්පු වෙනවා මෙතනින් මැරෙන කොට ගමන ඉවර නෑ කියල. මේ ජීවිතය මරණයෙන් කෙළවර නෑ කියන කාරණයට මේවා හොඳ සාක්ෂි වෙනවා. එහෙනම් බුදුන් වහන්සේ දේශනා කළ දේශනාවන්ටත් මේ කාරණා එකඟයි.

<u>කුතුහලසාලා සූත්‍රයේ</u> (සං:නි:(4), 700 පිටුව) දී බුදුන් වහන්සේ වච්චගොත්ත පරිබ්‍රාජකයාගේ ප්‍රශ්නයකට පිළිතුරු දෙමින් දේශනා කරනවා, මේ **කයත් මැරිල වෙනත් කයකට ගියෙත් නැතිනම් ඒ අතරතුර සත්ත්වයා තණ්හාව උපාදාන කර ගෙන ජීවත් වෙන බව.** එහෙනම් මේ කාරණය අද විද්‍යාඥයන්ගේ පර්යේෂණවලිනුත් ඔප්පු වෙලා තියෙනවා. මේ කය මැරිල මතු කයකට යන්න පෙර, දැන් තියෙන කයෙන් ඉවත්වන කයක ස්වභාවය දැකලා පරීක්ෂණ පවත්වා ඒවාටත් ගෝචර වෙලා තියෙනවා. එහෙනම් එතෙක් මස් ලේ ඇහෙන් බලන්න බැරි වෙච්ච කාරණයක්, මිනිස් ඇස ඉක්ම වූ දිවැසකින් දැක්ක, ඒ මහා බුද්ධ ඥානයෙන් දැක්ක කාරණයක් එසේ අදත් ඔප්පු වෙලා තියෙනවා. බුද්ධ දේශනාවේ සැඟවුණු පැත්ත ඇත්තයි කියල ඔප්පු කරන්න මේවා බොහෝ වැදගත් වෙනවා.

**මේ තියෙන කය මළාට පස්සෙ ඒකෙන් නික්මෙන දෙයක් තියෙනවයි කියන කාරණය විාවත් හේතු සාධක ඇතිව ඔප්පු කළා නම්, බුදුන් වහන්සේගේ දේශනාවෙත් ඒ ආකාරයෙන් පෙන්වා තියේ නම්, මේ ජීවිතය මෙතන හටගත්තේ තනිකරම ජල, ගිනි, සුළං, පඨවි කියන මේ සතර මහා භූතයන්ගෙන් විතරක් නෙවෙයි කියන කාරණය අපට හොඳින් පිළිගන්න පුළුවන්. මේ හතරෙන් හටගත් කය එසේ හට ගැනීමටත්, එසේ හැඩ ගැසීමටත් හේතුකාරක වෙච්ච සැඟවුණු යම්කිසි ශක්තියක් තියෙනවයි කියන කාරණය ඔප්පු වෙනවා.**

ඉතින් දිවැසක් ඇති අය දකින දේවල් ඒ දිවැස් නැති අයට අත්දකින්න බෑ. උදාහරණ විදියට අපාය කොහෙද තියෙන්නෙ කියල ඇහුවොත්, අපාය පොළව යට තියෙන බව බුදු දහමේ පෙන්වා තියෙනවා. දැන් අපි බලමු කොහොමද ඒක ඔප්පු කරන්නෙ, කොහොමද ඒ පැත්තට ඇදිල යන්නෙ කියල. පුංචි ළමයෙක් ගත්තොත් ඔහු අපාය ගැනවත්, දිව්‍ය ලෝකෙ ගැනවත් දන්නෙ නෑ. අපි එවැනි කුඩා ළමයෙකුට චොක්ලට් එකක් දෙනවා. ඒ ළමයා ඒක බොහොම

සතුටින් ගන්න කොට තවත් ළමයෙක් ඇවිදින් උදුර ගන්නවා. දැන් අර පොඩි ළමය මොකද කරන්නේ? හයියෙන් කෑගහල අඬල දෙන්නෙ නැති වුණාම තවත් තරහ දුක වැඩිවෙලා, වේදනාව වැඩි වෙලා පොළොවෙ පය බිම ගගහා අඬනවා, හැපි හැපී අඬනවා. තවමත් දුන්නෙ නැත්නම් පොළොව බදාගෙන පෙරළෙනවා. පෙරළි පෙරළී අඬනවා. සමහර විට තරහ වැඩි කමට පසුත් කනවා. දැන් ගති ආකර්ෂණය මොන පැත්තට ද? පොළොව පැත්තට. මේ වෙලාවේදී කවුරුහරි මෙන්න චොක්ලට් එකට දෙකක් කියල චොක්ලට් දෙකක්ම දුන්නොත් දැන් මොකද කරන්නේ? නැගිටලා හිනාවෙලා සංතෝසෙන් උඩ පනිනවා. එහෙනම් **සතුටට උඩ පනිනවා. දුකට, වේදනාවට, තරහට යට යන්න හදනවා.**

මේ අවස්ථා දෙකේදී පැහැදිලි වෙනසක් පේනවා. **සතුටට උඩ පනිනකොට ගති ආකර්ෂණය තියෙන්නේ ඉහළටයි.** මෙතනදී පැහැදිලිව පෙනෙන කාරණයක් තමයි **දූෂිත වූ ආකර්ෂණය යට පැත්තටත්, සතුටු ආකර්ෂණය උඩු පැත්තටත් තියෙන බව.** තවත් විදියකින් කියනවා නම්, **පව් හිතක් යටට හෙවත් අපායට, පින් හිතක් උඩු පැත්තට හෙවත් දෙව් ලොවට.** මෙහෙම ගත්තොත් උසස් පුණ්‍ය හිතක් සතුටින් උඩට නැගෙනවා. පහත් බවට පත් වෙච්ච දූෂිත හිතක් යටට ඇදෙනවා. දැන් මේ වෙනස පුංචි ළමයෙකුට චොක්ලට් එකක් දීල උදුරගෙන, ආපසු දෙකක් දීල ඒ සිද්ධියෙනුත් බලාගන්න පුළුවන්. එතකොට මෙතනදී අපට දකින්න පුළුවන්, මානසිකත්වයේ එක්තරා රටාවක්. **පදුට්ඨ මනසක් හැම වෙලේම ක්‍රියාත්මක වෙන්නෙ පහත් පැත්තට. ප්‍රසන්න මනසක් හැම වෙලේම ක්‍රියාත්මක වෙන්නේ උඩු පැත්තට. නමුත් මේ ඝනීභවනය වෙච්ච මස් ලේ කය නිසා උඩට ඇදගෙන යන්න හදනකොට උඩට යන්න බෑ කය බරයි, යටට යන්න හදන කොට යටට යන්න බෑ කය පොළොවෙ හැපෙනවා.** මේ නිසා දෙපැත්තටම ඇදෙන්න විදියක් නෑ. හැබැයි අර පුංචි ළමයගේ ක්‍රියාකලාපයේදී සතුටු සිතින් උඩ පනින ගතියෙනුයි, දූෂිත වුණාම බිම පෙරළි පෙරළී යට යන්න හදන ගතියෙනුයි හොඳට පේනවා ගති දෙකේ ආකර්ෂණය කොයි පැත්තට ද තියෙන්නෙ කියල. නරක පැත්ත පහළට. හොඳ පැත්ත උඩට. වෙනසක් පේනවා.

අපි අහල තියෙනවා අපාය නරක පැත්ත හින්දා යටට යනවයි කියන කාරණයත්, දිව්‍ය ලෝකය හොඳ පැත්ත හින්දා උඩට යනවයි කියන කාරණයත්. එහෙනම් මුලදීම අපට පේන්න ගති ලක්ෂණයක් පහළ වුණා. දැන් අර මුලින් කියපු, මැරෙන කොට පිටවෙන මනෝමය ඇස්ට්‍රල් බොඩි ආදී වශයෙන් හඳුන්වන සියුම් කය මේ කියන වෙලාවේ උඩ පැත්තට යන ගතියක් තිබුණ නම්, ඒ සියුම් කය කොතනට යයිද? ඒ වගේම පහත් පැත්තට ගතියක් තියෙන වෙලාවක ඒ සියුම් කය පිටවුණා නම් ඒ ගති ලක්ෂණය ඇති කය කොතනට යයිද? **සියුම් කයට උඩට යන්න අමාරුවකුත් නෑ. ඒ සියුම් කයට පොළොව කිමිද ගෙන යටට යන්න අමාරුවකුත් නෑ.** නමුත් මස් ලේ සහිත ඝනීභවන කය නිසා ළමයා උඩට යන්නෙත් නෑ, උඩ පනිනවා විතරයි. පොළොවෙ හැපුනට යටට යන්න විදියකුත් නෑ, හැපෙනවා විතරයි. නමුත් ඒ උඩට හෝ පහළට යන්න පුළුවන් පරිසරයකට ගැලපෙන සූක්ෂම ශරීරයකින් පිටවුණා නම්, ඒ කයට ඔය දෙපැත්තටම යන්න පුළුවන්.

අපේ මේ ශරීර සියල්ලම එකවගේ පේන්න තිබුණට මේවායේ එකින් එකට වෙනස්කම් තියෙනවා. මේ වෙනස ඇති කරන්නේ මොනවායින් ද? ඒ ඒ අත් බව නිපදවාගෙන, ඒ ඒ කය හදාගන්න අවශ්‍ය ගති හිතක් පහල විය යුතුයි. ඒ පහල වෙන ගති ලක්ෂණය බලු නම්, බලු ගතියට අනුකූල ගති රුවක් හටගන්නවා. ඒ ගති රුවේ හැඩය තමයි බල්ලෙකුගේ රූපය. ඒ ගති ගුණය හරක් නම්, ගතියට අනුකූල රූපය හරක් රූපයක්. ගති ගුණය මිනිස් නම්, අනුකූල රූපය මිනිස් රූපයක්. ගතිය දෙව්ලොවට අයිති නම්, අනුකූල රූපය දෙව්ලොවට ගැළපෙන රූපයක්. ගතිය අපාගත ගතියකට අයිති නම්, ඒ ගතියේ රූපයත් අපා ගතියට අයිති රූපයක්. මේ විදියට **ගති රුව කියන එක ගති ගුණයට අනුව හැඩ ගැහෙනවා.** හැඩ ගැහිච්ච ගති රුවෙන් නිර්මාණය වන ශරීරය වටා සකස් වෙන ඊළඟ සතර මහා භූතයන්ගේ ඝනීභවන වූ එකතුව, ඒ ගති රූපයට අනුකූල ස්වරූපයකිනුයි සකස් වෙන්නේ. ඒක තමයි අපේ මස් ලේ ඇහැට පිටින් පේන්නේ.

එතකොට අර කලින් පෙන්වා දුන් කිරණක් වැනි සියුම් ශරීරය තමයි පටිසන්ධියකින් පසු මිනිස් හෝ තිරිසන් මව් ගැබකට ඇතුළු වෙන්නේ. ගන්ධබ්බයා හෙවත් අන්තරාභවිකයා, සංජාතිකයා යන නම්වලින් හඳුන්වන්නේ අද ''ඇස්ට්‍රල් බොඩි'' කියල හඳුන්වන ඒ සියුම් අවස්ථාවයි. මේ පිළිබඳව සවිස්තරාත්මක විග්‍රහයක් ඉදිරියේදී බලාපොරොත්තු වෙන්න.

කෙසේ හෝ මේ ලෝකයේ කිසියම් වූ ද්‍රව්‍ය පදාර්ථ දෙකක් එකට එකතු කරන්න ශක්තියක් නැතුව බෑ. මොනම හෝ දෙයක් චලනය වෙන්න, හැඩය වෙනස් කරන්න, තවත් වස්තුවක් කරා ළං වෙන්න, එකතු වෙන්න ශක්තියක් අවශ්‍යයි. පුරුෂ බීජාණුවක් හා ස්ත්‍රී බීජාණුවක් එකතු කර යුක්තාණුවක් නිර්මාණය කරන්නත් මේ කියන ශක්තිය අවශ්‍යයි. ඒ **යුක්තාණුව නිර්මාණය කරන්නේ ගැබට ඇතුළු වන ගන්ධබ්බයා හෙවත් සංජාතිකයාගේ කර්ම ශක්තියෙන්. හැබැයි මේ කියන කාරණය වෛද්‍ය විද්‍යාවට පටහැනි වෙන්න පුළුවන්. මොකද මේ කියන කර්ම ශක්තිය වෙනත් ශක්තීන් වගේ විi‍ාවට හසු කර ගන්න බෑ.** එහෙනම් අහම්බෙන් ලෝකයේ යම් කිසි ක්‍රියාවලියක් සිද්ධ වෙනවයි කිව්වොත් ඒකට හේතු නෑ. ඒක අහේතුක වාදයක්. කිසිම විද්‍යාවක් ඒක පිළිගන්නෙ නෑ. හේතුවක් නැති ඵලයක් පිළිගන්නවා නම් ඒක වැරදියි. න්‍යාය ධර්මයට එකඟ නෑ. මේ නිසා යම් කිසි ඵලයක් හට ගැනීමට හේතුව අපි දැනගත යුතුයි.

උදාහරණ විදිහට, අපි ගන්නා ආහාරවලින් කොහොමද මස්, ලේ, ඇට හැදෙන්නේ? එක ගෙදරක් ගත්තොත් ඒ ගෙදර මිනිස්සු ආහාර ගන්නවා. ඒ ආහාරම ගෙදර ඉන්න බල්ලටත් බළලටත් දෙනවා. දැන් තුන් කොටසගේම මස් ලේ වැඩෙනවා. නමුත් මිනිසාට මිනිස් ලේ මසුත්, බල්ලාට බලු ලේ මසුත්, බළලාට බළල් ලේ මසුත් වැඩෙනවා. එතකොට මේ තුන් කොටසගේ ලේ මස් වෙන් කරන්න පුළුවන්. ඒවායේ වෙනසක් තියෙනවා. නමුත් තුන් කොටස එකම ගෙදර එකම ආහාර අරගෙනයි ජීවත් වෙන්නේ. මස් ලේ ඇටකටු තුන්ගොල්ලන්ටම හැදුණා. නමුත් ඒවා වෙනස්. එක ජාතියේ ආහාර ගත්තත් පරිවර්තනය විවිධාකාරයි. එක ජාතියේ ආහාර ගත්තත් මේ විදිහට එකිනෙකට වෙනස් මාංශ පද්ධතියක්, නහර පද්ධතියක්, ඇටකටු පද්ධතියක්... ආදී වශයෙන් ශරීරයට අවශ්‍ය කොටස් නිපදවෙන්න **ආහාරය දිරවන්නේ කර්ම ශක්තිය මූලික කරගෙනයි.** ඒ ආහාරය ඉතාම කුඩා අංශුවලට කැඩි කැඩී ගිහින් අවසානයේ සාමාන්‍ය ලෝකයාට ගෝචර නොවන ශුද්ධාෂ්ටක නමින් හඳුන්වන ඕජා අෂ්ටමකය කියන රූප කලාපයට එනකල් කැඩෙනවා. එනම් ආපෝ, තේජෝ, වායෝ, පඨවි, වර්ණ, ගන්ධ, රස, ඕජා ☞

කියන මේ කොටස් අටක එකතුවකින් ලෝකයේ රූපයන් අතර ඉතාම කුඩා හා එයින් එහාට කඩන්න බැරි ඉතාම කුඩා රූප කොටසක් හැදෙනවා. අපි කන බොන ආහාරයත් මේ කියන තත්ත්වයට එනකල් කර්ම බලයෙන් බිඳෙනවා. ඒ ආහාරය බිඳින්න යන්ත්‍ර සූත්‍ර නෑ. කර්ම ශක්තියේ ක්‍රියාවලියට ගෝචර වෙන කොට කන බොන ආහාරය මේ විදිහට කැබලි වෙනවා. ඒ විදිහට කැබලි වෙලා ගිහින් අන්තිම කැබැල්ල තමයි ඕජා අෂ්ටමක රූප කලාපය කිව්වේ.

කර්ම ශක්තියෙන්ම මේ විදිහට හැඩ ගැසුණු ගන්ධබ්බයා මව් ගැබකට ඔක්කන්ති වෙනවා. ඒ කාරණය හරි ගැඹුරුයි. දිවැසකට විතරයි ගෝචර වෙන්නේ. ඒ ඒ සත්වයාට තියෙන ගතියෙන් අනුරූප ගති රුව අරගෙන, සම්පූර්ණ වෙච්ච සතෙකුගේ ස්වභාවයට ඒ කය හැඩ ගැහිලා, මරණාසන්න මොහොතේ ඒ ගති රූපයෙන් ගිහින් පටිසන්ධි වශයෙන් නැවත සන්ධි වීම කියන්නා වූ ජාතියට මුල් වෙලා, එක් අත්බවකින් තවත් අත්බවකට පරිවර්තනය වෙලා, එතනින් ඇතිවන අවස්ථාව තමයි මේ ගන්ධබ්බ කියන අවස්ථාව. මේ අවස්ථාවේ අවුරුදු සිය දහස් ගණනක් වුණත් සත්වයෙක් ඉන්න පුළුවන්. සුදුසු වෙලාවේදී මව් ගැබකට යනකල් කර්ම ශක්තියේ බලයෙන්මයි ඉන්නේ. හැබැයි මේ සූක්ෂම කායිකයාට තමන්ට ඕන විදිහට පාලනය ගෙනියන්න බෑ. ඒ ඒ තැනට ගෙනියන්නේ, උප්පත්ති කරන්නේ, අවශ්‍ය කරන පරිසරය හදන්නේ කර්ම ශක්තියේ පාලනයෙන්. ඒ කර්ම ශක්තියත් අප විසින්ම නිපදවා ගන්නා දෙයක්.

**සුචරිත හෝ දුෂ්චරිත කරලා ඊට අනුකූලව නිපදවා ගන්නා ශක්තිය විශ්වයට පිටවෙලා මේ ලෝකය හැදෙන්න මූලික වශයෙන් බලපානවා.** ලෝකයේ ක්‍රියාත්මක වන ශක්තිය තමයි මේ කර්ම ශක්තිය. ඒ කර්ම ශක්තියට ගෝචර වෙලා ගතියට අනුකූල ජාතිය පහල වීමට අවශ්‍ය ගැබ කරා ගෙනියනවා. ඒ ගැබේ සත්වයෙක් වශයෙන් මස් ලේ කයක ආරම්භය හට ගන්නවා. එහෙනම් මිනිස් ආකාරයකින් හටගත් වැඩපිළිවෙලකින් බලු ආකාරයක් අතරමගදී නිකන් පහල වෙන්න බෑ.

මිනිහෙක් මැරිලා බල්ලෙක් වෙන්න නම්, බලු ගතියක් ඇවිත් බලු ආකාරයට සකස් විය යුතුයි. මරණාසන්න මොහොතේදී බලු ගතියක් ඇවිත් තිබුණ නම්, එනම් බලු විදියට ක්‍රියා කරලා, කතා කරලා, හිතලා ඇති කරගත් ගති ලක්ෂණයක් ප්‍රගුණ වෙලා තිබුණ නම්, ඒක උපාදාන කරගෙන තිබුණ නම්, ඔහුට මැරෙන මොහොතේදී පහල වෙලා තියෙන්නෙ බලු ගතිය. මිනිස් කය තිබුණත් බලු ගතිය තමයි දැන් තියෙන්නේ. පෙර භවයෙන් ගෙනා මිනිස් ගති ලක්ෂණය ඉක්මවා ගිහින් තමන් ගොඩනගාගත් බලු වැඩපිළිවෙළින් ඇති වූ ගති ලක්ෂණය තමයි දැන් උප්පත්ති බවට ළං වෙලා තියෙන්නේ. ඊට අනුරූප වූ බලු



රූපයක් තමයි දැන් සූක්ෂම කායික විදිහට සකස් වෙලා තියෙන්නේ. නමුත් ඒක අපිට පිටින් පේන්නෙ නෑ. දිවැසට විතරයි ගෝචර වෙන්නේ. බලු විතරක් නෙවෙයි අනෙක් තිරිසන් සතුන්ගේ උප්පත්තියත් මේ විදිහටයි සකස් වෙන්නේ.

දැන් මේ කියපු ගතියට අනුරූප ගති රූපයන්ගේ ස්වරූපයන්වල වෙනස අපට දැක බලා ගන්න පුළුවන් අවස්ථාත් තියෙනවා. බලු කියන්නේ සතර අපායෙන් එකක් වන තිරිසන් අපායක උප්පත්තිය. බලු කයක් කියන්නේ දුක්ඛිත උප්පත්තියක්. ඒක දුකට ඔරොත්තු දෙන්න ඕන. **මිනිස් කයකින් ඔරොත්තු දෙන්න බැරි දුක, බලු කයකින් බල්ලෙකුට ඔරොත්තු දෙනවා.** කවුරු හරි, බල්ලෙකුට කැරකිලා යන්න ගලකින් ගැහුවොත් ඌ කෑ ගහගෙන දුවල ගියා එච්චරයි. ඒ ගල් පාරට ගෙඩියකුත් ඇවිත් ඉදිමිලා තියෙන්නත් පුළුවන්. නමුත් ඌට කිසිම ගාණක් නෑ. කෙඳිරිල්ලක්වත් නෑ. කොච්චර දරුණු පාරක් වුණත් ඌ ඒක ලෙව කකා ඉඳලා තුවාලෙත් ඉබේටම හොඳ කර ගන්නවා. ඔය අතරේ බලු රැලක් පොර කනවා දැක්කොත් අර වේදනාවත් එක්කම ඒ පොරයටත් පනිනවා. කෑම කන කොට ඒකටත් පොරකනවා. ඌට ගුටි කාලා තුවාල වුණා කියල කිසිම ගානක් නෑ. මේ විදිහට බලු කය දුක් විඳින්න හේතු කාරක වන තත්ත්වයෙනුයි නිර්මාණය වෙලා තියෙන්නේ. මිනිහෙකුට ගැහුවම ඉවසන්න බැරි වුණාට බල්ලෙකුට ඒ පහර කෑම ඉවසන්න පුළුවන්. හැබැයි රිදෙනවා. නමුත් ඔරොත්තු දෙන ශක්තිය තියෙනවා. ඒ තමයි බලු කයක ස්වභාවය.

හැබැයි මිනිහෙකුට ඔය වගේ පහරක් ගැහුවොත් රෝහල්ගත කරලා දින ගණනාවක් පැත්ත දාල තමයි යථා තත්ත්වයට ගන්න පුළුවන් වෙන්නේ. මේ නිසා **තිරිසන් සතෙකුගේ කයත් මනසත් ඒ ගතියට අනුරූප දුක විඳින්න පුළුවන් තත්ත්වයකිනුයි හැඩ ගැහිල තියෙන්නේ.**

හැබැයි තිරිසන් අපායේ දුක් විඳින මට්ටමටත් වැඩියෙන් ලෝක සත්වයා පව් කර ගන්නවා. සාමාන්‍යයෙන් බලු වැඩ, නීච වැඩ කියන ඒවා කළාම ලැබෙන විපාකයකින් බලු තිරිසන් අපායේ උපදිනවා. නමුත් බලු වැඩවලටත් වඩා අනුන්ට ගිනි දෙන ජාතියේ අන්ත වැඩ තියෙනවා. කෙනෙක් මරා දමනවා, ගෙවල් දොරවල් පුච්චා විනාශ කරනවා, කපල කොටල වධ දීල මරනවා. මේ වගේ අනුන්ට මහා ගිනි දෙන වැඩ කළොත් ඒ පාප කර්මය නිසා විඳින්න සිද්ධ වන දුක, අර කලින් කියපු බලු තිරිසන් දුකට වඩා වැඩියි. ඒකට බලු කර්ම ශක්තියේ ස්වභාවය මදි. ඊට වඩා බලවත් විදිහේ විපාකයක් ගෙන දෙන්න නම්, බලු ජාතියේ කයකට මනසකට වඩා අන්ත එකක් ☞

අවශ්‍යයි. එහෙනම් ගිනි ගන්නා තැනක, දැවෙන තැවෙන මට්ටමේ කරපු වැඩවලට ඒ ජාතියේ දැවෙන තැවෙන, ගිනි අරගෙන මහා විපාකයක් විඳින්න ඔරොත්තු දෙන කයක් ඒ පුද්ගලයාට නිපදවිය යුතුයි. මේ නිසා මස් ලේ සහිත කයකින් දරන්න බැරි මට්ටම විඳින්න, ඊටත් වඩා සූක්ෂම කයකින් උප්පත්තිය හට ගන්නවා.

උදාහරණ ලෙස කාබන්-ඩයොක්සයිඩ් වායුවට ගිනි තිබ්බොත් ඒක ගින්නට සැහෙන ප්‍රමාණයකින් ඔරොත්තු දෙනවා. නමුත් ලීයකට ගිනි තිබ්බොත් ඒක පිච්චෙනවා, ඔරොත්තු දෙන්නෙ නෑ. ලීය පිච්චිලා ඊටත් වඩා සූක්ෂම කාබන්ඩයොක්සයිඩ් කියන වායුව බවට පත් වෙනවා. ඒ කාබන්ඩයොක්සයිඩ් වායුව රත් කළත් සැහෙන මට්ටමකට එනකල් ඒක ගින්නට ඔරොත්තු දෙනවා. හීලියම් වගේ වායුවක් ගත්තොත් ඊටත් වඩා අධික තාපයකට ඔරොත්තු දෙනවා. දැන් මේ කියන වායූන් තවත් දෙයකට පරිවර්තනය නොවී ගින්නට තාපයට ඔරොත්තු දෙනවා. මේ විදිහට **ගිනි අපාය වගේ තැන්වල කායික වශයෙන්, මානසික වශයෙන් ඇති වන භය තැති ගැනුම් ආදී විශාල දාහයන්ට ඔරොත්තු දෙන්න නම්, ඒකට ගැළපෙන සූක්ෂම කායිකත්වයක් පිහිටිය යුතුයි. එතකොට ඒ අපා ගතියට ගැළපෙන්නා වූ සූක්ෂම කයක් ලැබුණම, ඊට අනුකූල ස්ථානය කරා විපාක විඳින්න කර්ම ශක්තියෙන්ම ඇදිල යනවා. ඒ විපාක විඳින ස්ථානය හැදිල තියෙන්නෙ විශාල දාහයන්ට හේතු වන ගිනි ජාලාවලින්.** ඒ ස්ථානය තමයි මේ මහ පොළොවේ මධ්‍යයට සම්බන්ධ වෙලා පවතින ලෝදිය හෙවත් එබඳු වන්නා වූ අභ්‍යන්තරයේ අධික උෂ්ණත්වයක් ඇති ප්‍රදේශය. කෙසේ හෝ එබඳු සූක්ෂම කයකින් ඒ දුකට ඔරොත්තු දෙන පරිසරයක ගිහින් උපදින එක තමයි මෙබඳු අපාගත වීමකදී සිදුවෙන්නේ. මේක වළක්වන්න අපි කාටවත් බෑ. ඒ තමයි න්‍යාය ධර්මය.

**නමුත් මේ වගේ අති සියුම් දේවල් නවීන විද්‍යාවටවත් හසු කර ගන්න බැරි නම්, ඒ කාරණය භෞතිකව ඔප්පු කරන්න බෑ. ඒ වුණත් සිද්ධ වෙන්නේ මේ සිද්ධාන්තයයි. ඒක දකින්න නම් දිවැසක් පහළ විය යුතුයි. අංශු මාත්‍රයක හෝ දිවැසක් පහළ වුණා නම්, ඒකටත් ඒ ඒ මට්ටමින් දකින්න පුළුවන්. ඒ ස්ථානයන්ට යන හැටි, කායික ස්වභාවය, දුක් විඳින හැටි ආදී මේ සියල්ලම දැක බලා ගන්න පුළුවන්.**

ඊළඟට මේ කියන පොළොව යට තියෙන අපායත් විවිධාකාරයි. යටින්ම තියෙනවා ගිනි පොළොවක්. ඒ ගිනි පොළොවට මත්තෙන් ඝනීභවන පොළොවක් තියෙනවා. ඒක ලෝහමයයි, ශෛලමයයි. ඒ මත හට ගන්නා මේ මහාද්වීප කියන ඒවා ඒ හා සම්බන්ධ නෑ. ඒ මතු පිට තිබෙන්නා වූ කාබනික පස් තට්ටුවක් හෙවත් මඩ පස් තට්ටුවක් සහිත, ජල පස් තට්ටුවක් සහිත තැනක ජලයේ පාවෙන පොල් ගෙඩි වගෙයි මේ මහාද්වීප සියල්ලම ඒ මත පාවෙනවා. මේ කියන පාවෙන තත්ත්වයෙන් ගිහින් අට මහා නරකය වගේ ඊටත් වඩා ඝනීභවන තැන් තියෙනවා. ඒවායේ විපාකයන් ඊටත් වඩා දරුණුයි. හැම තිස්සේම දැවෙන පිච්චෙන ස්වභාවයෙන් යුක්ත දුක්ඛ සංඥාවමයි තියෙන්නේ. ආයුෂත් කල්ප ගණන්.

එහෙනම් අපායක් හට ගැනීමට නම් කර්ම ශක්තියෙන් හටගත් සක්වලක් තිබිය යුතුයි. විවිධාකාර චක්‍රවලින් වැහිල තියෙන තැනකයි අපි මේ ක්‍රියාත්මක වෙන්නෙත්, ජීවත් වෙන්නෙත්. චක්‍රවලින් වසා ගත් යම් කිසි සම්පිණ්ඩනයකට අපි ආලය කරනවා. ඒ තුළ තමයි මේ සත්වයා සැරි සරන්නේ. ඒ නිසා තමයි චක්‍ර + වහ + ආල =චක්‍රාවාල කියන්නේ. චක්‍රවලින් වැහුණු තැන ආලය කරන්නේ චක්‍රාවාලයි. මේකටම තමයි සක්වළ කිව්වේ. එහෙනම් මිනිස් ලෝකය සහිත, ග්‍රහලෝක සහිත ඒ ප්‍රදේශයට අවශ්‍ය ප්‍රමාණයට පිහිටන දෙව්ලොව, බඹලොව සහිත එක්තරා පොදියක් තියෙනවා. ඒ එක සක්වළක් හෙවත් චක්‍රාවාලයක්. මේ තුළ තමයි අපේ කැරකැවෙන සියලුම චක්‍ර තියෙන්නේ. එනම් දෙවියෙක් වෙලා කැරකැවෙනවා, බ්‍රහ්මයෙක් වෙලා කැරකැවෙනවා, මනුෂ්‍යයෙක් වෙලා කැරකැවෙනවා, තිරිසනෙක් වෙලා කරකැවෙනවා... මේ ආදී වශයෙන් විවිධ ස්ථානවල කැරකැවෙනවා. ක්ෂීරපථය ආදී විවිධ නම්වලින් මේ ප්‍රදේශය හඳුන්වනවා. සත්ත්වයෙකුට අවශ්‍ය වන්නා වූ ප්‍රමාණයට, අවශ්‍ය පරිසරයට, අවශ්‍ය කරන ආලෝක ධාරා සියල්ලම තියෙන්නේ එක්තරා ප්‍රදේශයක. එක ප්‍රදේශයකට එක සක්වළක් කිව්වම ඒ එක සක්වළකට ගැළපෙන මිනිස් පරිසරයකුත්, දේව බ්‍රහ්ම පරිසරයකුත්, සතර අපාගත පරිසරයකුත් තියෙනවා. ඒ පරිසරයට අවශ්‍ය කරන්නා වූ ආධාරක ග්‍රහලෝක වෙනමම පිහිටල තියෙනවා. ඒවා විපාක ස්කන්ධ.

චන්ද්‍ර සූර්යා පහළ වුණේ කොහොමද කියල අපේ ධර්මයේම සඳහන් වෙනවා. මිනිසාගේ බලාපොරොත්තුව මුල් කරගෙන ස්වයං ප්‍රභා හෙවත් තමාගේ ශරීරයම ආලෝක කරගෙන යන්න පුළුවන් වෙච්ච ආදි කල්පික, බ්‍රහ්ම කල්පික මනුෂ්‍යයන්ගේ තිබුණු සත් ගුණවත් ගති නැතිවෙලා ක්‍රමයෙන් දූෂිත වෙනකොට, ඒ ආලෝකය දුරු වෙලා ගිහින් අඳුරු වෙලා, අනේ අපට කාර්ය ගුරුත්වයෙන් වැඩ කරන්න දැන් එළියක් ආලෝකයක් නැහැනේ කියමින් දුක් වෙවී, එහෙම ආලෝකයක් අපි කාටත් තිබුණා නම් කියල බලාපොරොත්තු ඇති වෙන කොට, එහි ප්‍රතිඵලයක් ලෙස සූර්යා පහළ වුණා. සූර්යා නැගිලා නැවත වැහිල යන අවස්ථාව එනකොට රාත්‍රී කාලයක් එනවා. ඒ කාලය අඳුරු වෙන කොට, අනේ අපට පහසුවෙන් ක්‍රියාත්මක වෙන්න පුළුවන් සියුම් ක්‍රමයක් තිබුණා නම් කියල බලාපොරොත්තු ඇති වෙන කොට, පටිච්ච සමුප්පන්නව චන්ද්‍රයා පහළ වුණා. මේ තමයි චන්ද්‍ර සූර්යා පහළ වීමේ මුල.

මීට අමතරව තවත් තාරකා ග්‍රහ ලෝක ආදිය තියෙනවා. නමුත් මේවා පහළ වෙන්න පෙර මනුස්සයන් බලාපොරොත්තු වූ දේවල්, මිනිසා තුළ තිබූ උතුම් ගුණධර්ම, යහපතට අවශ්‍ය කරන කාරණා නිසා බාහිරින් ලබා ගැනීමේ අවශ්‍යතාවක් තිබුණෙ නෑ. මිනිසාගේ ගුණධර්ම නිසා ඒවා සියල්ලෙන්ම පූර්ණ වෙලයි තිබුණේ. මනුෂ්‍යයා ඒ ගුණ ධර්මවලින් පිරිහෙන කොට තමා ළඟ තිබුණු ''ස්ව'' කියන ගුණ තමාගෙන් ඉවතට විසි වෙලා ඒක තමයි විශ්ව කියල හැදුණේ. තමා ආලෝකයෙන් දුරු වෙලා අඳුරු ධර්ම කරා යනකොට තමා ළඟ තිබුණු ආලෝකය ඉවතට විසි වුණා. විසි වෙන්න පෙර ග්‍රහණය කරගෙන හිටපු එක තමයි ග්‍රහ කිව්වේ. විසි වුණා මිසක් නැතිවුණේ නෑ. දුරට අස් වුණා හෙවත් දුරස් වුණු එකයි සිද්ධ වුණේ. අස්වෙච්ච දුර තමයි ග්‍රහ ලෝකයේ සිට මනුෂ්‍ය ලෝකයට තියෙන දුර. **ඒ ග්‍රහ ලෝක කිව්වේ ඈත ඉඳන් තමන්ගේ අවශ්‍යතාවන් ඉටු කර ගන්න, තමා තුළත් සියලු සත්වයන්ගේමත් තිබුණා වූ පොදු ශක්තීන් පහළ කරපු සම්පිණ්ඩනයයි. ඒ ග්‍රහ ලෝකවල තිබිල අපි කරා ඒ ඒ ශක්ති විශේෂයන් සම්බන්ධ වෙනවා. ග්‍රහ බලපෑම් කියන්නෙ ඒකයි.**

අප විසින් ග්‍රහණය කර ගත් දේට විපාක ස්කන්ධය අරගෙන උපදින කොට, ඒ විපාක ස්කන්ධය ක්‍රියාත්මක වෙන්න යමකට සම්බන්ධ ලෝකයකින් අප කරා යමක් ආ යුතු ද, ඒ ඒ ලෝකයෙන්මයි අපට විපාක එන්නේ. ''අපි කරපු පව් අපට එල දෙනවා තාරකා මොනවා කරන්නද? තමන්ගේ වැඩය කර ගන්නෙ නැතිව මෝඩයෝ නැකැත් එනකල් බලා ඉන්නවා!" මෙහෙමත් බුද්ධ

දේශනාවක් තියෙනවා. නමුත් මේ කාරණයත් අද වරදවා තේරුම් අරගෙනයි තියෙන්නේ. යමෙක් තමාගේ අත පිච්චුණා කියල ගින්දරට බැන්නොත් මොළේ තියෙන කෙනෙක් කියනවා, උඹේ තියෙන නොසැලකිලිමත්කමට අත පුච්ච ගත්තට ගින්දර මොනවා කරන්නද කියල. කතාව ඇත්ත. ගින්දරට බැණ බැණ හිටියොත් ඒක මෝඩකමක්. නමුත් ඒ කියන්නේ ගින්දරට අත පිච්චුණේ නෑ කියන එකද? නොසැලකිලිමත්කම අත පිච්චුවද? නැතිනම් නොසැලකිලිමත්කම නිසා ගින්දරට අත පිච්චුණාද? ගින්දර වැරදි ආකාරයෙන් පරිහරණය කරන්න ගිය නිසා ගින්දරට අත පිච්චුණාද? ගින්දර සම්බන්ධයක් නැතිව නොසැලකිලිමත්කම නිසා විතරක් අත පිච්චුණේ නෑ. එහෙනම් යථාර්ථය මොකක්ද? නොසැලකිලිමත්කම මුල් කරගෙන අනිසි විදිහට ගින්දර පරිහරණයෙන් අත පුච්ච ගත්තා. දැන් ගින්දරට බැණල වැඩක් නෑ. හැබැයි ගින්දර නෙවෙයිද පිච්චුවේ? ගින්දර පිච්චෙන දෙයක් වුණේ නැද්ද? එහෙනම් **ග්‍රහ වස්තූන්ගෙන් අපට බලයක් එන්නෙ නෑ කියන කතාවත් බුද්ධ දේශනාව වැරදියට අරගෙන කරන මෝඩ කතාවක්.** ඒ වගේ බුදුන් වහන්සේ කියනවා තමන් කර ගත්තා වූ පාප ධර්මයන් තමන්ට ඵල දෙනවා, ග්‍රහ වස්තු මොනවා කරන්නද කියල. නමුත් **උන්වහන්සේ දේශනා කළේ නෑ ග්‍රහ වස්තුවලට බලයක් නෑ කියල.**

තම තමන් කරගත් පුණ්‍ය කර්ම හෝ පාප කර්ම තමන්ට ඵල දෙනවා. හැබැයි පුණ්‍ය කර්මයක් හෝ පාප කර්මයක් අපිට විපාක දෙන්න, විපාකයක් අපි කරා එන්නෙ මොකක් නිසාද? අපි පවක් හෝ පිනක් කළා. පින හෝ පව අපිට විපාක ගෙනත් දෙන්නෙ මේ ලෝකයේ බාහිර ද්‍රව්‍ය වස්තු ආධාර කරගෙනද, එහෙමත් නැත්නම් ඒවා ඉවත් කරලා වෙනත් විදියකටද?

උදාහරණයක් ගනිමු. සීවලී මහ රහතන් වහන්සේට ගිය ගිය තැන දානය ලැබුනා. ඒක පිනේ ප්‍රතිඵලයක්. එතකොට ඒ පිනේ ප්‍රතිඵලය ඵල දුන්නේ අමුතු ක්‍රමයකින්ද, නැතිනම් ගෙවල්වල ඉන්න පින්වතුන් හදල ගෙනත් දුන්න දන් පත් නිසාද? උන් වහන්සේ වඩිනකොට ඒ සමග වඩින මුළු පිරිසටම දානය ලැබුනා. ඒ දානය කොහෙන්ද? මේ ලෝකයේ භෞතික වස්තූන් විදියට තියෙන හාල්, එළවලු ආදිය උයලා පිහලා සකස් කරලා, ගෙවල්වල ඉන්න අය කවුරුන් හෝ උන් වහන්සේට පූජා කළා. ඒ තමයි මතුපිටින් පෙනෙන ක්‍රියාවලිය. පින ඵල දුන්නේ එහෙමයි. එහෙනම් මේ භෞතික වස්තූන් ආධාර කරගෙන මිසක් වෙන ක්‍රමයකින් පින් ඵල දෙනවද? (දෙවියන් හෝ වෙනත් කවුරුන් හෝ විසින් මවල දුන්නත් ඒකත් භෞතිකයි. අපි ඒකට ගුප්තයි කියල කියන්නෙ අපිට හොයාගන්න බැරි නිසයි) එතකොට පවක් ඵල දෙන්නෙ කොහොමද? මේ ලෝකයේම තියෙන භෞතික වස්තූන්ගේ ආධාරයෙන්, ඒවායේ මෙහෙයවීමෙන් සිදුවන ක්‍රියාවලිය තුලින් අපිට අනිෂ්ට විපාකයන් එනවා. පින් පව් ඵල දෙන්නේ මේ විදියට මිසක් වෙන මොන ක්‍රමයකින්ද? එහෙනම් **අපි කරන ලද පිනක් හෝ පවක් අපිට ඵල දෙන්නේ මේ ලෝකයේම තියෙන දෙයක් අපි කරා ක්‍රියාත්මක වීමෙන්.**

බුදුරජාණන් වහන්සේ දේශනා **කරනවා, පෙර අත්බැව්වලදී කරගත් පාප කර්මවලට විපාක දොළහක් උන් වහන්සේටත් ඵල දුන්නා කියල.** දෙව්දත් තෙර ගල් පෙරලා ශ්‍රී පාදයෙන් ලේ ගළපු එකත් උන්වහන්සේ පෙර කරගත් පාප කර්මයක් නිසා සිද්ධ වූ බව උන් වහන්සේම දේශනා කළා. එහෙනම් ඒ පාපය ඵල දුන්නේ කවුරුන් අතින් කොහොමද? කර්ම ශක්තිය නිකම්ම ඇවිදින් උන් වහන්සේගේ ශ්‍රී පතුල තුවාළ කළාද? නැතිනම් දෙව්දත් තෙර ගල් පෙරලනකොට ඒ ගල් පතුරක් ඇවිත් ඒ නිසා ලේ ඉපැද්දුනාද? හැබැයි බුදුරජාණන් වහන්සේ ගල් පතුරට දොස් කිය කියා හිටියෙ නෑ. මොකද සර්ව සම්පූර්ණ ප්‍රඥාවෙන් යුත් උත්තමයන් කවදාවත් ඒවගේ මෝඩකම් කරන්නෙ නෑ. නමුත් මේ ලෝකෙ ඉන්න මිනිස්සුන්ටත් එහෙම ගල් පතුරක් වැදුන නම්, සමහර අය ගලටත් පයින් ගහලයි යන්නෙ. එහෙම මිනිස්සුත් ලෝකෙ ඉන්නවා. ඒක මෝඩ කමක්. තමන් කරගත් පාප කර්මය තමන්ට ඵල දුන්නට ගල් පතුර මොනවා කරන්නද? ඒ වගේ බුදුන් වහන්සේගේ ලේ ඉපැද්දුනේ ගල් පතුරක් වැදිල තමයි. ''මම කරපු පාප කර්මය මට ඵල දුන්නා. දෙව්දත් ථෙර මොනවා කරන්නද? දෙව්දත් ථෙරත් ආනන්තරික පාපයක් නම් කරගත්තා. ගල් පතුර මොනවා කරන්නද?'' උන් වහන්සේ මෙහෙම දේශනා කළා මිසක් දෙව්දත් ථෙරට දොස් කිව්වෙත් නෑ, ගලට දොස් කිව්වෙත් නෑ. හැබැයි උන්වහන්සේ දැනගත්තා දෙව්දත් ථෙර ගල් පෙරළලා ගල් පතුරක් ඇවිත් තමයි ලේ ඉපැද්දුවේ කියල. ඒ කියන්නෙ ඒවායින් අවැඩක් නොවුන කියන එකද? නෑ. **පාපය ඵල දෙන්න භෞතික වස්තූන් අපට සම්බන්ධ විය යුතුයි. භෞතික ලෝකයේ වස්තුවක් සම්බන්ධ නොවී මොනම විදියකින් වත් පිනක් හෝ පවක් ඵල දෙන්න විදියක් නෑ.**

එහෙනම් ග්‍රහ බලපෑම් කියල **කියන්නේ අපි කරන ලද්දා වූ පින් පව් දෙකට අනුකූලව මේ විශ්වයේ තිබෙන්නා වූ සූක්ෂම වේවා, ඝනීභවන වේවා, ඒ ඒ රූප ආදී කොට්ඨාශ අපට ප්‍රතිචාර දක්වන්න යම් වැඩ පිළිවෙලක් සකස් වීමයි.** එතකොට අවශ්‍ය කරන ඉෂ්ටානිෂ්ට විපාක ලබා දෙන්න මේ භෞතික පරිසරයත් සකස් වෙනවා. බුදුරජාණන් වහන්සේ බුදු වන අවස්ථාව වෙන කොට මේ භෞතික පරිසරය කොච්චර නම් බලපෑවද? **වෙසක් පුන් පොහෝ දින උදෑසන බුදු වෙච්ච කෙනෙක් හැර වෙනත් දවසක වෙනත් වෙලාවක බුදු වෙච්ච කෙනෙක් නෑ. එහෙනම් බුදු වෙන්නත් සඳේ බලපෑම තිබිල නැද්ද? මධ්‍ය දේශය කියන ප්‍රදේශය තුළ, ජය ශ්‍රී මහා බෝධීන් වහන්සේ නමක් ලඟ බුදු වුනා මිසක් ගල් ගෙයක, මාළිගාවක හෝ වෙනත් ස්ථානයක බුදු වුන කෙනෙක් ගැන සඳහන් වෙනවද?** පසේ බුදුවරු නම් මාර්ගයක වඩිනකොටත් බුදු වෙලා තියෙනවා. **මාළිගාවක ඉඳගෙන බලාගෙන ඉන්න වෙලාවකත් ගැලපෙන අරමුණක් දැකල රජ කෙනෙක් පසේ බුදු වෙලා තියෙනවා.** අරිහත්වයට පත් වෙන්නත් එහෙම විශේෂ තත්ත්ව නෑ. නමුත් ලොව්තුරා බුදුවීම එහෙම නෑ. ඒකට කාලයක්, දිසාවක්, නැකතක්, ස්ථානයක් තියෙනවා. වෙසක් පුන් පොහෝ දිනක වජ්‍රාසනයක් මත නැගෙනහිර බලාගෙනයි බුදු වුනේ. ඒ නිසා පරිසරය බලපෑවා. හැබැයි ලොව්තුරා බුදු වෙන්න වෙන කවුරු හරි එතැන හිටගෙන හිටියට හරි යන්නෙ නෑ. ''මනංච පටිච්ච ධම්මෙච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං'' කියල අපිට හිත් හටගන්නා සිද්ධාන්තයක් තියෙනවා. මේ හිත් නිකන් හටගන්නෙ නෑ. කුසල විඤ්ඤාණයක් හෝ අකුසල විඤ්ඤාණයක් හෝ හටගැනීමට අවශ්‍ය කරන සිද්ධාන්තයක් තියෙනවා. ඒකට කොයි වෙලාවක හෝ මනයි ධර්මයයි ඝට්ඨනය විය යුතුයි. ඒකෙ ප්‍රතිඵලය තමයි මනෝ විඤ්ඤාණයක ආරම්භය. ඒ නිසා මේ කාරණය විමසිලිමත්ව තේරුම් ගත යුතුයි.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්.)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

**අභයරතනාලංකාරය - 12**

# යේසුස් වහන්සේ මුණගැසුණු අවස්ථාවක්....



*(පසුගිය කලාපයෙන් -*
*මිනිස් සිරුරට අරක් ගත් අමනුෂ්‍ය බලවේග පලවා හැරි ගුප්ත ලොව ප්‍රතිකර්ම)*

**- වහරක අභයරතනාලංකාර හිමි**

මා මහණ වෙන්න පෙර සිදුවෙච්ච තවත් වැදගත් සිදුවීමක් තමයි මේ විස්තර කරන්නේ. අද භික්ෂුවක් විදිහට මේ අත්දැකීම විස්තර කිරීම නිසා සමහර විට ගරුතර මහා සංඝරත්නයෙන් මාගේ කියමන අන්‍යාගමික පිරිස්වලට හිස එසවීමට රුකුලක් වෙතැයිද, මූලධර්මවාදී පිරිස්වලට අනුබල දෙන බොරුවක් වේ යැයිද කියා අපවාදයකට ලක්වීමටත් හේතු විය හැකි නමුත්, මා දැකපු විශේෂ අත්දැකීම් මේ විදිහට විස්තර කරන්නේ එබඳු ඊර්ෂ්‍යා ම්ලේච්ච අදහසකින් නෙමෙයි; මේවා විමර්ෂණය කරන අයට කවදා හෝ මේවායේ සත්‍ය ස්වභාවය වටහා ගන්න රුකුලක් විය හැකි නිසයි.

මට මතක හැටියට මේ සිද්ධිය සිද්ධ වුනේ 1992 වර්ෂයේදී පමණ. සිද්ධිය එදා දින පොතක සටහන් කර තිබුණත් අද ඒක හොයාගන්න අපහසුයි. පොත විනාශ වෙලා නෑ. කොහේ හරි තියෙන්න පුළුවන්. දිනය දෙසැම්බර් මාසයේ 25 වෙනිදා දිනක්. එදා සිකුරාදා දිනයක් බවත් හොඳට මතකයි. වේයන්ගොඩ ප්‍රදේශයේ දඩගමුව නම් ගමේ ආයුර්වේද වෙද මහතෙකුගේ නිවසක මා ගුප්ත කටයුතු කරපු කාලයක් තමයි මේ.

බුද්ධ දේශනා ගාථාවල බලය අසීමිතයි. එකල මට වැටහුණු ක්‍රමවේදයක් අනුව බුදුපියාණන් වහන්සේ සන්තති නම් ඇමතිට කරපු දේශනාවකදී ඒ ඇමති අරිහත්වයට පත්වීමත්, ඒ වෙලාවේම පිරිනිවන් පෑමට හේතු වීමත් මුල් කරගෙන බුදු මුවින් දේශිත ගාථා රත්නයක් තමයි මේ.

අලංකතෝ චේපි සමං ච රෙය්‍ය
සන්තෝ දන්තෝ නියතෝ බ්‍රහ්මචාරි
සබ්බේ සු භූතේසු නිධාය දණ්ඩං
සෝ බ්‍රාහ්මණෝ සෝ සමණෝ ස භික්ඛු

මේ ගාථාව අල්කිරීම් නොකර බැඳි අකුරු එකක් ලෙස ගත් විට අකුරු 44 කි. ඒ මෙසේය.

අ ලං ක තො වෙ පි ස මං ච රෙ යය
ස නෙතා ද නෙතා නි ය තො බ්‍ර හම චා රි
ස බෙබ සු භූ තෙ සු නි ධා ය ද ණඩං
සො බ්‍රා හම ණො සො ස ම ණො ස භි ක්ඛු

මේ ගාථාවේ ලකුණු කරල තියෙන විදිහට අක්ෂර 44 යි. 1:3 අනුපාතයට අඟල් 1.5 ක් පළල අඟල් 4.5 ක් දිග තඹ කොලයක් අරගෙන රන් ආලේප කර ඉරි නොකැපෙන ලෙස ළඟ ළඟ ඉරි දෙක බැගින් සිටින ලෙස ගැබ් 44 ක් සුභ හෝරාවකින් පිහිටවා, සුභ හෝරාවකින් පළමු අකුරත් පිහිටවා මේ යන්ත්‍රය ඇඳගත යුතුයි.

දිට්ඨී (මේවාට ප්‍රිය කරන මන්ත්‍රාධිපති දේවතාවන්ගේ බැල්ම වැටීම සඳහා), ප්‍රාණ (එය ශක්ති පිහිටුවා බල ගැන්වීම සඳහා), පලිප්පු (ඔප් නංවා දීප්තිමත් කිරීම සඳහා), පුට (නැවතත් වෙනස් නොවී ශුද්ධ ඇතිව පිහිටන්න ස්ථිර කිරීම සඳහා), සිද්ධි (එය බල නංවා දීම සඳහා) යන පරිවාර මන්ත්‍ර වෙනුවට පිළිවෙලින් සබ්බ පාපස්ස..., සබ්බීතියෝ...., යං කිංචි චිත්තං...., යන් දුන් නිමිත්තං... (මේ ගාථාවට අදාල ගාථා 3 එක කොටසක් ලෙස ගත යුතුයි), සබ්බේ බුද්ධා බලප්පත්තා,...... අභිවාදන සීලිස්ස... යන ගාථාවන් 7, 14, 21, 28, 108... ආදී වශයෙන් ගෙන අලංකතෝ ගාථාවේ ජීවම් වාර 108, 324, 1008, ඊට වැඩි... යන ක්‍රම අනුව මල් බුලත් ආසනයක පහනක් තබා සුවඳ දෙමින් කරන සෙත් ශාන්ති ජීවමක් ඒ කාලයේ සිද්ධ කළා. මේවා පුදුම සහගත අත්දැකීම්.

පිංවතුන්ගේ දැනගැනීම පිණිස ඒ ක්‍රමය මෙසේය. ඉහත එක් කොටසක් ලෙස ගතයුතු ගාථා තුන නම්, යං දුන් නිමිත්තං අවමංගලංච - යෝචා මනාපෝ සකුණස්ස සද්දෝ, පාපග්ගහෝ දුස් සුපිනං අකන්තං - 1. බුද්ධානු භාවේන විනාස මෙන්තු, 2. ධම්මානු භාවේන විනාස මෙන්තු, 3. සංඝානු භාවේන විනාස මෙන්තු

ගාථා තුනේ අග පදය පමණක් මෙසේ වෙනස් වන අතර, මේ තුනම එකක් ලෙස ගෙන අනිත් ගාථා මෙන් 7, 14, 21, 28, 108 ආදී ලෙස සුදුසු පරිදි ගතයුතුයි.

ගාථා ජීවම සහ පරිවාර ගාථා යොදාගන්නා ක්‍රමවේදය: අලංකතෝ ගාථාව 108 වරක් ජීවම් කරගන්න අවශ්‍ය නම්, දිට්ඨී මන්ත්‍රය වෙනුවට සබ්බ පාපස්ස ගාථාව 7 වරක් ද, ප්‍රාණ මන්ත්‍රය වෙනුවට සබ්බීතියෝ සහ යං කිංචි චිත්තං යන ගාථා 7 වර බැගින් ද, පලිප්පු මන්ත්‍රය වෙනුවට යං දුන් නිමිත්තං ගාථා තුන 7 වර බැගින්ද කිව යුතුයි. මෙසේ පළමුව දිට්ඨී, ප්‍රාණ, පලිප්පු පිහිටවීමෙන් පසු ජීවම් මන්ත්‍රය වෙනුවට අලංකතෝ ගාථාව 108 වරක් කිව යුතුයි. මෙසේ 108 වරක් ජීවම් කළ පසු පුට මන්ත්‍රය වෙනුවට සබ්බේ බුද්ධා බලප්පත්තා ගාථාව 7 වරක් ද, සිද්ධි මන්ත්‍රය වෙනුවට අභිවාදන සීලිස්ස ගාථාව 7 වරක් ද කිව යුතුයි. දැන් වාර 108 ජීවම සම්පූර්ණයි. ජීවම් වාර 324 හෝ 1008 වරක් කරන්නේ නම් ඉහත කී ලෙසම දිට්ඨී, ප්‍රාණ, පලිප්පු... ආදී ගාථා ගැලපෙන ලෙස 14, 28... ආදී ලෙස වැඩි කර පෙර පරිදිම කරගත යුතුයි.

මෙබඳු ජීවමක් කරමින් හිටපු දවසක් තමයි ඉහත කී දෙසැම්බර් 25 වැනි සිකුරාදා දිනය. වෙලාව රාත්‍රී 10 ට විතර ඇති. හිටි ගමන් සුදු ආලෝක කඳක් මිනිස් සිරුරක ස්වභාවයෙන් දිස් වුණා. විවිධ අවස්ථාවල එබඳු අත්දැකීම් ලබල පුරුදු මට ඒක අති විශේෂයක් වුනේ නෑ. ඒ නිසා මම කරගෙන ගිය ගාථා ජීවම දිගටම කරගෙන ගියා. විටින් විට ඉහත කී එළිය දෙසත් බැලුවා. මේක විශේෂ එළියක් බව ☞

පසුව මට පෙනී ගියා. එනම් යේසු ස්වාමි දරුවන් ලෙස කිතුණුවන් විසින් හඳුන්වන එතුමාගේ රූපය තමයි මේ දිස් වුණේ. මම මගේ පාඩුවේ ජීවම තවත් පැය කාලක් පමණ කරගෙන ගියත් එතුමාගේ දර්ශනය තවම පෙනෙන නිසා ජීවම තාවකාලිකව නවත්වන සබ්බේ බුද්ධා බලප්පත්තා යන ගාථාවෙන් තුන් වරක් කියා ජීවම් නූල මල් යහනේ තබා එතුමා දෙස බලා සිටියා.

ඔබතුමා යේසුස් වහන්සේද? මම හිතින් ප්‍රශ්නයක් නැගුවා. එතුමා එය එසේ යැයි අනුමත කළා. මේ නත්තල් දිනය බව මට අමතකයි. මොකද ඒ ගැන හොයන්න විශේෂයකුත් මට තිබුණෙ නැති නිසා. මා ඉදිරියේ පෙනී සිටින්නේ ඇයි දැයි මම එතුමාගෙන් ඇහුවා. (මේ ගැන මෙසේ පැවසුවාට කිතුණු බැතිමතුන් මා සමග අමනාප නොවෙත්වා.) මම කොහේ පෙනී සිටින්නද? මගේ කියපු පිරිස තිරිසන් වෙලා වන වැදිලා යැයි ප්‍රකාශ කළ එතුමා, මම ලෝකයට ප්‍රකාශ කළේ අහිංසක මනුෂ්‍යයන්ට තම දරුවන්ට වගේ සලකන්නැයි කියා, දණහිසෙන් උඩට පරණ රෙදි කඩක් ඇඳ සිටි කළු කෙට්ටු කම්කරුවෙක් වම් අතින් වඩාගෙන පෙන්නුවා. ඊළඟට අහිසංක සතුන්ට කරුණාව දක්වන්නැයි කියා දකුණු අතින් බැටළු පැටියෙක් හෝ හාවෙක් මවා උගේ ඇඟ පිරිමැද්දා. ඉන් පසු, මේ මා ලොවට දේශනා කළ දහමයි කියා, අර බලන්නැයි එක දිසාවකට අත දිගු කළා. ඒ පෙදෙස වනාන්තරයක්. ගස් අතරින් පෙනුනේ පල්ලියක්. එහි විවිධ පිරිස් ලස්සන හැඩ වැඩ ඇඳුම් ඇඳගෙන සැරිසරනවා. නමුත් ඒ අයගේ හිස සමහර විට බලු හිසක්. නැත්නම් ගව හිසක්, බළල් හිසක්. එහෙමත් නැත්නම් කොටි, වලස්, නරි ආදීන්ගේ හිස්. තවත් සමහරුන්ගේ ශරීර සත්ත්ව ශරීර වගෙයි, නමුත් හිස මිනිස්.

මගේ පිරිස වන වැදිලා තිරිසන් වෙලා යැයි කියමින් වඩාගෙන හිටපු මිනිසා සහ අතගාපු සතා යලි පෙන්වමින් ''මම කීවේ මේ ධර්මයයි, ඒ පිරිස් තුළ මම කියපු ධර්මය නෑ. මම කිව්වෙ අහිංසක මනුෂ්‍යයන්ට තම දරුවන්ට වගේ සලකන්නත්, අහිංසක සතුන්ට කරුණාව දක්වන්නත් කියල'' යැයි මෙහෙම කියමින් එතුමා මේ සිද්ධිය චක්‍රයක් වගේ දිගින් දිගටම පෙන්වන්න වුණා.

එතුමා ඇඳ සිටියේ සුදු ලෝගුවක් වගේ කලිසමක්. පෙරවාගෙන හිටපු සුදු සාටකය පපුව වැහෙන මාල වැනි රැලි සහිතවත්, ඊට උඩින් අත් දෙක වැහෙන්නත්, ඉදිරියෙන් අත් දෙක ඉවතට ගන්නත් හැකි වන සේ තිබූ ඇඳුමක්. මම ඇඳුමේ පිටිපස කෙසේදැයි හිතූ විට එතුමා පිටුපස හැරී පෙන්නුවා. පිටිපස ඇඟත් සුදු වතකින් වැසී කතිර හැඩයට ගිය පටි දෙකක් පිට පෙදෙසේ දිස් වුණා. ලෝගුව දණහිසෙන් පහලටත් දිගයි.

ඉන්පසු එතුමා, මේ බලන්න මේ ධර්මය ලෝකයට දෙන්න ගිහින් මට ඔවුන් දුන් දඬුවමයි කියා හිසට කටු ඔටුන්නක් මවා පෙන්නුවා. ඒක හදල තිබුණේ කටු කම්බි වලල්ලක හතර පැත්තෙන් උඩට ගිය කම්බි පොටවල් හතරක් එකතු වී යලි ඇඹරී එකක් ලෙස ගිහින් වද මලක් මුදුනේ සිටින ලෙසයි. ඒක හිසට බස්සවනකොට කම්බි කටුවලට තුවාල වෙලා හතර පොලක විතර ලේ ගලා ගිහින් තිබුණා. එතුමා ඒවා පෙන්වා, මේවායින් මා අධෛර්යට පත් කළ නොහැකියි, මා ක්‍රියාත්මක යැයි පැවසුවා. මේ ගැන මට කියන්න හේතුව ඇයිදැයි මා එතුමාගෙන් ඇසූ විට, ''මේ කියන ධර්මය ඔබ ළඟ තියෙනවා. බුදුන් වහන්සේත් ඒක අනුමත කරල තියෙනවා. මම ඒ ගුණයට ගරු කරමි'' යනුවෙන්



පැවසුවා. සෑහෙන වෙලාවක් මම මේ දර්ශනය දිහා බලාගෙන ඉඳල රාත්‍රී එකොලහට විතර ගිහින් නිදා ගත්තා.

ඊළඟ දිනයේ උදේ අටට පමණ මම නැවතත් මල් යහන ලඟට ගිහින් ඉඳගත්තම එතුමා නැවතත් පෙනී සිටියා. ඔබතුමා මට කරන්න කියන්නේ කුමක්දැයි මම එතුමාගෙන් ඇහුවා. ''මම මේ කියන දහම ඔබට පැවසූ බව මගේ පිරිසට කියන්න. ගැටළුවක් ඇති වුනොත් එය මම බලාගනිමි''යි එතුමා පැවසුවා. මමත් බොහෝ වෙලාවක් මේ දර්ශනය දිහා බලාගෙන හිටියා. උදේ දහයට පමණ එතුමා ඒ දර්ශනය නවතා අහසට අත දිගු කළා. මට මතක හැටියට රතු නෙළුම් මල් දෙකක් හෝ තුනක් එතුමාගේ අතට ආවා. ඒවා අරගෙන එතුමා හිටපු තැනින් නික්මුණා. ගියේ කොහාටදැයි බලනකොට, ඒ ස්ථානයේ ධාතූන් වහන්සේලා තැන්පත් කර තිබුණු කරඬුවක් සහිත මල් පුදසුන ළඟ එතුමා මල් තබනවා මම දැක්කා. එතුමා මෙහෙම කිව්වා. මා ලොවට පෙන්වූ දහම බුදුන් වහන්සේ අනුමත කර දේශනා කර තියෙනවා. ඒ ගුණයට මාගේ උපහාරයයි. මෙසේ කියූ එතුමා අත් පපුව කෙලින් දෙපසට කර හිස නමා අතුරුදන් වුණා.

**අවංක වූ, පවිත්‍ර බවින් යුක්ත වූ යමෙක් සම චරියාවෙන් (කාය, වාග්, මනෝ සුචරිත) යුක්ත නම්, ශාන්ත නම්, දමනය වූ ලක්ෂණයෙන් යුක්ත නම්, ඒක ස්ථිර නම්, බ්‍රහ්ම ගතියෙන් (මෙත්තා, කරුණා, මුදිතා, උපේක්ඛා) යුක්ත නම්, සියලු සත්ත්වයන් කෙරෙහි දඬුවම් (හිංසා පීඩා) නොකරන්නේ නම්, ඒ බ්‍රාහ්මණයෙක්, ඒ ශ්‍රමණයෙක්, එබඳු කෙනා භික්ෂුවක් කියන අදහස තමයි අලංකතෝ චේපි සමං ච රෙය්‍ය.. ගාථාවෙන් කියවෙන්නේ. ලෞකික සහ ලෝකෝත්තර ගතිගුණ දෙකම අඩංගු මේ ගාථාවේ ලෞකික වූ ගතිගුණ කොටස තමා ලඟත් ඇති නිසා යේසුස් වහන්සේ මේ ගාථාවට ප්‍රිය කරනවා. ඒ නිසයි එතුමා පැමිණියේ.**

මේ එදා සිද්ධ වෙච්ච සත්‍ය සිද්ධියක්. මින් ටික දිනකට පසු මොනවා හෝ ඔතාගෙන ඇවිත් තිබූ පත්තර පිටුවක් මට හමුවුණා. එහි තිබුණේ ''යේසුස් වහන්සේ නොපැමිණි නිසා විශාල

ජීවිත ගණනක් බේරුණි'' යන මාතෘකා පාඨයක්. මට මතක හැටියට ඒක කියවල බැලුවම දනුනේ රෝමයේ සිද්ධ වූ සිද්ධියක් විදිහටයි. යම් ක්‍රමයකින් එම නත්තල් දා යේසු ස්වාමි දරුවන් පෙනෙන්න එන බවට දිවැසි ප්‍රකාශයක් තිබූ බවත්, එසේ ආවොත් සයනයිඩ් කා දිවි හානි කරගෙන යේසු ස්වාමි දරුවන් සමග ස්වර්ගයට යන්න බොහෝ පිරිසක් සූදානම් වෙලා හිටි බවත්, නොපැමිණි නිසා මහා මිනිස් සංහතියකගේ ජීවිත බේරුණ බවත් ඒ කථාවෙන් කියවුණා. එතකොට මට මතක් වුණේ මේ දර්ශනය මම දක්කේ මේ කියන දිනයේ නේද කියලයි. මේක වැදගත් සිද්ධියක් නිසා මම සිද්ධ වෙච්ච සියල්ල දින පොතේ සටහන් කර තැබුවා.

මේ විදිහට ටික දිනක් ගත වුණා. මා ලබපු අධ්‍යාත්මික ගුප්ත ක්‍රමවේදයෙන් සතියකට දින දෙකක් (මට මතක හැටියට බ්‍රහස්පතින්දා සහ ඉරිදා) අසනීප බලා ප්‍රතිකර්ම කියා දීම, විවිධ ප්‍රශ්න නිරාකරණයට ශාන්ති කර්ම කරදීම ආදිය සිදු කෙරුණා. දිනක් මා හමුවෙන්න නිය තොල් රතු කරපු හොඳට ඇඳ පැලඳගත් කාන්තාවක් පැමිණියා. ඇයට හිමි අවස්ථාව ලැබුණම ඇය මා සමග මෙසේ පැවසුවා. ''මහත්තයෝ මම ක්‍රිස්තියානි. මගේ ආගම වෙනස් කරන්න මට බෑ. මට කරදර කිහිපයක් තියෙනවා. මහත්තයට පුළුවන්නම් දෙවියන් වහන්සේගේ නාමයෙන් මට පිහිටක් වෙන්න. මම දිනපතා බයිබලය කියවනවා. ඒක මගේ කුඩා කාලයේ පටන් තිබ්බ්ච සිරිතක්.'' ඇය මෙහෙම කියාගෙන ගියා.

ඒ කාලයේ මම බයිබලය කියවල තිබුණේ නෑ. නමුත් ඒකෙ තියෙන කතා කිහිපයක් අහල තිබුණා. මේ නිසා මම ඇයට මෙහෙම කිව්වා. ''ක්‍රිස්තු භක්තිකයන්ට යේසු ස්වාමි දරුවො පව් කරන්න කියල නැහැනේ. සත්තු මරාගෙන කන්න කියල නෑ. දෙවියන් වහන්සේ මිනිස්සුන්ට කන්න සත්තු මැව්ව කියල නෑ.'' මම මෙහෙම කිව්වම ඇය බයිබලයේ එහෙම කියල නැහැනෙ කියා, මාළු අල්ලන්න යලි ගොස් දැල දමන්න කියා පිරිසක් මුහුදු යවපු හැටිත්, දැලට උහුලන්න බැරි තරම් මාළු අහුවුණු හැටිත්... වගේ දේවල් එහි තියෙන බව පැවසුවා. බයිබලයේ සත්තු මරන්න කියල නෑ කියල මම කියනවා, ඔය නෝන මහත්තය එහෙම තැන් තියෙන බව කියනවා, මේක විසඳගන්න මෙහෙ බයිබලයක් නැහැනෙ කියල මම කිව්වා. හොඳයි මම අද යනවා, ලබන සතියෙ බයිබලයක් අරන් එනවා කියපු ඇය යන්න ගියා.

සතියකට පමණ පසු සුදු ඇඳගත් තරුණියන් කිහිප දෙනෙකුත් සමග ඇය මා හමුවෙන්න පැමිණියා. මහත්තයට මාව මතකද කියල ඇය මගෙන් ඇහුවා. එවිට බයිබලය රැගෙන එන බව කියා ගිය අය නේදැයි කියා මම පැවසුවාම, ඇය බයිබලය මම ගෙනාවා යැයි කියමින් බොහොම ගරු කොට ඒක මා අත තැබුවා. ඇය සමග පැමිණි අනෙක් පිරිස එදින පැමිණි සෙනග අතර හිටපු නිසා ඒ පිරිස ඒ මොහොතේ මම දක්කෙ නෑ. මම බයිබලය අතට ගත්තේ මේ ජීවිතයේ පළමු වතාවට. නිකමට මම එහි පිටුවක් පෙරලුවා. දෙවියන් වහන්සේ පළමුව ලෝකය මැවූ සේක. දෙවැනි දින ගොඩබිම මැවූ සේක. තුන්වන දින සත්ත්වයින් සහ ඒ සතුන් සඳහා නිල් තෘණ සහ පලා වර්ග මැවූ සේක..... ආදී වශයෙන් විස්තරයක් එහි තිබුණා. මම එය ඇයට පෙන්වා, සතුන්ට හෝ මිනිසුන්ට කන්න සතුන් මවා නැහැ නේදැයි ඇසුවා. ඇය ඒක බලල, මෙහි තව තැනක පිරිස මුහුදේ දැල් දමන්න යැවූ හැටිත්, බොහෝ මාළු අසුවුණු හැටිත් පැවසුවාම, මම නැවතත් බයිබලය අතට අරගෙන පිටුවක් පෙරලුවා. ඒ සිද්ධිය එහි තිබුණා. ඒක උඩින් මත්තෙන් කියවපු මට මොහොතකින් එහි අන්තර්ගතය වැටහුණා.

**පළමුව එක කුඩා මාළුවෙක් වත් අසු නොවී පිරිස හිස් අතින් ආපු හැටිත්, යේසු ස්වාමි දරුවන් වෙරළේ සිටිනු දකපු හැටිත්, නැවත ගොස් දැල එළන්න කී විට ඔවුන් එසේ කළ හැටිත්, විශාල මාළු තොගයක් අසුවූ හැටිත්, ඒ ආම්පන්න එහි දමා ඇවිත් ආහාර ගන්නැයි කී හැටිත්, බැදපු මාළු සහ රොටී දැක කුඩා මාළුවෙක්වත් අසු නොවී තිබියදී ඔබවහන්සේ ලොකු බැදපු මාළු අපට හැදුවේ කෙසේදැයි ඇසූ පිරිසට, ''නුඹලා පව් කරන්න අවශ්‍ය නැහැ. නුඹලාට කන්න උවමනා විට දෙවියන් වහන්සේ දක්නට, දෙවියන් වහන්සේ අනුගමනය කරපල්ලා'' යැයි අවවාද කළ හැටිත්, ඒ ආම්පන්න ඒ ඒ තැන්වල දමූ පිරිස පව් නොකරන්න පොරොන්දු වූ හැටිත් බයිබලයේ විස්තර කරල තියෙන බව මම ඇයට පෙන්නුවා. සාධාරණව මේ ගැන විමසා බලන්නැයි මම මෙහෙම කිව්වා.**

**පළමු දැල් දැමීමේදී කුඩා මාළුවෙක් වත් හසු නොවීම නිකම්ම සිද්ධ වෙච්ච දෙයක් නෙමෙයි, ඒක යේසු ස්වාමි දරුවන්ගේ වැඩක්. කුඩා මාළුවෙක් වත් හසු නොවී තිබියදී බැදපු මාළු සහ රොටී මවල දුන්න නම්, ඔවුන් දෙවෙනි වර ඇදගෙන ආවේ මවා පෙන්වපු මාළු මිසක් මුහුදේ ඉන්න නියම මාළු නෙමෙයි. ඔවුන්ට පව් කරන්න එපා යැයිද, ආහාර හිඟ නොවන බවද කී කතාව යහපත් විදිහට කටයුතු කරන අයට අවශ්‍ය දේ ලැබෙන ක්‍රමයක් ලොව ඇති බව පෙන්වා දෙන්න කරපු කතාවක්.** එසේම යේසු ස්වාමි දරුවන් මා සමග කතා කර ඇති බවත්, උන්වහන්සේ කිව්වේ අහිංසක මිනිසුන්ට දරුවන්ට වගේ සලකන්නත්, අහිංසක සතුන්ට කරුණාව දක්වන්නත් බව මා සමග පවසා ඇති බවත්, ඒ ගැන කිතුණු බැතිමතුන්ට කියන ලෙසත්, ප්‍රශ්නයක් වුනොත් එය යේසු ස්වාමි දරුවන් බලාගන්නා බව මා සමග ප්‍රකාශ කළ බවත් මම ඇයට කිව්වා. ඇය සමග ආපු පිරිසත් මොනවදෝ මගෙන් අහන්න සෙනඟ අතරින් මා වෙත ලං වුණා.

එවිටම එක්තරා දර්ශනයක් මා හට පෙනී ගියා. එනම් ඇයට අමනුෂ්‍ය බැල්මක් තදින් තියෙන බවත්, එය ඔප්පු කර පෙන්විය හැකි බවත්ය. ඇයට මම මෙහෙම කිව්වා. ''හොඳයි දෙවියන් වහන්සේ වැඩ සිටින හදවතක අමනුෂ්‍යයන්ට ඉන්න පුළුවන්ද?'' මම මෙහෙම ඇහුවම ඇය තරයේම කියා සිටියේ එය කෙසේවත් නොවන බවයි. දෙවියන් වහන්සේ ඔබේ හදවතේ වැඩ සිටින බව ඔබට විශ්වාස දැයි මම නැවතත් ඇගෙන් ඇහුවා. එය තදින්ම විශ්වාස කරමියි ඇය කිව්වා. මම ඒ පිරිසට මෙහෙම කිව්වා. ''මම අදහන්නේ බුදුපියාණන් වහන්සේ. නමුත් ඔබලාගේ යේසු ස්වාමි දරුවන්ගෙන් යමක් ඔබලට ඔප්පු කර පෙන්වන්නම්.''

මෙහෙම කියපු මම, යේසු ස්වාමි දරුවෝ මා වෙත පෙනී සිට එතුමා කියපු දහම එය බව සත්‍ය නම්, මැයගේ ශරීරගතව සිටින අමනුෂ්‍යයා ආවේස කර පෙන්වන ලෙස කවි කිහිපයකින් කිව්වා පමණයි, ඇය වේගයෙන් හිස කරකවන්න පටන් ගත්තා. මම, ඇය සමග පැමිණි අනෙක් සොහොයුරියන්ගෙන් (සිස්ටර්ස්ලා), ඔය ඔලුව කරකවන්නේ දෙවියන් වහන්සේදැයි ඇහුවම, ඒ අය ගල් ගැසී බලා සිටියේ මොනවා කියන්නද කියලවත් තේරුම් ගන්න බැරුවයි.

යේසු ස්වාමි දරුවන් මට කියපු දහම එසේම නම්, මැයගේ අමනුෂ්‍ය ආවේශය ඔප්පු කර පෙන්වන්න, ඇය කියපු දෙය ඇත්ත නම්, දෙවියන් වහන්සේගේ බලයක් ක්‍රියාත්මක වුනා නම් ශාන්ත භාවයට පත්ව ප්‍රකෘතියට පත් කරන්න යැයි මම කවිවලින් කිව්වම, ඇය බඹරයක් කැරකෙන සේ හිස කරකවමින් මුළු ගමටම ඇහෙන තරමේ හූ තුනක් කිව්වා. ඇයගේ පිරිසගෙන් දැන් ඇත්ත වැටහෙනවා දැයි ඇසූ මම, යේසු ස්වාමි දරුවන් කී දහම මේ පිරිසට මම කියපු බව ඇත්ත නම්, යේසු ස්වාමි දරුවන් විසින් මේ ආවේශය දැන්ම ඉවත් කර පෙන්වන්නැයි කිව්වා. එක පාරටම ''හඃ'' යන හඬක් නගපු ඇය ශාන්තව පියවි

තත්ත්වයට පත් වුණා. ඒත් සමගම ඇගේ අනෙක් සහෝදරියන් දෙවුරට, හිසට, නළලට ඇඟිලි තබනවා මම දැක්කා. මාත් සමග තව දුරටත් ඒ අය තර්ක කරන්න ආවෙ නෑ. මහත්තයා මෙච්චර භක්තිමත්ව ඉන්න අපට සම්බන්ධ නොවන යේසු ස්වාමි දරුවන්, ඔබට සම්බන්ධ වන්නේ කොහොමදැයි ඒ අය අහන කොට, ආවේශ වූ තැනැත්තිය කිව්වේ මා කියපු සියල්ලම ඇයට ඇසුණු බවත්, කොච්චර උත්සාහ ගත්තත් තමාව පාලනය කරගන්න තමාට බැරි වුණ බවත්ය.

යේසු ස්වාමි දරුවන්ගේ සම්බන්ධය යහපත් විදිහට ලබන්න නම්, අහිංසක මිනිසුන්ට අවංකවම තම දරුවන්ට මෙන් සලකන්නත්, අනාත සියලු සතුන්ට කරුණාවන්ත වෙන්නත් පුරුදු වෙලා, ඒ දහම තුළින් යේසු ස්වාමි දරුවන් අදහන ලෙසත්, එවිට ඔබලාගේ බලාපොරොත්තු ඉටු කර දෙනු ඇති බවත් මම ඔවුන්ට පැවසුවා. එවිට අනෙක් සහෝදරියන් පැවසුවේ ඇයට මීට පෙරත් මෙබඳු ආවේශයක් තිබුණ බවත්, කොතෙක් යාඥා කළත් ප්‍රතිඵලයක් නොලැබුණ බවත්ය. ඉන්පසු මේ පිරිස මට ප්‍රශංසා කර බයිබලය බලන්නැයි මා වෙත තබා සතුටින් නික්ම ගියා.

කිසි දිනක කියවා නොතිබූ බයිබලයේ තියෙන්නේ මොනවාදැයි බලපු මට, එහි උඩින් මත්තෙන් තියෙන්නේ බොහෝ විට විකෘති අර්ථයක් බවත්, ඇතුලතින් ලෞකික වූ හොඳ දෙයක් තියෙන බවත්, වදනක් වදනක් පාසා දැනෙන්න වුණා. **දෙවියන්ගේ ඇති රහස් තෝරන්නේ දිවැසිවරයෙක් පමණයි** යනුවෙන් වාක්‍යයකුත් එහි තිබුණා.

දින දෙක තුනක් පමණ විවේක වෙලාවල්වලදී රාත්‍රියේ සිට පාන්දර 3.30 පමණ වෙන තුරු මම බයිබලය කියවා බැලුවා. එහි අවසානයටම එනකල් කියවා බැලූ මම, බයිබලය මේසය මත තබා නිදා ගත්තා. නින්ද ගියාද කියලවත් දැනුනෙ නෑ. උදේ වගෙයි වැටහුනේ. දකින්නේ සිහිනයක් නමුත් ඉතා පැහැදිලි දෙයක්. ඒ කාමරයේ ජනේලය ඇරලයි තිබුණේ. කපුටියක් ජනේලයෙන් ඇතුළු වෙලා බයිබලය හොටෙන් ගෙන පියාඹා ගිහින් මිදුලේ තිබ්බ පොල් ගහේ අත්ත උඩ තබා හූ හනසු අස්සේ සඟවා තිබූ කෑම හොයන්න පටන් ගත්තා. ඒ අතරේ බයිබලය පොල් අත්තෙන් ලිස්සා පාවී ඇවිත් ජනේලයෙන් ඇතුළු වෙලා මේසය මත තිබුණ ලෙසටම පිහිටියා. කපුටිය පියඹා ගියා.

මේ දැකපු හීනය ගැන උදේ සිතා බැලූ මම, එදින නිවාඩු ගන්න දිනයක් නිසා ඒ ස්ථාන මූලිකව හිටපු වෙද මහත්තයාට මෙහෙම කිව්වා. ''වෙද මහත්තයා අර බයිබලය දීපු කාන්තාව දවල්ට ඒවි. රට රැකියාවකට යන්න තිබූ බලාපොරොත්තුව හරි ගිය බව කියල ප්‍රසංසා කරල බයිබලය ගෙනියන්න අහයි. මේ කාමරේ මේසෙ මත බයිබලය තියෙනවා. ඇයට ඒක දෙන්න. නමුත් අමතක වෙලා දමල යයි ඒක මේසය මතම තියන්න.'' මම මෙහෙම කියල ගෙදර ගියා.

කියපු විදිහටම ඇය උදේ 10 ට විතර ලහි ලහියේ ඇවිත් මෙහෙම කිව්වා. ''රට යන්න අවස්ථාව ලැබුණා. අද ෆ්ලයිට් එක තියෙන්නේ 2.30 ට. වෙද මහත්තයලට ප්‍රශංසා කරල යන්නයි ආවෙ. මට එහෙදි බලන්න බයිබලය දෙන්න. මම ගිහින් අලුත් බයිබලයක් එවන්නම්.'' මෙහෙම කියපු ඇයට වෙද මහත්තයා බයිබලය දීල තිබුණා. ''හොඳයි පොඩි වෙදමහත්තයාටත් ප්‍රශංසා කළ බව කියන්න. පරක්කු නොවී යන්න ඕන, මම එහෙනම් යනවා'' මෙහෙම කියපු ඇය බයිබලය ඉඳගෙන හිටපු බංකුව මතම තිබියදී යන්න ගියා. මා පැමිණි පසු සිද්ධිය එසේම සිද්ධ වුනා යැයි හිනා වෙලා, අන්න බයිබලය මේසය උඩ තිබ්බා කියල වෙද මහත්තයා කිව්වා. ඒ බයිබලය තවමත් මා ලඟ තියෙනවා. (මෙතනදී කපුටිය මගින් පෙන්නුම් කළේ ඒ කාන්තාවයි. කපුටිය කෑම හොයන එකෙන් පෙන්නුම් කළේ ඇය ධර්මයට ලැදිකමක් නැතිව රැකී රක්ෂා ආදී ලෞකික ආසාවන්ට කෑදර කමින් ඒවා ඉෂ්ඨ කරගැනීමේ පරමාර්ථයෙන් බයිබලය හොයපු බවයි. මේ තමයි මා දැකපු ඒ සිහිනයෙන් පෙන්වූ අදහස.)

ඒ දිනවලම තවත් එබඳු වැදගත් සිදුවීමක් සිද්ධ වුණා. කිතුණු බැතිමතුන් පිරිසක් මා හමුවෙන්න පැමිණියා. කිතුණු දහමට අයිති කොටසක් නොවුනත්, ඒ අය අතරින් බොහෝ දෙනෙක් කේන්දර බැලීම, අපල උපද්‍රවවලට ප්‍රතිකර්ම කරගැනීම ආදියට පුරුදු වෙලා හිටියා. ඒ පිරිස සමග පැමිණි තරුණියකට අපල ඇති බව කියා ශාන්තියට යන්ත්‍රයක් පළඳින ලෙස දෛවඥ මහතෙක් කියල තිබුණා. ඒ පිරිස මා ගැන ආරංචි වෙලා හොයාගෙන ඇවිත් ඒ ගැන මට කිව්වා. යේසුස් වහන්සේ දර්ශනය වූ ඒ අවස්ථාව වන විට සෙත් කරගෙන හිටපු බුද්ධ ගාථා යන්ත්‍රයක් මා විසින් ඇයට පළඳන්න දුන්නා. මේ 1992 පමණ කාලයේ මම ගිහිවතේ ඉඳිද්දී කරපු දෙයක්. ඒ පිරිස මට මෙහෙම කිව්වා. ''අනේ මහත්තයෝ යන්තර දැම්මට වැඩක් නෑ අපි පල්ලි යනවනෙ. එතකොට අපේ සාමිට ඒව පේනවා. අඬගහල කඩල විසි කරනවා.''

එතකොට මම මෙහෙම කිව්වා. ''ඒ අනිත් අය පළඳවන යන්ත්‍ර. මේ යන්ත්‍රය මොකක්ද කියල යේසු ස්වාමි දරුවො දන්නවා. භය නැතිව යන්න.'' සතුටු සිතින් ගියපු පිරිස ඊළඟ සිකුරාදා හවස මා සොයාගෙන ආවේ හද බැති ගරු කිරීමකින්. ''මහත්තයෝ හරි පුදුම වැඩක් වුනානෙ! අනේ අපේ යේසු ස්වාමි දරුවො මහත්තය ලඟද ඉන්නෙ'' ඒ අය මගෙන් මෙහෙම ඇහුවා. එහෙම අහන්නේ ඇයි කියල මම ඒ අයගෙන් ඇහුවා.

අපි පල්ලියට ගියා. පියතුමා (ෆාදර්) දුවට අඬගැසුවා. කර වැසෙන ගවුමක් ඇය ඇඳන් හිටියේ යන්ත්‍රය නොපෙනෙන්න. තමාගේ කරේ සූරයක් තියෙනවා නේදැයි ටිකක් සැරෙන් අහපු පියතුමාගේ කටින් වේගවත් වචන ධාරාවක් ගලාගෙන ආවා. ''දෙවි ස්වාමීන් වහන්සේ කියනව ඒක තමාගේ ජීවිතය වගේ ආරක්ෂා කරගන්න කියල.'' කිසි දිනක එහෙම වචන මාලාවක් තමන්ගේ කටින් පිටවෙලා නැතැයි කියපු පියතුමත් මේ ගැන පුදුම වුනාලු. මට වෙන කියන්න දෙයක් නෑ, කිව්ව විදිහටම රැක ගන්නැයි කියා පියතුමා කිව්වලු. මේක පුදුමයක් ලෙස හිතපු පිරිස එදිනම හවස ඇවිත් ඒ කතාව මටත් කියල ප්‍රශංසා කරල ගියා. **(මේ කතාව නිසා කිතුණු බැතිමතුන් මා හමුවීමට නොපැමිණ, තම ශාස්තෘන් වහන්සේගේ ධර්මය අවබෝධ කරගන්න උත්සාහ කරන්න. එසේ කටයුතු කර තම තමන්ගේ අභිවෘද්ධිය සලසා ගන්න.)**

මේවා සම්පූර්ණ සත්‍ය සිදුවීම් අතිශයෝක්ති කිසිවක් නෑ. **බුදු දහම ඒකාන්තයෙන්ම තුන් ලොවටම අග්‍රතම දහමයි. කර්ම ඵල අදහන ලෞකික ආගම්වල මූලික ශාස්තෘවරු බුදු දහමට ගරු කළත්, මෙකල නොයෙක් මතවලින් වැසී ගිය පිරිස් බුදු දහම දෙවෙනි කරල තම දහම පළවෙනි කරන්න හදනකොට, අනේ මා දැකපු මේ සත්‍යතාවයත් ඒ පිරිස්වලට කොහොම ඒත්තු ගන්වන්නදැයි හිතෙනවා.** උත්තරී මනුෂ්‍ය ධර්ම ඇතැයි කියමින් බොරු ප්‍රලාප දොඩවනවා යැයි සමහර භික්ෂූන් වහන්සේලා මට අපහාස කරන්න පුළුවන්. නමුත් කිසිම ලාභ කීර්ති ප්‍රශංසාවක් මා මේවායින් බලාපොරොත්තු නොවන අතර කිසිම නින්දා අපහාසයකින් කම්පා වෙන්නෙත් නෑ. උන්වහන්සේලාටත් ලොව නිසි තතු පෙනේවා, සසර භය වැටහේවා, අකම්පා නිවන් සුවයම ලැබේවායි මෙත් සිතින් අවංකවම ආසිරි පතනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන :-**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පින්වතුන් මුලාවට ඇද දමන විතණ්ඩවාදී දහම් මතවාද?

*(පසුගිය කලාපයෙන් - අහෝ ගුරුතුමනි, කථාව බුදු පුරේ ත්‍රිපිටක ධර්ම රත්නය අනතුරේ....)*

ගුප්ත ලෝකය ගැන අත්දැකීමක් නැති, ලෞකික මෙන්ම භෞතික ලෝකය ගැන බමුණු ත්‍රී වේදය සහිත ගොරක දඩමස් කරන්නා වැනි, නිර්මාණාත්මක අර්ථකථනයන්ගේ සහ විතණ්ඩවාදී ලෞකික සාස්ත්‍රාචාර්‍ය වරයෙකු වැනි ධම්ම ගුරු නමින් හඳුන්වන මේ ගුරුතුමා, දෙව් ලොව සහ දෙවියන් දකින හැටි මෙසේය.

2008-08-16 දින ආලෝකය නමැති පත්‍රයේ 6 වැනි පිටුව තුල ඇති දේව විස්තරයකි මේ.

''සක්ක යනු කවරෙක් ද? ඔහුගේ සහායක පංච සිඛ ගායකයා හා මාතලී රියදුරා කවුද?....'' මේ ආදී වශයෙන් කරන විස්තරයකින් ත්‍රිපිටක සූත්‍ර ධර්මයෙන් පිටත තියෙන අර්ථයකින් ගොතා, අටුවාචාරීන් කියා මේ ගුරුතුමා මෙහිදී පෙන්වන්නේ අද ත්‍රිපිටක බුද්ධ වචන ලෙස පවත්වා ගෙන එන, වසර දහස් ගණණක පටන් පැවත එන මහ තෙරුන් වහන්සේලාගේ පරපුරටයි. සත්‍යාර්තය නම් මේ සූත්‍රවල ඇති ඇතුලත අර්ථය බව කියන මේ ගුරුතුමා තවදුරටත්, වැසුනු ධර්මයක් ගෙන එන ථෙර පරපුරටත් උගන්වමින් තමා ඇතුලත හැඟවුන යථාර්ථය මතුකර දෙන්නක් ලෙස "විවටෝ විරෝචති නෝ පටිච්චන්නෝ" (විවෘත වූයේ බබලයි, වැසුනේ නොම බබලයි.) යන දේශනා පදයත් ප්‍රකාශ කරනවා.

සක්කෝ සක්කායෝ යනු කුමක් දැයි ධම්මදින්නා තෙරණියගෙන් විමසන විට, ''පංචඛෝ ඉමේ ආවුසෝ විශාක උපාධානක්ඛන්ධා සක්කායෝ වුත්තෝ භගවා'' යන දේශනා පාඨය අර්ථ විපරීතව ගනිමින්, සක්කාය කියන්නේ පංච උපාදානස්කන්ධයයි කියමින් මේ සක්කාය යන්න ගුරුතුමාගේ අදහස් පරිදි සක්‍ර දෙවියන් යයි ප්‍රකාශකර තියෙනවා. මේ චුල්ල වේදල්ල සූත්‍රයේ ඇති සූත්‍ර පාඨය උඩින් මත්තෙන් බලන කෙනෙකුට බුදුරජුන් මෙන්ම රහත් තෙරණින් විසින් ද සක්‍රයා කියල හඳුන්වන්නේ සක්කාය හෙවත් පංච උපාදානයට යැයි රැවටුම් අදහසක් ඇතිවෙනවා. මේ ගුරුතුමා ත්‍රිපිටක සූත්‍ර ධර්ම කොටස් හැමතැනම උපුටා දක්වන්නේ මෙබඳු මුලාවන් ඇත්ත කර පෙන්වන්න විකෘති අදහස් දෙමින්.

සක්‍රයා ගැන බුදුරජුන් දේශනා කර ඇති දේ දැනගන්න නම් සංයුක්ත නිකායේ සක්ක සංයුක්තය බැලිය යුතුයි. මෙතුමාගේ අදහසක මුලාව පෙන්වන්න ත්‍රිපිටක සූත්‍රවලින් සාධක ඉදිරිපත් කළාම ඒවා බුද්ධඝෝෂ හිමිගේ විකෘති බමුණු මත යැයි, ඒ හිමියන්ව හංවඩු ගසමින් පොට බේරාගන්න පුරුදු වෙලා තියෙනවා.

මේ මුලා කථාවන්ට නොරැවටී සක්‍ර දෙවියන් පිලිබඳව බුද්ධ දේශනාව අහන්න කැමති පිංවතුන්ට සං:නි:(1) සත්තවත පද සූත්‍ර 2 ක් දක්වා තියෙනවා. සක්‍ර දෙවියන්ට මඝ වස්තු, පුරින්දද, සක්කව වාසව, සහස්සකඩ, සුජම්පති, දේවානමින්ද යන නම් පවසන බවත් ඊට හේතුත් පෙන්වා තියෙනවා. සක් දෙවිඳු පෙර මිනිස් වූයේ සකසා දන් දුන් හෙයින් "සක්ක" යයි කියනු ලැබේ. මේ බුද්ධ දේශනාවයි.

කරුණු මෙසේ තිබියදී සක්කාය නිසා සක්ක වෙනවා කියන්නේ මොන විපරීත කථාවක්ද?

**පෙර මිනිස්ව සිට දෙව් ලොවට අධිපති සක්ක දේවේන්ද්‍ර වීමට අනුගමනය කළ යුතු සත්ත වත පද** මේ සූත්‍රවල දක්වා තියෙනවා. ඒවා ඉතා කෙටියෙන් කියනවා නම්,

1. මව්පිය පෝෂණය
2. කුලදෙටුවන් පිදීම
3. මෘදු ප්‍රිය තෙපුල් බිනීම
4. පිසුනු බසින් වැලකීම
5. මසුරු මළ දුරු කිරීම
6. සත් බස කථා කිරීම
7. ක්‍රෝධය මැඩ පැවැත්වීම

පෙර මිනිස්ව සිටි මේ සත් පුරුෂයා මේ පින් කළ නිසා සක්‍ර වූ බව ත්‍රිපිටක සූත්‍රය තුල විස්තර සහිතව පෙන්වා තියෙනවා.

මේ අනුව බලන කොට විවටෝ විරෝචති කර ඇත්තේ බුදුපියාණන්ය. බුද්ධඝෝෂ හිමියන් ඒක වෙනස් කරල නෑ. එහෙනම් පටිච්චන්න හෙවත් වැසීමට උත්සාහ කරන්න හදන්නේ කවුදැයි නැණවතුන් විමසත්වා.

ගුරුතුමාගේ අදහස අනුව පංච උපාදනස්කන්ධය සක්‍රීය ශක්තියෙන් කථා කරනවා. ඒ කථාවටලු ශාසන දහම තුළ පංචසිඛ කියන්නේ. එම ගායනය ශරීරයට අයත් මුඛයෙන් සිදුවේලු. ඒ සඳහා ශරීරය මෙහෙයවනවලු. ඒ මාතලීලු. පංච උපාදනක්ඛන්ධය සක්‍රීය ශක්තියෙන් කය සහ වචනය මෙහෙයවන නිසා ඒ කය සහ වචනය යන දෙක ලූ දෙදෙව්ලොව කියන්නේ. (මුලදී වචනය පංචසිඛටත්, කය මාතලීටත් උපමා කර දැන් ඒ දෙකම දෙදෙව්ලොවටත් උපමාකර ඇති හැටි පේනවා. එවිට මේ විකෘති කතාව අනුව දෙදෙව් ලොව වන්නේ පංචසිඛ සහ මාතලී විය යුතුයි. මෙහෙම බලන කොට මේවා මනෝ සංකල්පවත් නොව මනස්ගාත බවයි පේන්නේ). තවද පංච උපාදනස්කන්ධය ලූ පාන්ඩු කම්බල ශෛලාසනය කියන්නේ. ඇලීමක් ගැටීමක් එනවිට හිතේ ඇතිවන රත්වීමලු එය රත් වෙනවා කියන්නේ.

ගුරුතුමාගේ මේ කථාවට අනුව අද ලෝකයේ සිටින සියලු පෘතජ්ජන මනුෂ්‍යයෝම දෙදෙව්ලොවට අධිපති සක්‍ර දෙවිවරුයි. ඔවුන් රත්වුන විට කරන්නේ කපා කොටාගෙන ගහ මරා ගැනීමයි. ඒ උන් සිටින පාන්ඩු කීවේ ආසාවල රත්වීමේ ඵලයලු.

ගුරුතුමාගේ අදහස පරිදි සැරියුත් මුගලන් නම් ධර්මය හා විනයයි. එහි ඵලය බුද්ධයි. දැන් මෙතන බුදුන් කියා පුද්ගලයෙක් දකින්න නෑ. සක්‍ර කියා දෙවියෙකුවත් පන්සිලු හෝ මාතලී කියා දෙව් පුතුන් ලෙස පුද්ගලයන්වත් නෑ. එබැවින් මෙතුමාගේ දෘෂ්ටියට අනුව මේ සක්ක පඤ්ඤහ සූත්‍රය හුදු මනඃකල්පිතයක් පමණයි. මෙසේ තව තවත් තෝරාගෙන යනවිට බුදු දහම කියන්නේ අවජාතක වූ හුදු මනඃකල්පිතයක්ම වනු ඇත. පාඨක පින්වතුන් විමසා බලත්වා.

තවත් මෙබඳුම අර්ථකථනයක් තමයි බේලුව පන්ඩු වීනාව. මේ ගුරුතුමා බේලුව පන්ඩු වීනාව හැඳුන හැටි පෙන්වන නිරුක්තිය සිනහ උපදවන සුලු විකට

කථාවක් බව නම් පෙනී යනවා. බිල + එව + පංච + අඬු = බේලුව පන්ඩු. මෙහි බිල එව යනු බිලක් වැනි, පංච + අඬු =පන්ඬු යනු අඬු පහක්ලු.

බිලය නම් මුඛයලු. අඬු පහ හැඳුන හැටි කියන්නේ මෙසේය. උඩුතල්ල යටිතල්ල අඬු 2 කි. දත් දෙපල තව අඬුවකි (දත් අඬු 3 කි). ඉන් පිට දෙතොල තව අඬුවකි. දිව තවත් අඬුවකි. දැන් අඬු පහකි. මේ පස් අඬුවට පන්ඩු කියනවලු.

මේ කාරණය ටිකක් විමසා බලමු. බිල + එව කියල කිව්ව නම් ශබ්ද එකතුව "බෙලෙව" විය යුතුයි. බිල + ලුව කියල කිව්ව නම් "බේලුව" ශබ්දය ගෙතෙන්න පුළුවන්. පහ + අන්ඩු කිව්වම නම් "පන්ඩු" යයි ශබ්ද විය හැකියි. නමුත් අඬු පහ ගැන්න ක්‍රමය නම් කෙසේවත් ගැලපෙන්නෙ නෑ. උඩ තල්ල හා යට තල්ල අඬු 1 ක් ලෙස ගත්තනම්, දත් දෙපලත් ගත යුත්තේ 1 ක් ලෙසයි. උඩු තොල සහ යටි තොලත් ගත යුත්තේ එක අඬුවක් ලෙසයි. එවිට දිව අඬු බාගයකි. එකතුව අඬු තුනහමාරකි. නමුත් මේක ගැලපෙන්නෙ නෑ.

උඩු තොල සහ යටි තොල 2ක් ලෙස ගත්තොත්, උඩු දත් ඇන්ද හා යටි දත් ඇන්දත් ගත යුත්තේ 2 ක් ලෙසයි. උඩ තල්ල හා යට තල්ලත් දෙකක් ලෙසයි. එතකොට හයක් වෙනවා. දිවත් සමග 7 ක් වෙනවා. එවිට අඬු පහක් කරන්න කළ යුත්තක් තියෙනවා. එනම් දත් ඇඳි දෙක බඩට යන්න කටට දෙකක් ඇනීමයි. එතකොට නම් බේලුව පන්ඩු වීනාව යස රඟට පෙනෙන්න වෙනවා. මෙබඳු අර්ථ කථනයන්ට මෙහෙම කියනවා හැරෙන්න වෙන කිව යුතු දෙයක් නෑ.

මීලඟට ගුරුතුමාගේ බුද්ධ බෝධි වන්දනා විවේචනය කෙසේ වේදැයි බලමු.

ගුරුතුමා මේ ප්‍රකාශ කරන්නේ නිකන්ම නෙවෙයි. බුද්ධඝෝෂ හිමියන් වැරදිකරු කොට ත්‍රිපිටකයේ මජ්ඃනිඃ(1) ට අයත් <u>අලගද්දූපම සූත්‍රයේ</u> කොටසක් ද සාක්ෂියට තබමින්.

එනම් අලගද්දූපම සූත්‍රයේ 27 වැනි ඡේදයේ (338 පිටු වේ ඇති) කුඩා වැකියක අදහස මේ ගුරුතුමා විකෘති කොට පාඨක පිරිස මුලා කර ඇති හැටි මෙසේය. 2008-08-16 වැනි දින ආලෝක පත්‍රයේ 8 වැනි පිටුවේ 3 තීරුවේ පහළ කොටස.

ඒව මේව බෝ භික්ඛවේ කුල්ලූපමෝ මයා ධම්මා දේසිතෝ නිත්ථරණත්ථාය නෝ ගහනත්ථාය කුල්ලූපමං වෝ භික්ඛවේ ධම්මං දේසිතං අජානංතේහි ධම්මාප්පි බෝ පහා තබ්බාපගේව අධම්මා.

මෙහි තේරුම : මහණෙනි, එ පරිද්දෙන්ම මා විසින් පහුර උපමා කොට ඇති ධර්මය දේශනා කරන ලදී. එය සසරින් එතර වීම පිණිසය. ගැනුම පිණිස නොවේ. මහණෙනි, පහුර උපමාකොට තොපට දෙසන ලද ධර්මය දන්නා වූ තොප විසින් ධර්මයෝද හල යුත්තාහ. අධර්මයෝ කැල මැයි.

මෙන්න ඊට මේ ගුරුතුමා දී ඇති අර්ථය :- ශ්‍රාවකයිනි, එපරිද්දෙන්ම මා



විසින් පහුර උපමා කොට ඇති මේ ධර්මය සසරින් එතර වීම සඳහා මිස (ගැනුම පිණිස නොවේ යන්නට) කර තබාගත් පූජා වස්තුවක් ලෙස ක්‍රියා කිරීමට දේශනා කොට නොමැත. ධර්මයත් මෙසේ අත් හල යුතු නම් අධර්මය ගැන කියනුව කවරේද?

මෙහි "කර තබාගත් පූජා වස්තුවක් ලෙස ක්‍රියා කිරීමට දේශනා කර නොමැත" යන කොටස සූත්‍රය හා සම්බන්ධ නැති මේ ගුරුතුමාගේ ව්‍යාජ නිර්මාණයක්.

සත්‍යය නම් මෙම අලගද්දූපම සූත්‍රයේ පරිදි එතර වූ ඔරුව පැත්තක තබා නිදහස් වීම කියන්නේ අරිහත්වය ලැබූ උතුමන්ගේ ඉන්පසු ස්වභාවයයි. එසේ ඔසවා නොගන්නවා කිව්වේ ඒ ධර්මය තුළත් නිච්චයි කියා හෝ සාස්වතයි, සුඛයි, අත්තයි කියා හෝ අල්ල ගන්න හරවත් කිසිත් නැති බව උන් වහන්සේ ඒකාන්තයෙන් දන්නා නිසයි.

එසේම දහම තේරුම් නොගත් සමහර භික්ෂූන් නිච්ච වූ, සාස්වත වූ, සුඛ වූ සාරත්වයෙන් යුක්ත වූ ලොවක් කරා ගිහින්, එහිද පවත්වාගෙන යන්න එසේම වූ ධර්මයක් ලෙස බුදු දහම වරදවා ගෙන, ''මම දනිමි, දකිමි'' යන මානයෙන් උදම් වෙලා, මම දරා සිටින්නේ වටිනාම දෙයයි කියා අන්‍යයන් සමග තර්ක වාද කරමින් ජය ලබමින් උදම් වීමට කරන ධර්මය නම් වූ ඔරුව ඔසවා ගෙන යන්න හැදීමයි.

බුදුරජුන් විසින් දේශිත නිවන ලැබීමට හේතු වන ශ්‍රී සද් ධර්මයට හෝ සංඝ රත්නයට වැඳුම් පිදුම් ගරු සත්කාර කිරීම, ධර්මය කර තබාගෙන හෝ හිස තබාගෙන යාමට අයිති නෑ.

දැන් තවත් සිතා බැලිය යුත්තක් තියෙනවා. මේ ගුරුතුමා තම අදහස් පරිදි පවසන්නේ ක්‍රිඃ වඃ411 දී බුද්ධඝෝෂ හිමියන් ලක්දිවට පැමිණ දහම විකෘති කළ බවයි. ඒ නිසා ධාතු වැඳුම, බෝ ගහට කරන ගෞරව පූජා විවිධ වන්දනා මාන මෝඩ බෞද්ධයන් ගේ වැඩ යැයි කියා මේවා බුද්ධඝෝෂ විකෘති ලෙස පෙන්වා තියෙනවා.

මේ ගුරුතුමාට අවශ්‍ය කර තියෙන්නේ තම අදහස අනුව මෙතෙක් වසර දහස් ගණනක පටන් පවත්වාගෙන එන බෞද්ධ සම්ප්‍රදායන් සම්පූර්ණයෙන්ම කනපිට ගසා ඔහුටම ආවේනික වෙච්ච ක්‍රම වේදයන් ගොඩනගන්නයි. එහි අඩිතාලම ශක්තිමත් කරගැනීමට, ඔරුව උපමා කළ ධර් කොටසට අලුත් කොටසක් එක්කර ධර්මයට වැඳුම් පිදුම් කිරීම නොකළ යුත්තක් යැයි පවසා බුද්ධ දේශනා කොටසක් විකෘති කර පෙන්වා තියෙනවා. ඉන් පසු තෙරුවනට වන්දනා මාන කිරීම මෝඩයින්ගේ විකෘතියක් ලෙස පෙන්වා, බුද්ධඝෝෂ හිමියන්ද එයට ඇඳමින් ගුරුතුමාගේ අදහස ජයගන්න මේ විදිහට කරුණු ගෙන හැර දක්වනවා.

2008-05-19 දින ආලෝකය පත්‍රයේ 2 පිටුවේ දෙවැනි තුන්වැනි ☞

තීරුවල පහල කොටසේ ''තිලෝගුරු බුදුන් වහන්සේ මුනිවරුන් බිහි කළේ ලංකා වාසී මෝඩ බැතිමතුන්ට ධාතු වන්දනා කිරීමට නොවේ. මහජන සේවයේ යෙදවීම සඳහාය" යනුවෙන් සටහනක් තියෙනවා. තවද 2008-11-12 වැනි දින ආලෝකය පත්‍රයේ 10 වැනි පිටුවේ පලවැනි තීරුවේ ''බෞද්ධ සමාජය අද සිදුකරන සියලු තෙරුවන් වන්දනාමාන පූජා සත්කාර පින්කම් නොව ගොන්කම්'' යැයි නිගරු කරමින් එම කටයුතු කරන අය බුදු දහමේ ලේබලය බෙල්ලේ එල්ලා ගත්තවුන් යැයි ද අපහාස කර තියෙනවා.

මේ ලක්දිව බුදු දහම ස්ථාපනය වූ වසර දෙදහස් ගණනකට පෙර, එනම් බුද්ධඝෝෂ හිමියන්ගේ උපතටත් වසර සිය ගණනකට පෙර ථූපාරාම දගැබ, රුවන්වැලි මහා දගැබ (රුවන්වැලිසෑය), ජය ශ්‍රී මහ බෝ සමිඳු (ගුරුතුමා කියන ලෙස බෝ ගහ) මේ ලක්දිව ගොඩ නැගුනු මහා පූජනීය ස්ථානයන්ය. මේ තෙරුවනට කරන වන්දනාමාන පූජා සත්කාර කෙසේ නම් " බුද්ධඝෝෂ විකෘති" වේද? **තෙරුවන් ගුණ වන්දනාවේ වැදගත්කම ත්‍රිපිටක ධර්ම රත්නයේ සිය පොලකට වැඩියෙන් පෙන්වා තියෙනවා. ශ්‍රද්ධා, සීල, ශ්‍රැත, ත්‍යාග, ප්‍රඥා යන පසින් යුක්ත වූ අයගේ පැතුම් ඉටුවන බවත්, එබඳු ගුණ නැති අයගේ පත පතා හිඳීම හර ශූන්‍ය බවත්** පෙන්වා තිබියදී, මේ වැදගත් දහම් චාරිත්‍ර කාණ්ඩ බිඳ හෙලූ දාට බුදු සසුනේ නාමයක්වත් ඉතිරි නොවී අතුරුදන් වනු ඇත.

අද තියෙන ත්‍රිපිටකය බමුණන්ගේ විකෘතියක් යැයි කියමින්, අඟේ ඉඳන් කන කන්නන් සේද, හිස අතගාමින් ටොකු අනින්නා සේද, වසර දහස් ගණනක පටන් පැවිදි සංඝ රත්නය නිසා පැවත එන ත්‍රිපිටක ධර්ම රත්නයට නිගරු කරමින්, ඒ සංඝ රත්නයටද බමුණු වාදයෙන් අපහාස කරමින්, ගිහි රහතන් වහන්සේලා 55 ක් සහ පැවිදි රහතන්වහන්සේලා පස් නමක් යනුවෙන් හැට නමක් පළමු ධර්ම ප්‍රචාරයට යැව්වා යැයි කියමින් කර ඇති විකෘති ප්‍රකාශ පාඨකයාට නොපෙනෙන්නේද?

2008-05-19 දින ආලෝකය පත්‍රයේ 2 පිටුවේ 2 තීරුවේ පහල කොටසේ මෙසේ සඳහන් වෙනවා. ''එහිදී තවුසන් පස්දෙනෙකු ඇතුලු වෙනත් ගිහියන් පනස් පස්දෙනෙකුගෙන් යුතු මහජන සේවකයින් හැට දෙනෙක් මහජන සේවය සඳහා පුහුණු කරගත් සේක. මුණිවරුන් හෙවත් ඒ උතුමන් රහතන්වහන්සේලා ලෙස හැඳින්වේ.''

මෙහෙම ධර්ම කතා විකෘතියක් වසර 2500 ක පටන් මේ වන තුරුත් අහන්න දන ගන්න කිසිම සාධකයක් නෑ.

එසේම 2012-07-03 දිනැති ආලෝකය නම් පත්‍රයේ 6 වැනි පිටුවේ 3 වැනි තීරුවේ කර ඇති විග්‍රහයක් පරිදි ''අනිච්චාවත සංඛාරා යන ගාථාව බමුණන් විසින් මරණ මංචකයට ගෙන ගිය ආකාරය දකිමු'' යන තැන බමුණන් යැයි කිව්වේ කාටද කියල හිතල බලන කොට ලෝක සම්මතයේ අපි අහල තියෙන බමුණන් කිසි විටෙකත් මියගිය කෙනෙකුගේ දේහය ලඟ මේ ගාථාව කී බවක් දනගන්න නෑ. ඒ අනුව අපවාදය එල්ල කර ඇත්තේ පැවිදි උතුමන්ට බව පෙනී යනවා.

අනිච්ච, දුක්ඛ, අනත්ත කියන ත්‍රිලක්ෂණය විග්‍රහ කරන්න මේ ගාථාවෙන් අර්ථ දක්වන්න ගොස් පරංගියා කෝට්ටේ ගියා වගේ යන කියමන සේ, තල් අත්තට දිවුල් ගෙඩිය වැටී දුවපු හාවෙක් මුල් කර ජන කතාවක් උපමාවට ගන්න තරම් මේ ගුරුතුමා බොලඳද? ත්‍රිපිටක ධර්මය බමුණන්ට පවරන මේ ගුරුතුමාට බුදුරජුන් දේශනා කරපු පොඩි වැකියකින් පෙන්වා දෙන්න තිබූ අරුතය පැත්තකට දමල තියෙන්නේ අනිච්ච යනු ස්ථිර නැත යන අර්ථය ඒ අනුව ගන්න බැරි නිසා විය හැකියි. අං:නි:(6) <u>ගිරිමානන්ද සූත්‍රයේ</u> බුදුපියානන් වහන්සේ ආනන්ද හිමියන්ට මෙසේ දේශණා කර තියෙනවා. කතමාචානන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සංඥා ඉධානන්ද භික්ඛු සබ්බ සංඛාරේහි අට්ටීයති හරායති ජිගුජ්ඡති අයං වුච්චතානන්ද සබ්බ සංඛාරේසු අනිච්ච සංඥා

මෙහි අනිච්ච විග්‍රහ කරන්න පද තුනක් දීල තියෙනවා. අට්ටීයති යන්නෙන් පෙන්නුවේ පෙලෙන ලක්ෂණයයි. හරායති කියන්නේ ලජ්ජා විය යුතු බවයි. ජිගුජ්ඡති කියන්නේ මළ මුත්‍ර වැනි අපවිත්‍ර බවයි, පිරිසිදු යයි ගන්න දෙයක් නැති බවයි.

පංචස්කන්ධ හෝ පංච උපාදානස්කන්ධ අද්ධුව බව (අස්ථිර බව), අනියත බව ඇත්ත. නමුත් ඒක දෙවැනි කරුණක්. ඉහත අට්ටීයති හරායති ජිගුජ්ඡති කියල පෙන්නුවේ අනිච්ච ලක්ෂණයයි.

මීලඟට කිව යුත්තේ තිසරණය පිළිබඳවයි. වසර 2500 ක් තුල කිසිම තෙරුන් වහන්සේ නමක් හෝ වෙනයම් පණ්ඩිතයෙක් හෝ ත්‍රිපිටක ගතව එන බුද්ධං සරණං ගච්ඡාමි... ආදී පදවල අර්ථ විපරීත බවක් පෙන්වා නෑ. එය බුද්ධං චරණං ගච්ඡාමි විය යුතු බවක් මෙතෙක් පවසලත් නෑ. නමුත් මේ තිසරණයට කියන ඒ නම (එනම් තිසරණ යන වචනය) බමුණන්ට අයිති බවත්, විකෘතියක් බවත් කියන මේ ගුරුතුමා, නියම ක්‍රමය තීචරණය කොට පද තුන නවීකරණය කරන්න බලා මෙසේ සකස් කර තියෙනවා. එනම්,

බුද්ධං චරණං ගච්ඡාමි

ධම්මං චරණං ගච්ඡාමි

සංඝං චරණං ගච්ඡාමි

යනුවෙනුයි. මෙබඳු පොඩි පත්තර කැබැල්ලක මේ ලෙස වැරදි පෙන්වා හරි ක්‍රමය මේ යැයි සටහන් කරන්න එතුමාට හැකිව තිබුන නම්, වසර දෙදහස් ගණනක් ත්‍රිපිටකය රැකගෙන ආ ගිහි පැවිදි කිසිම පඬිවරයෙකුට මේ ක්‍රමවේදය අසු නොවීම පුදුම විය යුතු කාරණයක්. එහෙනම් වසර 2000 කට පසු පහල වූ අති පඬිතුමා මේ ගුරුතුමා දැයි කියල විමසා බැලීම වටිනවා. උඩින් මත්තෙන් බලන කොට නම් මහකොවුල (අරටුව) සහිත බුරුත කඳක්. නමුත් ලංවී විමසා බලන කොට නම් පිට පලුවක්.

2012-07-03 වැනි දින ආලෝකය නම් පත්‍රයේ අනිච්ච අනිච්ඡ වීමත්, පටිච්ච පටිච්ඡ වීමත් පිළිබඳ වැරදි පෙන්වා ඒ පදවල යථාර්ථය පෙන්වන ලෙස දීර්ඝ ලිපි කිහිපයකින් කරුණු ඉදිරිපත් කළ, මහ දැනුමක් ඇති ලෙස පෙනී සිටින ගුරුතුමාගේ ඒ ලිපි කියවා බැලුවේ ඒවා කොතෙක් දුරට වැදගත් වේ දැයි විමසා බැලීමටයි.

පරංගියා කෝට්ටේ ගෙන ගියා සේ ලිපි පෙල නම් දිර්ඝ ලෙස ඉදිරිපත් කර තියෙනවා. අනිච්චාවත සංඛාරා යන ගාථාවෙන් විස්තරය ආරම්භ කිරීමත් සමඟම ''පැරණි බමුණන් විසින් මරණ මංචකයට සීමා කර ඇති'' යනුවෙන් විවේචනය මෙතුමා පටන්ගෙන තියෙනවා.

**ලෝකයේ සම්මත බමුණන් කියන්නේ ත්‍රිවේදය නමැති ලෝකායත ශාස්ත්‍ර ඉගෙන ගෙන මහ දැනුමැත්තන්සේ හිස උදුම්මාගෙන සිටින ගිහි පිරිසටයි. නිරුක්ති හෙවත් ලිඛිත භාෂා ව්‍යාකරණ ශාස්ත්‍ර, ඉතිහාසය, විතණ්ඩවාදී තර්ක ශාස්ත්‍ර ආදිය ඉගෙන ගෙන තම මත සනාථ කර පෙන්වන්න, කබරගොයා තලගොයා කරන්නා සේ, ගොරක දඩමස් කරන වැද්දන් සේ තර්ක වාද කර මුලා ජයග්‍රහණයකින් සතුටු වන පිරිසකටයි වේධ දාරී බමුණන් කියන්නේ.**

මෙබඳු අය නම් මරණ මංචකයක මේ ගාථාව කියා ඇති බවට හෝඩුවාවක්වත් සොයාගන්න නෑ. එහෙනම් මේ ගුරුතුමාගේ අපහාසය භික්ෂූන් වහන්සේලාට ගහපු මඩ පහරක් බව පෙනී යනවා. ලෝක ස්වභාවය පෙන්වන්න, මනා සේ කැපී පෙනෙන අරමුණක් දුටු තැන මේ ගාථා රත්නය සිහි කිරීම සහ තවත් පිරිසකට සිහි ගැන්වීම මොන තරම් යහපතක්දැයි, දහම් අවබෝධයට රුකුලක් දැයි වැටහෙන්නේ ධර්මාවබෝධය ඇති පින්වතුන්ටමයි. ☞

සංඛාර ධර්මයන්ගේ ඒකාන්ත වූ අනිච්චතාවය, ඒවා ගොඩනැගෙන සහ ගෙවී යන උදයව්‍ය ස්වභාවය, හේතුඵල ලෙස හටගත් ධර්මයෝ එසේම නොපැවතී ගෙවී වැනසී යන හැටි, හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වන හැටි නිසියාකාරව දකින්න, සිහි කරන්න සුදුසු අරමුණක් හමුවුනාම මෙසේ ලෝකයේ ආදීනව සිහිකිරීම සහ එබඳු අසාර ධර්මයන්ගෙන් සහමුලින්ම වෙන්වීමෙන් ලබන නිදහස හෙවත් උපසමය නැත්නම් පූර්ණ නිවන් සුවය කොතෙක් වටී දැයි සිහි කිරීම නියම නිවන් මගක් වන නමුත් විවිධ මත ධාරීන්ට ඒවා විකෘති කටයුතු ලෙස පෙනී යන්න පුළුවන්.

එසේම ''සබ්බේ සංඛාරා අනිච්චා - සබ්බේ සංඛාරා දුක්ඛා - සබ්බේ ධම්මා අනත්තා'' යන ගාථා පාඨ, ධම්ම පදයේ මග්ග වර්ගයේ හැර ත්‍රිපිටකයේ කිසිම සූත්‍රයක දක්නට නැති බවක් පවසන මේ ගුරුතුමා, දීඝ නිකායේ මහා පරිනිබ්බාන සූත්‍රයේ අනිච්චාවත සංඛාරා ආදී ගාථා පාඨය ඇතුලත් කර ඇති බවත් පවසමින්, ඒ සූත්‍රය විවේචනයට ලක් කරමින් බුදු දහමේ බොහෝ ස්ථානවල සඳහන්වන ශක්‍රදේවේන්ද්‍රයන් ගැනත් ඊනියා තර්කවාදයක් ඉදිරිපත් කර ම්ලේච්ච අන්දමින් පහර ගහල තියෙනවා. ධර්ම සංඝායනාවලදී සිවුපිලිසිඹියාපත් මහතෙරුන් වහන්සේලා, පෙල ගසා සකසා දී ඇති දහම් සූත්‍ර බුද්ධඝෝෂ හිමියන් මුල් කර බමුණන් එකතුවී කළ විකෘති සැකසුමක් යැයි පවසමින්, ත්‍රිපිටක සූත්‍රවලින් 75% කට වැඩියෙන් අපහාසයට හැල්ලුවට ලක් කර, මේ උතුම් ත්‍රිපිටක ධර්මය බමුණන්ගේ කදමල්ලට දමන මේ ගුරුතුමා, බුද්ධඝෝෂ හිමියන්ගෙන් මෙහා ත්‍රිපිටක ධර්මය පවත්වාගෙන ආ මහා සඟ ථෙර පරපුරට බමුණු වාදය ආරෝපණය කරමින් නිගා කරන අතර, වසර 1500 ක අතීතයේ පටන් මේ දක්වා පැමිණ ඇත්තේ සිවුරු පොරවා ගත් බමුණන් මෙන්ම බමුණු මතවලින් විකෘති කළ ත්‍රිපිටකයක් බව මෙතුමාගේ ආලෝකය නම් පත්‍රවලින් සාක්ෂි පෙන්වා තියෙනවා.

පදයක අකුරක් වෙනස් වුනත් වසර 2600 ක් නිර්මලව ගෙනා ධර්මය අර්ථ විපරීත වීමට හේතුවන බව කියා, හෙළ බොදු පියුම දහම් සඟරාවේ දහම් ලිපි විවේචනය කළ මේ ගුරුතුමාගේ කියමන් ගැන විමසා බලන කොට පෙනී ගියේ, මෙතුමා මුලු ත්‍රිපිටක ධර්මයම කනපිට හරවන පුද්ගලයෙක් බවයි.

මහා පරිනිබ්බාන සූත්‍රයේදී අනිච්චාවත සංඛාරා යන ගාථාව සක්‍රදේවේන්ද්‍රයා විසින් බුදුරජුන් පිරිනිවන් පෑ අවස්ථාවේදි කී බව සූත්‍රයේ තියෙන බවත් ඇත්තක්. නමුත් මේ ගුරුතුමා උත්සාහ කරන්නේ ඒ ගාථාව සක්‍රදෙවියන්ගේ නිපයුමක් ලෙස අද තියෙන බමුණු ත්‍රිපිටකයේ (ගුරුතුමාගේ අදහස පරිදි) තියෙන ලෙස පෙන්වා මහා විකෘතියක් සිද්ධ කරන්නයි. ත්‍රිපිටක ධර්මයේ වෙන කොතනකවත් සඳහන් නැති මේ ගාථාව සක්‍රදේවේන්ද්‍රයාගේ නිපයුමක් ලෙස පෙන්වා, ඒ ත්‍රිපිටක ධර්ම රත්නය පවත්වාගෙන ආ මහා ථෙර පරපුරම අවඥාවට ලක් කර පාඨකයා නොමග යවන්න මේ ගුරුතුමා උත්සාහ කරන හැටි මැනවින් පෙනී යනවා.

මෙතුමන් පිලිබඳ විශ්වාසය තබන මෙතුමාගේ ශ්‍රාවක පිරිස ඉන් වැඩිමනත් දෙයක් නොසොයා, මහ සඟ පෙළ බමුණු පෙලක් ලෙසත්, මේ ශ්‍රී සත් ධර්මය බමුණන්ගේ කදමල්ලක් ලෙසත් විශ්වාස කරනු ඇති. මේ ගුරුතුමා ත්‍රිපිටක ධර්මය බුදු රජුන්ගේ දේශනාවට පටහැනි බමුණු දහමක් යැයි ප්‍රතික්ෂේප කරලත් අවසන්. බුද්ධං සරණං, ධම්මං සරණං, සංඝං සරණං යන්න බමුණන්ගේ කදමල්ලට දමා, සරණං යන්න චරණං ලෙස විකෘති කර ශ්‍රාවක පිරිසට උගන්වන මෙතුමා තව කලක් යන කොට ''ච" යන්න "ම" යන්න කර භාෂා රීතියක් හදල ඉදිරිපත් කරන්නත් බැරි කමක් නෑ.

ඉහත කී අනිච්චා වත සංඛාරා කියන පදය තුල ඇති "වත" යන පදය ''ඒකාන්තයෙන්'' යන අදහස දී ඇති අතර "අනිච්චා සබ්බේ සංඛාරා" කියා මේ ගාථාව දේශනා කර ඇති තැන් ත්‍රිපිටකයෙන් දැනගන්න අවශ්‍ය නම් සංඃනිඃ(1) 10 වැනි පිටුවේ එන <u>නන්‍ද සූත්‍රය</u> බලන්න.

මෙහි බුදුපියාණන් වහන්සේ මහණෙනියි, භික්ෂූන් අමතා පෙර වූවක් කියමියි දේශනා කර මේ කථාව සඳහන් කර තියෙනවා. තව්තිසා වාසී එක්තරා දෙවියෙක් දිව්‍ය අප්සරාවන් පිරිවරාගෙන නන්‍දන උයනෙහි පංචකාම සුව විඳිමින් මෙසේ කීය. "යම් කෙනෙක් පිරිවර ඇති තව්තිසා වාසී දෙවියන්ගේ වාසස්ථානය වූ නඳුනුයන නොදකිත්ද, ඔහු සැපය නොදනිත්.''

මහණෙනි, මෙසේ කී කල්හි එක්තරා දෙවියෙක් ඒ දෙවියාට ගාථාවකින් පිලිතුරු දුන්නේය. ''බාලය, තෝ සියලු සංඛාරයෝ අනිච්ච යන, ඉපදීම හා නැසීම ස්වභාව කොට ඇත්තාහ, ඉපද නිරෝධ වෙත්, ඔවුන්ගේ සංසිඳීම සැපය යන රහතුනගේ වදන ලෙස නොදන්හියි.'' (පොතේ ඊට ඇති තේරුමයි මේ.)

ඒ ගාථාව මෙසේය.

න ත්වං බාලෝ විජානාසී<br>
යථා අරහතං වචෝ<br>
අනිච්චා සබ්බේ සංඛාරා<br>
උප්පාද වය ධම්මිනෝ<br>
උප්පජ්ජිත්වා නිරුජ්ජන්තී<br>
තේසං වූප සමෝ සුඛෝතී

මේ පෙර වූ සිද්ධියක් බුදුරජාණන් වහන්සේ විසින් තම ශ්‍රාවකයන්ට දේශනා කරපු ආකාරයයි.

ඒ නිසා තව්තිසා වාසී අන්‍ය දෙවිවරු පවා, පෙර රහතන් වහන්සේලා නිතර සිහි කළ ගාථාවක් ලෙස මෙය දැන සිටි බව මෙසේ දේශනා කර තිබියදී, බුදුරජුන්ගෙන් බණ අසා සෝතාපන්න ඵලය ලබා සිටි සක්‍ර දේවේන්ද්‍රයන් මේ ගාථාව ප්‍රකාශ කිරීම අරුමයක් නෙවෙයි. නමුත් දෙවියන් පිලිබඳ සියලු කථා, පසුව ගොතා ත්‍රිපිටකයට ඇතුලත් කර ඇතැයි කියන මේ ගුරුතුමාගේ මතයට මේ දේව කථාවන් වහ කදුරු වී ඇති නිසා සක්‍ර දේවේන්ද්‍රයන් කියන්නේ දේව පුද්ගලයෙක් නොව සක්කාය යන්නට කියන නමක් යැයි තවත් මතයක් මෙතුමා ගෙන හැර දක්වනවා.

සංඃනි(1) <u>අනුරුද්ධ සූත්‍රය</u> 358 පිටුව.

අනුරුද්ධ හිමියන්ගේ පෙර අත් බැව්හි බිරියක් වූ තව්තිසා දෙව්ලොව සිටින ජාලිනී නම් දෙවඟනක් උන්වහන්සේ වෙත පැමිණ, පෙර යම් දෙව් ලොවක නුඹවහන්සේ සිටියේ ද, එහි සිත පිහිටවන්නැයි ඉල්ලීය. එවිට උන්වහන්සේ,

න ත්වං බාලෝ විජානාසී<br>
යථා අරහතං වචෝ<br>
අනිච්චා සබ්බේ සංඛාරා<br>
උප්පාද වය ධම්මිනෝ<br>
උප්පජ්ජිත්වා නිරුජ්ජන්තී<br>
තේසං වූප සමෝ සුඛෝ<br>
නත්ථිදානි පුනාවාසෝ<br>
දේව කායස්මිං ජාලිනී<br>
වික්ඛිනෝ ජාති සංසාරෝ<br>
නත්ථිදානි පුනබ්භවෝතී යනුවෙන් දේශනා කළා.

මෙහි පොතේ ඇති අර්ථය මෙසේය,

''බාල තැනැත්තිය, සියලු සංස්කාරයෝ අනිච්චය. ඉපදීම හා නැසීම ස්වභාව කොට ඇත්තාහ. ඉපද නිරුද්ධ වෙත්. ඔවුන්ගේ සංසිඳීම සුවය.... යන රහතුන්ගේ වදන් පරිදි හෝ තෝ නොදන්නාහු.

එම්බා ජාලිනී දැන් දේව කායෙහි නැවත විසීමෙක් (මට) නැත. ඉපදීම යැයි කියන ලද සංසාරය ක්ෂීණ වුයේය. දැනුත් පුනර් භවයක් (මට) නැත.

මේ අනුව මිනිස් ලෝකයෙත් බුද්ධ පරිනිර්වාණයට පෙර මේ ගාථාව භාවිතා වූ බවට ත්‍රිපිටක ග්‍රන්ථම සාක්ෂි දරනවා.

මී ලඟට ගුරුතුමා කර ඇත්තේ තවත් බුදු වදනක් තම මතය පරිදි වෙනස් කිරීමයි. එනම්, සබ්බේ සංඛාරා අනිච්චාති - යධා පඤ්ඤාය පස්සති - අථ නිබ්බින්දති දුක්ඛේ - ඒස මග්ගෝ විසුද්ධියා යන්නට ඒස මග්ගෝ විමුක්තියා කියමින් වසර 2600 ක පටන් ගෙනා ගාථා අර්ථය තම හිතුමතය පරිදි වෙනස් කිරීමයි.

සියලු සංඛාර අනිච්ච වශයෙන්, දුක්ඛ වශයෙන් සහ සියලු ධර්මයෝ අනත්ත වශයෙන් නිතර නුවණින් සිහි කරන කොට, ක්‍රමයෙන් පූර්ව භාග නුවණට ගෝචර වෙමින් සප්ත විසුද්ධිය වැඩෙන්න පටන් ගන්නවා. එහි උපරිම ප්‍රතිඵල ලෙසයි චතුරාර්ය සත්‍යය නුවනින් අවබෝධ කරමින් එම ඵලය වන සම්මා විමුක්තියට පත්වන්නේ. ඒ නිසා ගාථාවේ අගට ඇති විසුද්ධියා යන නිවැරදි වදන කපා හැර තම මතය පරිදි විමුක්තියා කියා යෙදීම පූර්ණ වරදක්.

සීල විසුද්ධි, චිත්ත විසුද්ධි... ආදිය බමුණන්ගේ කදමල්ලට දමා තම මතය තහවුරු කරගන්න මේ ගුරුතුමාට අවශ්‍යව ඇති නිසා, ශ්‍රාවකයන්ද මුලා කරමින් ධර්ම අර්ථ වසා හිතුමත ප්‍රකාශ කරන හැටි මෙයින් පෙනී යනවා.

අනිච්ච සහ අනිච්ඡ විසඳන්න ගිහින් තම මතය සනාථ කරන්න ත්‍රිපිටක ධර්ම රත්නය කනපිට පෙරලමින් එන පොට පිංවතුන්ට පළමුව මෙසේ පෙන්වා දෙනවා.

මී ලඟට දීඝ නිකායේ මහා නිධාන සූත්‍රය ගෙන හැර පාමින්, අෂ්ඨ විමෝක්ෂ තෝරන්න බුදුන් වහන්සේ ලොව පහළවන්න පෙර ත්‍රිවේද පරප්‍රාප්ත බමුණු ඉසිවරුද විමෝක්ෂ හතක් සපුරා සිටි ලෙස තව මතයක් ගෙන හැර පාමින්, බුදුරජුන් සොයා ගත්තේ අටවන විමෝක්ෂය බවට මුලා අදහසක් ගෙන හැර පෙන්වා තියෙනවා. සූත්‍රයේ පෙන්වා ඇති කරුණු හරිහැටි තේරුම් ගත්ත නම්, අෂ්ඨ විමෝක්ෂයන්ගෙන් හතක් නොව එකකින් අංශු මාත්‍රයක්වත් බුදු සසුනින් බැහැර කිසිවෙකුටවත් ලබන්න බැරි බව ඔප්පු වෙනවා.

රූපාවචර ධ්‍යාන සහ අරූපාවචර වූ ආකාසානංචායතන, විඤ්ඤානංචායතන ආකිඤ්චඤ්ඤායතන, නේව සඤ්ඤානාසඤ්ඤායතන කියන මේ හැම එකක්ම ලබා සිටියත්, ඒවායේ ඡන්ද රාගයක්, අවිද්‍යා අනුශයක් බිඳ හැරිය කිසිම බාහිර යෝගියෙක් හෝ ඉසිවරයෙක් නම් නෑ. ඒවා විමුක්තායතන වීමට නම් ඒවායේ බැඳුනු ඡන්ද රාගය, අවිද්‍යා අනුශය සහමුලින්ම දුරු විය යුතුයි. එවිටයි පූර්ණ විමුක්තායතන වන්නේ.

මේ මහා නිධාන සූත්‍රය අනුව සප්ත විඤ්ඤාණස්ථිති සමග අසඤ්ඤසත්තය සහ නේවසඤ්ඤා නාසඤ්ඤායතන යන ආයතන දෙක යන නව තැන් පිළිබඳවත් ඒවායේ ස්වභාවයත්, ඒවායේ සමුදයත්, ඒවායේ නිරෝධයත්, ආස්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත් තතු සේ මනා දහම් නුවණින් දැනගත යුතුයි. එවිට ඒවා කෙරෙහි හට ගන්නා ඡන්ද රාගය දුරු වෙනවා.

පඤ්ඤාවිමුක්ත රහතන් වහන්සේ අනුපධිශේෂ පිරිනිවනට පත්වන තුරු, පියුම් පතෙහි ජලය එහි නොගැටී ඒ මතම තියෙන සේ, ඉහත කී ධ්‍යාන සමාපත්ති ආදියේ පිහිටා පූර්ණ අනුපධිශේෂ නිවන එන තුරු පැවැත්ම ගෙන යනවා. ඒ උතුමන්ටයි අෂ්ට විමෝක්ෂ පහළ වන්නේ. ඒ ධ්‍යාන සමාධි තත්වයන්ගේ විමෝක්ෂ නම් වූ වෙනස වන්නේ ඒවාට අංශු මාත්‍ර ලෙසවත් ඡන්ද රාගයෙන් හෝ අවිද්‍යා අනුශයෙන් හෝ සම්බන්ධයක් නොවීමයි. නමුත් මේ ගුරුතුමා දරන මතයන්ට අනුව මේ ස්වභාවය වටහා ගන්න බැරි නිසා මෙසේ විකෘති අදහස් දෙන බවයි පෙනී යන්නේ.

මී ලඟ කරුණ නම් අට්ඨක්ඛරා තීනිපදා සම්බුද්ධේන පකාසිතා යන ගාථා පාඨය අඥාන, බොළඳ, මුග්ධ ප්‍රකාශයක් යැයි කියමින් ඊට අවමන් කිරීමයි. මෙය මහා ගැඹුරු ධර්ම ස්වභාව ලක්ෂණයක මාතෘකා පාඨයක් බව තේරුම් නොගත් අඥාන කමට එසේ නිගරු කර ඇති බව පෙනී යනවා.

ආර්යෂ්ඨාංගික මාර්ගයට පත්වීමට ඇති අසූහාර දහසක් ධර්මස්කන්ධයන් තුලින් ඒ ඒ ආකාරයෙන් දකින්නේ අකුරු අටක් පද තුනක් ලෙස කී මේ මාතෘකා පාඨයෙන් පෙන්වූ දහමයි. මේ ගුරුතුමා පිලිගත්තත් නැතත් විනය පිටකයට 21,000 ක් ද, සූත්‍ර පිටකයට 21,000 ක් ද, අභිධර්ම පිටකයට 42,000 ක් ද වශයෙන් නිවන් අවබෝධයට හේතුවන ධර්මස්කන්ධ අසූහාර දහසක් තියෙනවා.

තමන්ට සුදුසු, අවබෝධයට පහසු එක ධර්මස්කන්ධයක් අහන්න ලැබුනත්, ඒ තුලින් ඒ පින්වතා අනිච්ච - දුක්ඛ - අනත්ත කියන ත්‍රිලක්ෂණ අවබෝධය ලබා පූර්ව භාග නුවණ පළමුව පහළ කරගන්නවා. මාර්ග චිත්තය ලබන මොහොතට කියන්නේ සම්මා ඥානය කියලයි. එහි ප්‍රතිඵලය සම්මා විමුක්තියයි. **ත්‍රිලක්ෂණය පිළිබඳ වැටහීම නොදී නිවන් ලබන බුදු බණක් මේ සාසනය තුල නෑ. චතුරාර්ය සත්‍යය සම්බන්ධ නැති සම්මා ඥානයක්ද බුදු සසුන තුළ නෑ. චතුරාර්ය සත්‍යය අවබෝධ නොකර, ප්‍රත්‍යක්ෂ නොකර ලැබිය හැකි සම්මා විමුක්තියක් ද මේ බුදු සසුනේ නෑ.** තේරුම් ගත නොහැකි මුලාව නිසා මේ සත්‍යයන්ට අනාර්ය සත්‍යයි කියල කිව්වත් කිසි කලෙක එය එසේ සිද්ධ වෙන්නෙ නෑ.

අනිච්ච තෝරා දෙන්න යැයි පටන්ගෙන කර ඇති විපරීතය දකින කොට තව මොනවා මෙතුමාගෙන් දැනගන්න දැයි හිතෙන්නේ නිරායාසයෙන්. එතුමා ඇරඹූ ලිපිය බලන්න පටන්ගත් නිසා කෙළවරට බලා කිව යුත්තක් ඇත්නම් පළමු වරටත්, අන්තිම වරටත් මෙසේ පවසන්නේ ඒ සඳහා කාලය ගත කිරීමත් නිෂ්ඵල බව පෙනෙන නිසයි.

මීලඟට විශ්වය සහ සත්ත්වයා පිළිබඳව විෂයක් ඇදගනිමින් අනවශ්‍ය වේද දෘෂ්ටියක් විග්‍රහ කරන්න ගිහින්, සත්ව චින්තනයක් මිනිස් චින්තනයක් වී එම චින්තනයම දාර්ශණික චින්තනයක් වී යැයි මතයක් පවසමින්, බමුණන්ගේ ත්‍රී වේද වර්ණනාවක් ද කරමින් "ත්‍රිවේධ බ්‍රාහ්මණ අරන්‍යක උපනිෂද්... ආදී ලෙස හැඳින්වෙන වෛදික සාහිත්‍යයක් ලැබීමට තරම් අපි වාසනා වසන්තයෝ වෙමු'' යි වැඩකට නැති ලෝකායත ශාස්ත්‍ර වර්ණනාවක්ද කර, තවත් තැනක ධර්ම පොත්පත් අටුවා ටීකා පැත්තකට දමා සත්‍යය හොයා ගන්නා ලෙසද කියමින්, බමුණු මත අනුව ලෝකය හැදුන හැටි සනාත කිරීමට විවිධ සූත්‍රවල නම් ඒ අතරට දමමින් නිරර්ථක කථාවකින් පාඨක මනස පැටලී යන විග්‍රහයක් කර, දීඝ නිකායේ සක්ක පඤ්ඤහ සූත්‍රය නිදර්ශනයක් ලෙස ගෙන හැර දක්වමින් ඒ සූත්‍රයේ කොතනකවත් නැති විග්‍රහයක්, ඒ සූත්‍රයේ ඇති සේ නිර්මාණය කර මේ ගුරුතුමා මෙසේ පෙන්වා තියෙනවා.

විශ්වය චක්‍රාවාටයකි. (සක්වලකි) තමා වටේ භ්‍රමණය වෙමින් සූර්යා වටා භ්‍රමණය වන පෘථිවිය... ආදී ග්‍රහලෝකවලට (සූරිය වච්චසා) සූර්ය වර්චස් හෙවත් සූර්ය කිරණ පතිත වී පෘථිවිය ආදී ග්‍රහලෝකවල පවත්නා පරමානු ශක්ති සමග සංයුක්ත වී ආපෝ, තේජෝ, වායෝ, පඨවි යන ස්වභාවයන් නිර්මාණය වේ යනුවෙන්ද, ඒවා සංයුක්ත වීමෙන් වෘක්ෂ ජීවීන් හා සත්ව ජීවීන් නිර්මාණය වේ යනුවෙන්ද විකෘතියක් පෙන්වමින් මෙයට සාක්ෂියක් ලෙස න චේතනාකරණී සූත්‍රයත් අමුණාගෙන තියෙනවා. ත්‍රිපිටක ධර්මයේ අහලකවත් නැති මෙබඳු මතිමතාන්තර ඉදිරිපත් කරමින් පාඨකයා මුලා කරන්නේ ඊනියා මතවාදයක් බුදු දහම ලෙස සනාථ

කර පාඨක පිරිසත් මුලා කරමිනුයි.

ඉන්පසු නැවතත් උඩුගං බලා යාමක් යනුවෙන් පටිසෝත ගාමී මගක් විග්‍රහ කරන ලෙස බත් ඇටයක් හැදුන හැටි විග්‍රහ කර, බත් ඇටය හැදෙන්න වී ඇටයත්, ඊට ගොයම් ගසත්, ඊට කුඹුරත්, මඩ සහිත පොළොවත්, ඊට වැස්සත්... ආදී වශයෙන් මෙසේ කියාගෙන ගිහින් තාපය ඇති වීමට සූර්යාත් කියා, ගමන සූර්යාට ප්‍රධාන තැනදී නවත්වා, තවත් අමුතු ක්‍රමයේ විදර්ශනාවක් ලෙස කුඹුර තැනීමට ගොවියාත්, සී සෑමට ගවයාත්, ඊට උපකරණ ලෙස නගුල, උදැල්ල ආදියත්, ඒවා හදන්න කම්කරුවොත් මෙසේ එකින් එකට හේතුව වූ භෞතික ක්‍රියාදාමයක් විදර්ශනාව ලෙස පෙන්වමින්, බත් ඇටය තුල මේ සියල්ලම ඇතුලත් යැයි කියා, බත් ඇටය තුල වලඳත් ඇතැයි අමුතුම වෛදික මතයක් ගෙන හැර දක්වන්නේ බුදු දහමේ විදර්ශනාව ලෙසයි. විදර්ශනාවට හේතුවන අනිච්ච, දුක්ඛ, අනත්ත ප්‍රධාන වන හැටි ත්‍රිපිටක බුද්ධ ධර්මය තුල සාක්ෂි දහස් ගණනක් තිබියදී, ඒ සියල්ල යටපත් කරමින් මෙතුමා මේ ප්‍රකාශ කරන්නේ බුදු දහමද බමුණු දහම දැයි විමසා බැලීම වටිනවා.

බත් ඇටයක් සකස් වීමට ශ්‍රම සීයක් අවශ්‍ය යැයි බමුණු මතයක් තිබූ බව නම් විනය පිටකයේ භෝජන පිලිබඳ කළ විස්තරයක සඳහන් වෙනවා. ශ්‍රම සියයකින් බත් ඇටයක් ඉපදෙන හැටි පෙන්වූ බමුණු දහමට නම් මේ ගුරුතුමා පෙන්වන අමුතු විදර්ශනාව ගැලපෙනවා. නමුත් මේක බුදු දහමට කෙසේවත් සම්බන්ධ කළ හැකි විදර්ශනාවක් නෙවෙයි.

**අන්‍යෝන්‍ය ආධාරයෙන් ලෝකය සකස් වී ඇති බව, ලෝක ධර්මතාවක් ලෙස ලෝකයේ දක්නට ලැබුනත්, ඒවාට මුල්වන්නේ සූර්යා නොව තම තමන් කළ කර්මයන්ගේ බල ශක්තියයි.** ලෝකය සකස් වූ ප්‍රත්‍ය විග්‍රහය ත්‍රිපිටකය තුල ඇත්තේ පට්ඨාන ප්‍රකරණයේය. **මේ සියලු ප්‍රත්‍යයන්ට මුල්වන්නේ හේතු ප්‍රත්‍ය හෙවත් ලෝභ, ද්වේශ, මෝහ, අලෝභ, අද්වේශ, අමෝහ යන හේතු හය බව මුලටම** පෙන්වා තියෙනවා. ලෝකය දෙස මුලා සහගතව බලන පුද්ගලයාට දිට්ඨි, සංඥා, චිත්ත යන විපල්ලාස (විපර්යාස) පවතිනවා. අනිච්ච, දුක්ඛ, අනත්ත, අසුභ කියන යථා ස්වභාවය නොදැක නිච්ච, සුඛ, අත්ත, සුභ යන විකෘති හෙවත් විපල්ලාස ගොඩනැගීමයි ලොව සකස් වීමට හේතු වන්නේ. එවිටයි ලෝභ, ද්වේශ, මෝහ යන මුලා ස්වභාවය යලි යලි ගොඩනැගෙන්නේ. මේවා පිලිගන්නේ විමසා බලා මිසක් නිකම් මුලා සහගතව කරන මොට වූ තීරණ මත නෙවෙයි.

මේ ගුරුතුමා අටුවා ටීකා පොත් පත් ආදියෙන් සත්‍යය දර්ශනය කළ නොහැකි බව කියමින් තම මත ප්‍රකාශ කරන්න විවිධ සුළු සුළු පාඨ කැබලි, විවිධ පදවල ලෝකායත ශාස්ත්‍ර අනුව සකස් කර ඇති පද බෙදීම් ආදිය උපයෝගී කරගනිමින්, තම හිතු මතයට ඒ මත ගෝචර පරිදි තිසරණ වාක්‍යයන්හි සරණං යන්න <u>චරණං</u> කරමින් ද, චතුරාර්‍ය සත්‍ය කියා ඇති සියලු සූත්‍ර පද චතු අනාර්ය සත්‍ය කරමින් ද, සක්‍ර දේවේන්ද්‍ර සක්කාය කරමින්ද, මාතලී දෙව් පුත් ශරීරය කරමින් ද, බේලුව පන්ඩු වීනාව මුඛය කරමින් ද, උරුවෙල් දනව්ව අරූප සමාධියක් කරමින් ද බුදු දහමේ සූත්‍රවල පද දහස් ගණන් විකෘති කරමින්, විකෘති අර්ථ දෙමින් විවිධ මතිමතාන්තර ඉදිරිපත් කරමින් මුලු බුදු දහමේම විස්තර ලොව සිදු වූ සිද්ධියක් නොව, මනඃකල්පිතයක් කරමින් කටයුතු කරමිනුයි අනිච්ච සහ අනිච්ඡ යන වචන තෝරන්න බලාපොරොත්තු වෙන්නේ.

පාලි පදවලට සිහල භාෂාවෙන් අර්ථය වැටහෙන පරිදි භාවිතා කළ හෙළ වදන් යටපත් කර, ඒ වෙනුවට සංස්කෘත පද විග්‍රහ කරදීමෙන් සිද්ධ වෙච්ච අර්ථ විපර්යාසය හේතු ඇතිව පෙන්වන කොට, ඊට විරුද්ධව තම තමන් ඔසවා ගෙන සිටින විකෘති මතම සනාථ කරගන්න මාන බලන ආකාරය මේ ගුරුතුමාගේ ලිපිවලින් මනාව පෙනී යනවා.

අපට නම් අවශ්‍ය වෙන්නේ පදයේ අකුරු හැදීම නෙවෙයි, ඒ පදයෙන් පෙන්වූ මූලික මෙන්ම පුරාණයේ පටන් ගෙන ආ නියම අර්ථය ඔප් නංවා ගැනීමයි. දැනට පදර්ථ පෙන්වන්න භාවිතා කරන ලිඛිත භාෂා පද බෙදීම් ක්‍රම රටා බුද්ධ දේශනා නොවන අතර ඒවා බමුනු මත වාදී ලෝකායත ශාස්ත්‍ර ක්‍රමයන්ය.

අනිච්ච යන්නට සිංහල වචනය අනියත යන්නයි කියා මේ ගුරුතුමා එහි හෙළ අර්ථය යලි වහන්න උත්සාහකර තියෙනවා. "ජීවිතං අනියතං මරණං නියතං" ආදී මරණානුස්සතිය වඩන්න යැයි පාලි පාඨ වැලක් වසර සිය ගණනක පටන් භාවිතා කර තියෙනවා. අනියතං කියන්නේ මෙහි සිංහල වචනය නෙවෙයි පාලි වචනයක්. ස්ථිර නැත හෙවත් අස්ථිර බව පවසමින් ත්‍රිලක්ෂණයේ පෙන්වන අනිච්ච කියන්නේ ස්ථිර නැති බව පෙන්වන පදයකැයි අර්ථ ගන්වන්න ගුරුතුමා මේ සෑම ප්‍රයත්නයක්ම දරා තියෙනවා. සිංහල පදයක් ලෙස අද මීට අර්ථ පවසන්නේ අනිත්‍ය කියලයි. සිංහලයන්ට අර්ථය මනාව වැටහෙන අනිස යන පදය මකා දමා ඊට අනිත්‍ය කියා යොදා සංස්කෘත පදර්ථය වූ ස්ථිර නැත යන්න මෙකල මීට දී තියෙනවා. **පදය කොහොම ලිව්වත් නිවනට බාධා වෙන්නේ පද නෙවෙයි අර්ථය විපරීත වීමයි.**

**බුදු දහමේ අර්ථ විකෘති වීමට විශේෂයෙන් හේතු වෙලා තියෙන්නේ මෑත කාලයක සිංහලයට පරිවර්තනය කරල තියෙන ඒ හෙළ වදන් වෙනුවට, අර්ථය හඟවන්න සංස්කෘත පද දී සංස්කෘත භාෂාමය අර්ථයක් ඔප් නැංවීම බව පෙනී යනවා. එබඳු පාලි පදවලට සිංහල පද යැයි කියමින් සංස්කෘත පද ඒ වෙනුවට දී ඇත්තේ දැනට වසර තුන් හාර සියයකට පෙර ත්‍රී වේදය ඉගෙන ගනිමින් සංස්කෘත භාෂාව තම මව් බස අමතක වන තරමට උස්සාගත් පරපුරක් විසින් බව පෙනී යන** කරුණක්. පෙළ දහමේ පාලි පදවලට හෝ අටුවාවේ පාලි පදවලට සංස්කෘත පද විග්‍රහකර ඇති බවක් මේ වනතුරු දකින්න නැති අතර **සිංහල භාෂාවේ පදවලට නම් 50% කටත් වැඩි තරම් අද භාවිතා වන්නේ සිංහල අරුත යටපත්කර සංස්කෘත අරුත ඔප් නැංවූ පදයන්.** ඒ නිසා සෙවිය යුත්තේ 'ච' යන්න 'ඡ' යන්න වෙනස් වීම නෙවෙයි, විශාල අර්ථ විනාශයක් කළ සංස්කෘත පණ්ඩිතයන්ගේ විකෘති අර්ථ පාලි සහ සිංහල පදවලට ආරෝපනය වුන හැටියි.

**බුදු දහම ආරම්භයේ පටන් මුඛ පරම්පරාවෙන් පාලි පද ශබ්දය අර්ථවත්ව ගෙනා අපේ මහ සඟ පරපුර, වසර දෙදහසක් පමණ යනතුරු සංස්කෘත ආභාෂයට නැඹුරු වූ බවට සාක්ෂි මෙතෙක් දැනගන්න ලැබිල නෑ.** දැනට වසර පන්සියයකට පමණ පෙර කාලය වනතුරු බ්‍රාහ්මී අක්ෂරවලින් සටහන් කරගත් ග්‍රන්ථාරූඪ කිරීම කර තිබූ බවට නම් සාධක තියෙනවා. පාලි ශබ්දය ලියන්න අද තියෙන සිංහල අකුරු ඇති ලිඛිත භාෂාවක් හෝ පද බෙදන ව්‍යාකරණ නිරුක්ති රටාවක් හෝ වසර පන්සියයකට පෙර භාවිතා කර නැති බව පෙනී යනවා.

දැනට අපි භාවිතා කරන වට අකුරු මෙකල පාලි ලියන්නත්, සංස්කෘත ලියන්නත්, සිංහල ලියන්නත් භාවිතා කරන අතර, පද බෙදන ව්‍යාකරණ නිරුක්ති රටාවක්ද අලුතෙන් සකසා ගෙන ඇත්තේ ඉන්දියාවේ පැවැති ආනන්ද, නාලන්ද ආදී සංස්කෘත විශ්ව විද්‍යාලවල ආභාෂයෙන් බව පෙනී යනවා. ඒකාලයේ පටන් ක්‍රමයෙන් සිංහල දහම් අර්ථ යටපත් වෙමින් ඇවිත් වසර පන්සියයකට පමණ පෙර පටන් මේ දක්වා ඒ ක්‍රමවේද අර්ථ විග්‍රහ කරන්න උපයෝගි කර ගන්නා හැටි දකින්න පුළුවන්. මේවා ඉගෙනගත් භාෂා විශාරද සේ සිටින පණ්ඩිතයන්ට මේ ගැන පවසන කොටත් වහකදුරු වන හැටි පෙනී යනවා.

මේ පාලි පදවලට හෙළ අරුත් දුන් සිහල පද කොච්චර නම් අපෙන් ඈත් වෙලා දැයි මේ කුඩා වගුවෙන් පෙනී ☞

යනවා.

මෙබඳු වචන සිය දහස් ගණනක සිංහල වචන අපෙන් දුරස් වෙලා ඒ වෙනුවට සංස්කෘත වචන භාවිතාවට පත්වී ඇති හැටි මෙයින් පෙනී යනවා.

| පාලි | සංස්කෘත | සිංහල |
|---|---|---|
| අනිච්ච | අනිත්‍ය | අනිස |
| දුක්ඛ | දුඃඛ | දුක |
| අනත්ත | අනාත්ම | අනත |
| පටිච්ච සමුප්පාද | ප්‍රතීත්‍ය සමුප්පාද | පිළි සමුපා |
| ධම්ම | ධර්ම | දම් |
| මග්ග | මාර්ග | මග |
| සච්ච | සත්‍ය | සත් |
| චත්තාරි අරිය සච්ච | චතුරාර්ය සත්‍ය | සිව් අරිසස් |
| නිම්මාන | නිර්මාණ | නිමවුම් |
| පදේශ | ප්‍රදේශ | පෙදෙස් |
| පුබ්බ | පූර්ව | පෙර |
| වෙයියකරණ | ව්‍යාකරණ | වියරණ |
| පාන | ප්‍රාණ | පන |
| ධම්මචක්කප්පවත්තන | ධර්මචක්‍රප්‍රවර්තන | දම්සක්පැවතුම් |
| භව | භාව | බව |

**පෙල දහම් පොත්වල හෝ මූලික අටුවා වන පටිසම්භිදා මග්ගප්ප්‍රකරණ, පෙටකෝපදේශ, නෙත්තිප්‍රකරණ ආදියේ පාලනය, ලිඛිත අයිතිය ත්‍රිවේද පරප්‍රාප්ත බමුණන් අතට පත් වුනා නම්, හෙළ බසට වූ සංස්කෘත පද මිශ්‍රවීම ඒකාන්තයෙන්ම ඒවාටත් සිදු විය යුතු අතර ඔවුන්ගේ ආත්ම වාදය, සාස්වත වූ ලෝකයක් පිළිබඳ ස්ථාන ආදිය මේ ත්‍රිපිටකයට ඇතුලත් විය යුතුයි. නමුත් එහෙම වෙලා නෑ.**

තවද මස් කෑමට රිසියවුන්ගේ අදහස් ධර්ම විනය ග්‍රන්ථවලට එක්කළ බවට සමහරුන්ගේ මතයක් තියෙනවා. එබඳු හිතු මත එක් කරන්න යම් පිරිසකට අවස්ථාව ලැබුන නම්, ආහාර ගිජුකමට, කෑදරකමට වඩා දහ පහලොස් ගුණයක් ගිජු වූ කෑදර වූ ලිංගික කාම බුක්තියටත් සුදුසු ක්‍රම ත්‍රිපිටකයට අනිවාර්යයෙන්ම එකතු කරන්න තිබුණා. නමුත් එවැනි දේවල්වලට අංශු මාත්‍රයකවත් අවස්ථාවක් ත්‍රිපිටක ග්‍රන්ථ තුළින් දීල නෑ.

ඒ නිසා වෙනස් කරල තියෙන්නේ ත්‍රිපිටකයේ මූලික අටුවාව නෙවෙයි. ඒවාට තේරුම් ඉදිරිපත් කරන්න ගිහින් සංස්කෘත ආභාශයන් කාවද්දා ඇති  කරගත් පැටළිලි සහගත බවයි මේ සිද්ධ වෙලා තියෙන්නේ.

**පදවලට අර්ථ නැගුන හැටි බුදුපියාණන් වහන්සේ විසින් අග්ගඤ්ඤ සූත්‍රයේ මනාව පෙන්වා තියෙනවා. සිහල බසේ පද එක් වීම සහ බෙදීමට තිබූ විභක්ති** රටා නම් පෙර පටන් පැවති ශබ්ද සම්බන්ධ වන මෙන්ම ශබ්දානුකූල පද වෙන්කරන පූර්වස්වර ලෝප සන්ධි, පරස්පර ලෝප සන්ධි, ස්වරාදේශ, ස්වරාරූඪ ආදී පද සන්ධි ක්‍රමයන්ය. ඒ හෙළ බස් පද බෙදීම පිළිබඳ දැනීමක් නැති එවුන් සේ, හෙළ වියරණ යටපත් කරමින් සංස්කෘත ආභාශයෙන් ගොඩනැගුන පාලි පද බෙදීමක් මෙකල දක්නට තියෙනවා. ඒ පද බෙදීමත් බමුණන්ගේ ක්‍රම වේදයක් බව පෙනෙන්නේ එබඳු පද ගැලපීමකින් ශබ්ද සම්බන්ධ වන කිසිම වාචසික ආකාරයක් කටේ ශබ්ද හුරුව අනුව නැගෙන්නෙ නැති නිසයි.

නියම ලෙස පද බෙදන හෙළ බස මූලිකව ගොඩනැගුන විභක්ති ක්‍රමය, පාලි ශබ්දය බෙදීමෙන් ඉවත්කර සංස්කෘත ආභාශයක් ඊට ආරූඪ කිරීම කර ඇත්තේ ත්‍රිවේධධාරී බමුණන් බව පෙනී යනවා.

පටි + <u>ඉ</u>ච්ච = පටිච්ච

මෙහි සම්බන්ධ දෙවැනි පදයේ ස්වරය ලොප් වීමයි <u>ඉ</u> ලොප් වීමෙන් පෙනෙන්නේ. මෙහි ශබ්ද එකතු වී ඒ පද දෙකක් එක පදයක් වීම පොඩි ළමයෙකුටත් වැටහෙනවා. නමුත් ඉහත ගුරුතුමා පෙන්වා ඇති වේද ධාරී  ක්‍රමය මෙසේය.

පටිජ = පටි + ජ = පටි + ජජ = පටි + ජ්ජ = පටි + ච්ච

මෙය භාෂා රීතියක් ලෙස හදාගත් ක්‍රමයක් මිසක් ශබ්ද රීතියක් හෝ භාෂා මුඛ ව්‍යවහාර ක්‍රමයක් නම් නෙවෙයි. ඒ නිසා මෙබඳු පද බෙදීම් බුදු පියාණන් වහන්සේ අනුමත කළ බවට කිසිම සාධකයක් ත්‍රිපිටකය තුල දකින්න නෑ.

ඉගෙන ගත් භාෂා රීති අනුව පටි + ඉච්ච කියා යෙදෙන්න, පටි කියල පාලි පදයක් ද නැති බව මේ ගුරුතුමා කියන අතර කබරගොයා තලගොයා කරගෙන එතුමා පද නිරුක්ති පෙන්වා ඇති ආකාරය ආලෝකය නම් පත්‍රයේ දක්නට ඇති තැන් මෙසේය.

චීවර = ච + <u>ඉවර</u> - මෙහි ඉවර යන පදය මොන පාලියේ පදයක්ද?

බේලුව = <u>බිල</u> + <u>එව</u> - මෙහි බිල සහ එව මොන පාලි පදද?

පන්ඩු = පහ + අඬු - මෙහි පහ සහ අඬු යන පද මොන පාලි ද?

තවද සක්ක සක්කාය වුන හැටි, සාරිපුත්ත = ධර්මය, මොග්ගල්ලාන =විනය, මේ අගසව් මැද සිටින්නේ බුද්ධ කියන මේවා මොන නිරුක්ති ද?

එසේම මේ පත්‍රයේ තියෙන පටි කියා පාලි පදයක් නැතැයි කියමින් බෙල්ට්වලට පටි නොකියන බවත් කියමින්, ඕනෑකමින්ම ''පටි'' කියන්නේ බැඳීම පෙන්වන්න දෙන අදහසක්ය යන්න හාස්‍යයට ලක්කර ඇති ආකාරයත් පෙනී යනවා. ඉනේ බඳින පටිවලට හෝ පටි යන්න කියවෙන ආසන්න පාලි නාමයක් දැනගන්න අවශ්‍ය නම්, චුල්ලවග්ගපාලි (2) 92 පිටුව බලන්න. ''වේ අනුජානාමි භික්ඛවේ ද්වේ කාය බන්ධනානි, <u>පට්ටිකං</u> සූකරන්ත කන්ති''

මහණෙනි, පට්ටිකාවද සූකර නිතයද (සුදුසුයි, පහසුවට හදාගන්නා දෙයක්) යන කාබහන (කයට පළඳනවා, කාය බන්ධනය) දෙක අනුදනිමි.'' මේ කියන පට්ටිකාව කෙටි කරල කියන කොට පටි කියලත් යෙදෙනවා. සිංහලට අපි පටි, පටිය කියන්නෙත් මේ පාලි ආභාෂයෙන් ලැබුන පදය නිසා බව පෙනී යනවා.

භූමිය හෝ යමක් වසාගෙන පිහිටන දෙයටත් පට යන වචනය භාවිතා කර ඇති තැන් පාලියේ තියෙනවා.

තවද දීඝ:නි:(3) <u>අග්ගඤ්ඤ සූත්‍රය</u> 148 පිටුව - **ලෝකාරම්භයේ සත්ත්වයන්ට තිබූ (අද කියන සත්තු නොවේ) කිරි යොදයක් වන් රස පොලව අතුරුදන් වූ පසු ක්‍රමයෙන් ශරීර ඝන වීමත්, රසයට ගිජු බවත් නිසා භූමියට බැඳී පහල වූ ආහාරයක් ලෙස භූමි පප්පටක හෙවත් භූමි පප්පාටික නම් මිහිරි වූ රස ආහාරය පහළ වූ බව මෙහි දක්වා තියෙනවා.**

**මෙසේ රාගයෙන්, ඉච්ඡාවෙන් බැඳීම නිසා ශරීර ඝන බවටත්, ආහාරය ක්‍රමයෙන් ඝන වී බදාලතා නම් වැල් සහ ගොයම් සහ පොතු නැති සහල් හට ගැනීම ආදියත්, තවත් කල් යන කොට ඉච්ඡාවෙන් වෙලෙමින් සත්ත්ව මනස ක්‍රමයෙන් ඉච්ඡා සහගතව ලොවට බැඳෙන කොට**

**ලෝකය අභ්‍යන්තර බාහිර ලෙස ගොඩනැගුන හැටිත් මේ සූත්‍රයේ පෙන්වා තියෙනවා.**

ලෝකය හටගැනීම කියන්නේ පටිච්ච සමුප්පාද ධර්‍මයන්ගේ හට ගැනීමයි. සත්තු හා වෘක්ෂලතාදිය සූර්‍යයාගෙන් හටගත්තා යැයි කියන ගුරුතුමා තම මතය සනාථ කරන්න හැදුවත්, ඒ සඳහා මේ සූත්‍ර බමුණන්ගේ කදමල්ලට දමන්න හැදුවත් ඒවා අමන ප්‍රයත්නයන් බව පෙනී යනවා.

ඉච්ඡා බන්ධනය තේරුම් ගන්න බැරිව බෙල්ට් හෙවත් ඉනේ බඳින පටි මතක්වන පින්වතුන්, ලෝකය තවත් ලෙසකින් කියනවානම් පටිච්ච සමුප්පාද ධර්‍ම <u>ඉච්ඡා බෙල්ට්</u> (ඉච්ඡා බන්ධන) නිධාන කර මුල්කර පහල වන අයුරු පහත පෙන්වන බුද්ධ දේශනා අනුව වටහා ගැනීම මැනවි.

සංːනිː(1) <u>ඉච්ඡා සූත්‍රය</u> 76 පිටුවː- ඉච්ඡාය බජ්ජතී ලෝකෝ - ඉච්ඡා විනයාය මුච්චතී, ඉච්ඡාය විප්පනානේන - සබ්බං ජින්ධති බන්ධනන්ති.

<u>තේරුමː</u> ලොව ඉච්ඡායෙන් බැඳේ - ඉච්ඡාව දුරලීමෙන් සිඳේ, ඉච්ඡාව ප්‍රහාණ කිරීමෙන් - සියලු බැඳම් සිඳේ

සංːනිː(1) <u>පාථෙය්‍ය සූත්‍රය</u> 82 පිටුවː- ඉච්ඡා බද්ධා පුථූ සත්තා - පාසේන සකුණී යථා තී

<u>තේරුමː</u> මළ පුඩුවෙන් බැඳුනු ලිහිණියා මෙන් බොහෝ සත්වයෝ ඉච්ඡාවෙන් බැඳුනෝය.

බුːනිːසුːනිː 276 පිටුව <u>කලහ විවාද සූත්‍රය</u> 876 ගාථාව.

නාමංච රූපංච පටිච්ච ඵස්සා - ඉච්ඡා නිධානානි පරිග්ගහානී, ඉච්ඡාය සන්ත්‍යාන මමත්ථ මත්ථී - රූපෙ විභූතෙන ඵුසන්ති ඵස්සෝ

<u>තේරුමː-</u> සම්ප්‍රයුක්ත නාමය හා වස්ත්වා ලම්භන රූපය නිසා ස්පර්ශයෝ උපදනාහ. තෘෂ්ණා දෘෂ්ටි පරිග්‍රහයෝ ඉච්ඡාව ප්‍රධාන කොට ඇත්තාහ. ඉච්ඡාව නැතිවත්ම මමත්වය නැත. රූපය ඉක්මයත්ම ස්පර්ශයෝ නොපහස්නාහ.

මේ බුද්ධ දේශනාවලින් ඉච්ඡා බන්ධනවල (විතණ්ඩ වාදීන් කියන ඉනේ බඳින පටිවල, බෙල්ට්වල) ස්වභාවය පෙනී යනවා.

මෙන්න මේ ඉච්ඡා බන්ධනය නිසා ඇතිවන සමුප්පාදය හෙවත් ලෝකයේ පහළ වීම පටිච්ච සමුප්පාදයට ධර්මානුකූලව පෙන්විය හැකි අදහසයි. 'පටිච්ඡ' කිව්වත් 'පටිච්ච' කිව්වත් එහි දහම් අදහසයි ඉහත සඳහන් කළේ.

දැන් ලෝකායත ශාස්ත්‍රයන්හි නිපුන ගුරුතුමා දී ඇති අදහසත් විමසා බලන කොට මෙසේ වෙනවා.

පටි + ජ හෙවත් පටිච්ච කියන්නේ යලි ඉපදීමලු. එනම් නැවත ඉපදීම යනුවෙන් විස්තර කර තියෙනවා. මෙය විමසා බැලීමේ දී නැවත ඉපදීම කියන කොට හැඟෙන දෙයක් නම්, පෙර තිබී මියගිය දෙයක් විය යුතුයි යන්නයි. **හේතු නිසා ඵලයක් උපන්නා නම් එය ඉපදීමක් මිසක් ඊට නැවත ඉපදීමක් කියල කියන්න බෑ. උපන් දෙයක් හෙවත් යම් සංඛතයක්වත් නිරෝධ වන තුරු, එසේ නොපවතින බව ධර්‍මනුකූලව පෙන්වා තියෙන්නේ අනෙකක්ම උපදී, අනෙකක්ම**



**නිරෝධ වේ යන සිද්ධාන්තයෙන්.**

අනිත්‍ය වෙන හැටි ප්‍රකාශ කරන්න ගිහින් මේ ගුරුතුමාත් මේ අදහස පිලිගෙන තියෙනවා. පොට්ඨපාද සූත්‍රයේත් අන්‍ය සංඥාවක්ම උපදී, අන්‍ය සංඥාවක්ම නිරෝධ වේ කියා මෙසේ පෙන්වා තියෙනවා. දැන් තේරුම් ගත යුත්තේ ගෙවුනු යමක් නැවත උපදිනවා කීමේ ඇති ධර්‍ම විරෝධී බවයි. මීලඟට ස්වයං උප්පන්න =සමුප්පන්න කියා පෙන්වා, උප්පැන්න යන වචනයේ ඊට ඇති සම්බන්ධතාවයත් මෙතුමා පෙන්වා තියෙනවා. නමුත් බුදු දහම අනුව සෑම උපතකටම හේතුවක් තියෙනවා. ස්වයං උප්පන්නයි කිව්වොත් ඒ හේතු සම්බන්ධය නොකියවෙන අතර අහේතුක වාදයක් ගොඩනැගෙනවා.

**භාෂා සම්ප්‍රදාය අනුව පද බෙදුව අර්ථය නොගැලපේ නම් ඒ සම්ප්‍රදායෙන් ඇති වැඩේ මොකක් ද?**

තවද අනිච්ච විග්‍රහ කරන්න යන මෙතුමා අනිත්‍යතාවය දුක නොවන බවත්, දුකට හේතුව බවත් කියා තියෙනවා. ත්‍රිපිටක දහම් සහමුලින් කනපිට පෙරලන මෙතුමා අනිත්‍යතාවය දුකට හේතුව යැයි කියා තියෙනවා.

යායං තණ්හා පෝනෝ භවිකා නන්දි රාග සහගතා තත්‍ර තත්‍රාභි නන්දිනී සෙයියථී දං කාම තණ්හා භව තණ්හා විභව තණ්හා කියා බුදුන්වහන්සේ දුක්ඛ සමුදය දේශනාකර තියෙනවා.

පංච උපාදනස්කන්ධයේ යම් ඡන්ද රාගයක් ඇත්ද, එය දුකට හේතුව යැයි ඉහත කී දහම කැටි කර කියා තියෙනවා. නමුත් අනිච්ච කියන්නේ ඡන්ද රාග යැයි කියා හෝ දුක්ඛ සමුද යැයි කියා හෝ පෙන්වූ දහමක් මුලු ත්‍රිපිටකයේම නෑ. මේවා එතුමාගේ භ්‍රාන්ති මිසක් වෙන දෙයක් නෙවෙයි.

කබරගොයා තලගොයා කරන්නා සේත්, ගොරක දඩමස් කරන වැද්දා සේත් අපට ඕන ඕන හැටියට ත්‍රිපිටක ධර්‍මය වෙනස් කරන්න බෑ. ඒ දහම් වැකිවල ගැබ් වෙලා තියෙන අදහසම වාද භේද නැතිව මහ සඟ පරපුරක් වසර දෙදහස් හයසියයක් දුර ගෙනාවේ නුවණින් විමසා බලන කොට ඒ ධර්මස්කන්ධයේ අර්ථවත් සටහන් බව අවිවාදයෙන් ඥානගෝචරව පිලිගත් නිසයි.

**මේ ත්‍රිපිටක දහම් වැරදි යැයි යමෙක් තර්ක වාද මතිමතාන්තර ඉදිරිපත් කරනවා නම්, සිව්පිලිසිඹියාපත් මහ රහතන් වහන්සේලාගේ පටන් මාර්‍ග ඵල ලාභී මහා සංඝ රත්නය මේවා ඉවත්කර දැනට වසර දහස් ගණනක් කල් ගොස් තිබිය යුතුයි.** එසේ නැත්තම් ඒ සියල්ලන්ම අමන මෝඩයන් විය යුතුයි. ගුරුතුමන් වැනි අය සර්වඥවිය යුතුයි. තමන් ඥානගෝචර නම් මේ දහම් අදහස් අනුව විමසා බලා මොට කම දුරුකර ගන්නවා හැර වෙන මොකක් කියන්නද?

තවද මේ ගුරුතුමා, ත්‍රිලක්ෂණය කියන්නේ, කියා දීමට නොහැකි තමන්ම අවබෝධ කළ යුත්තක් යැයි පෙන්වන්න ගිහින් ත්‍රිලක්ෂණය පිළිබඳව විස්තර කර දීමේ වටිනාකම නොදැක, තම මතයක් බුදු දහමේ පෙන්වා ඇති දෙයක් සේ ගොඩනැගීමට ස්වාක්ඛාත ගුණය උදහරණයට ගෙන තියෙනවා. එනම් කෙබඳු හෝ යමක් වේ නම්, එය ☞

එයින්ම දැකිය යුතු යැයි ගුරුතුමා විසින් කියා දී ඇති විවරණය විමසා බැලීම වටිනවා. මෙතුමාගේ අදහස් පරිදි ගින්න ගින්නෙන් දැකිය යුතුයි. මුහුදු වතුර ලුනු රස බව මුහුදු වතුරින්ම දැකිය යුතුයි. මේ ලෙසම මේවායේ ස්වභාවය කියා දෙන්නේ අන් අයෙකු විසින් නොවෙයිලු. යමක් අවබෝධ කරගන්න ඒ පිලිබඳව දන්නා අන් අයෙක් කියා දීම කිසි තේරුමක් නැති වැඩක් ලෙස ඒත්තු ගැන්වීමක් වන බව 2012-07-03 දිනැති ආලෝකය පත්‍රයේ 5 වැනි පිටුවේ දෙවැනි තීරුව බලන කොට මනාව පෙනී යනවා. මෙයින් පෙනෙන්නේ අන්‍යයෙක් කරන විග්‍රහයක් නොරුස්සන ගතිය නිසා, ඊට දෙන පහරක් ලෙස මේ කියමන් ගොතා පෙන්වනවා මිසක් දහම් හරයක් එහි නැති බවයි.

තවද කහඹිලියා කසන බව කහඹිලියාවලින් ම දත යුතුයිලු. එසේම වතුර වැහිරෙන බව, වැස්ස වහින බව, බඩගින්න, රාගය, ද්වේශය, අනිච්ච බව, දුක්ඛ බව, අනත්ත බව කියන මේවා කියා දෙන්නේ අනිකෙකු විසින් නොව ඒවායේ ස්වභාවය ඒවායෙන්ම දැනගත යුතුයිලු.

ඥානවන්තයින් විසින් මේ ධර්මතා විඳ ආසේවනය කොට, භාවිතා කොට හෙවත් පාවිච්චි කොට, බහුලීකම්මා හෙවත් අවබෝධ වන තුරු බොහෝ වශයෙන් සිදු කොට යථා ස්වභාවය දැනගන්නයි කියල තිලෝගුරු බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවලු. (මෙය මේ අති පණ්ඩිත ගුරුතුමාගේ මුලා වැටහීමක්)

මේ කීම් මොන තරම් විහිලුවක් දැයි සිතා බැලීම වටිනවා. බුදු රජුන්ගේ දේශනා මීට කෙතෙක් නම් වෙනස් ද? නින්ද, මෛථුන සේවනය, සුරාව කොතෙක් ඇසුරු කළත් නොසන්සිඳෙන ධර්ම බවයි බුදු වදන.

බුදු වදන එසේ නම් රාග, ද්වේශයන්ගේ යථා තත්ත්වය දැනගන්න ඒවාම ඇසුරු කළ යුතු යැයි කියන්නේ මොන බණේද?

මෙතුමන්ගේ කියමන් අනුව ඉහත කී කිසිවක් ප්‍රඥාවෙන් දකින්න බෑ. මොකද ප්‍රඥාව කියන්නේ රාග, ද්වේශ, මෝහ නොවන නිසා. එසේම සයනයිඩ් වස බව දැනගන්න තමන් බීලම බලන්න ඕනැයි කියන අදහස මෙතුමාගෙන් ගම්‍ය වෙනවා.

දස අකුසල්වල යථා ස්වභාවය දැනගන්න දස අකුසල් ආසේවිත, භාවිත, බහුලීකම්ම කළ යුතුය යන විකෘති මනස්ගාත අදහසක් මේ ගුරුතුමාගේ බණවලින් පෙන්නුම් කෙරෙනවා. මෙතුමාගේ කීම පරිදි නිවන් දකින දහම් මග එමගින්ම දැනගත යුතුයි. එය අනෙකෙකුගෙන් දැනගන්න බැරි බව කියවෙනවා. එසේ පවසන මෙතුමා තථාගතයන් වහන්සේ මග කියාදෙන බවත් පිළිගන්නවා.

දන්න කෙනෙක් කියන දේ තුළින්, කරන්න පෙන්වූ දේ තුළින් මූලික දැනුම ලබා, ඒ අනුව ක්‍රියාත්මක කර ප්‍රතිඵල ලබාගත යුතු නියම මග මෙසේ වසා දමන මේ ගුරුතුමා, ඉස්සෙල්ලා ආපු කන පුංචි වෙලා පස්සෙ එන අඟ ලොකු වන න්‍යායේ පිහිටා ඇති බව පෙනී යනවා.

බුදු දහම අනුව අපට කිව හැකි වන්නේ බුදු රජුන් සාස්තෘය. අපි උන්වහන්සේගේ ශ්‍රාවකයෝ වෙමු. දන්නේ බුදු රජුන්ය. අපි අනුගමනය කර ප්‍රතිඵල ලබන්නෝ වෙමු කියන එකයි. මේ ගුරුතුමා, හැකි නම් ලුණු රස කියා දෙන්න යැයි අභියෝගයක්ද කර තියෙනවා.

බුදුපියාණන් වහන්සේ මජ්:නි:(2) <u>කීටාගිරි සූත්‍රයේ</u> දේශනා කර ඇති පරිදි, දන්නේ බුදු රජුන්ය. අපි අනුගමනය කරන්නෝ වෙමු. ඒ දහම පරිදි අපි ලුණු කා රස බලා ඒ රස දනිමු. අපි අනුගමනය කරන දහම පරිදි, ලුණු හඳුනන කෙනෙකුගෙන් ලුණු කැටයක් ඉල්ලාගෙන කා බලන්න, නැත්නම් මුහුදු වෙරළට ගිය වෙලාවක මුහුදු වතුර ටිකක් කටගා බලන්න. එතකොට ඒ උපදෙස් පරිදි කටයුතු කරන ගුරුතුමාට ලුණු රස දැනගන්න පුළුවන් වේවි.

මේ අනුව දන්නා අයගේ කීම, නොදත් කෙනෙකුට යථා ස්වභාවය දැනගන්න කොච්චර උපනිශ්‍රය වේ දැයි නුවණ ඇත්නම් සිතා බලන්න.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් සමග කළ සාකච්ඡා ඇසුරින් සකස් කළේ :*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

*8 වෙනි පිටුවෙන්...*

# ආදී බ්‍රහ්ම කල්පික මනුෂ්‍යයාගේ සිට...

සමාධියට පත්කරන ගුණයෙන් යුක්ත විය යුතුයි. එසේ නොවන විට හැමතැනම යනවා. ශ්‍රාවකයා අසරණ වෙනවා. ලසු වූ ශරීර අත්බැව් ඇති ඔවුන්ට, දහම් දිය විලේ සිසිල් දිය නැමට, සිසිල් පැන් බී සැනසීමට ලසු නොවන මනස විවෘත විය යුතුයි. චතුරාර්‍ය සත්‍යය වැටහෙන දහමකින් මනස පුබුදු කළ යුතුයි. ගැඹුරු දහම් කරුණු දක්වන්නේ ඒ සඳහායි. නිවන් දකින්න අවශ්‍ය වන්නේ චතුරාර්‍ය සත්‍යය දැකීම, ලෝකය අනිච්ච, දුක්ඛ, අනත්ත බව වැටහීම කියන කාරණායි. ඒ සඳහා මානසික පසුතලය සකස්කර ගැනීම සඳහායි ගැඹුරු කරුණු විස්තර දක්වන්නේ.

**ඇස, කන, නාසය, දිව, ශරීරය පිනවමින් ලෝකාස්වාද විඳින යමෙකුට දහමේ ගැඹුරු රසය උද්දීපනය නොවුන නම්, දහම් දියෙන් සැනසෙන්න බයක් ඇති** වෙනවා. මෙහෙම අදහසක් එනවා ''අහෝ මේ කම් සැප කොච්චර වටිනවද? මේවා අතහැරල නිවන් දකින්නෙ මොකටද? නිවන් දැක්කම මේ මොකවත් නැනේ!'' නිවනේ ශාන්තිය දකින තුරු ලෝක සත්වයාට පස්කම් සුවයට වඩා දහමේ වටිනාකමක් හෝ සුවයක් පේන්නෙ නෑ. බුදුපියාණන් වහන්සේගේ දේශනාවල මතුපිටින් පෙනෙන අරුතට වඩා ගැඹුරු අරුත් තියෙන බව විමසා බලාම දැනගත යුතුයි. උදහරණ වශයෙන් ලෝක සම්මත සදිසාවට නමස්කාර කරමින් හිටපු සිගාල නම් තරුණ මානවකයාට ආර්‍ය වූ සදිසාවක් පෙන්වා ගුණ නමස්කාර කරන ක්‍රමය පහදා දුන්නා. තමා යමින්ම "මම නැවතිලයි සිටින්නේ, ඔබත් නවතින්න..." කියා අංගුලිමාලට දේශනා කළ දහම ඔහුට නිවන් දෙර විවර කිරීමක් වුනා.

බුදුපියාණන් වහන්සේ හතලිස් පස් වසරක් මහා කරුණාවෙන්, ලෝකානුකම්පාවෙන් ධර්මය දේශනා කළේ ලාභ, කීර්ති, ප්‍රශංසා උදෙසා නෙවෙයි. යම් ප්‍රමාණයකට ධර්මාවබෝධය ලබපු පිරිස් ද තමන් අවබෝධකරගත් දහම ලෝකයාට අවබෝධ කරවීමට උත්සාහ කරන්නේ දයානුකම්පාවෙන් මිසක් වාද විවාද සඳහා නෙවෙයි. ඇස් ඇත්තෝ රූප දකිත්වා! නිවන කැමැත්තෝ දහම් රස විඳ ගනිත්වා! සියලු ලෝක සත්ත්වයෝ නිවන් සුවයෙන් සුවපත් වෙත්වා!

*වහරක අභයරතනාලංකාර හිමිපාණන් විසින් දේශිත සැඟවුණ දහම් කරුණු ඇසුරින් සකස් කළේ :*

**ඩබ්. ඒ. තිළිණවතී**
**(විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී)**
**කඩවත**

# උපාදානයෙන් භව ඇති වී ජාති, ජරා මරණවලට ගොදුරුවන හැටි

උපාදාන කියන්නේ යම් ආස්වාදයක් ලබා දුන්නා වූ අරමුණක් නැවත නැවත බලාපොරොත්තු වීම බව පෙර ලිපිවලදී පැහැදිලි කළා. අපට ආස්වාද ලබා දුන්නේ මේ පංචස්කන්ධයන්ට අයිති රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ ගොඩ තමයි. මේ එකතුවෙන් තමයි අපට ආස්වාද ලබා දුන්නේ. එහෙම නම් ආස්වාද ලබාගැනීම සඳහා රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ කියන මේ පංචස්කන්ධය පිළිබඳව අපේ කැමැත්තක්, ඡන්දරාගයක් ඇති වෙනවා. ඒ අයුරිනුයි පංච උපාදානස්කන්ධය බවට පත් වෙන්නේ යන්න මීන් පෙර පැහැදිලි කළා.

අද පැහැදිලි කරන්න බලාපොරොත්තු වෙන්නේ උපාදාන පච්චයා භවෝ කියන මාතෘකාව. භව කියන එකෙන් අදහස් කරන්නෙ මොකක්ද? අපි මේ භව යන වචනය සරලව පාවිච්චි කරන අවස්ථා ගැන සොයා බලමු. ඔහු ඊර්සියා කාරයෙක් බවට පත් වුනා. ඔහු අධික කාමුකයෙක් බවට පත් වුනා. ඔහු රාග අධික මිනිහෙක් බවට පත් වුනා. ඔහු ද්වේශ සහගත පුද්ගලයෙක් බවට පත් වුනා. මේ විදිහට 'භව' බවට පත් වෙනවා. මේ සරල අදහස තමයි භව කියන එකෙන් අදහස් වෙන්නේ.

මෙතනදී පාවිච්චි කරන වචනයට යොදන අකුරු අනුව අපේ අදහස වෙනස් කරගන්න ගිහින් තමයි අපි මේක තේරුම් ගන්න බැරි තත්ත්වයකට පත්වෙලා ඉන්නේ. සාමාන්‍ය ''බ'' යන්න වෙනුවට ''භ'' යන අර්ථයෙන් දෙන ලද ''භ'' යන්න පාවිච්චි කිරීම තුළින් අර්ථ විකෘතියක් ඇති වී ඇති බව පේනවා. **බොහෝ අය විශ්වාස කරන්නේ භව කියන එක නැවත උප්පත්තිය ලබන තලයක් වශයෙන්. නමුත් මේ අදහස දෝස සහිතයි.** තමන් පත්වෙන භව හෙවත් මොන භවයටද පත්වෙන්නේ කියන කාරණය මෙයින් නිරූපනය වෙන එකයි ප්‍රධාන තැනක් ගන්නේ. ''භව'' කියන්නේ පාලි පදය. ඊට සිංහල පදය තමයි ''බව'' කියන්නේ.

රූප හෝ අරූප ධ්‍යානවලට සමවදිමින් එහි ප්‍රිය භාවය මෙනෙහි කරමින් ජීවත්වන, ඒකටම ඇලී සිටින, ඒ ආස්වාදය ප්‍රමුඛස්ථානයට ගන්නා, එයම නැවත නැවත ප්‍රාර්ථනා කරන අය පිළිවෙලින් රූපාවචර හෝ අරූපාවචර බ්‍රහ්ම ලෝකවල උපදිනවා. මේ රූපාවචර හෝ අරූපාවචර බ්‍රහ්ම ලෝකවල ඉපදෙන අය අරියෝ සහ අනාරියෝ යන කොට්ඨාස දෙකටම අයත් වෙන්න පුළුවන්.

අනාරියන් මේ බ්‍රහ්ම ලෝකවලින් ආයුෂ ගෙවීමෙන් පසු මිනිස් බවටත්, නැවතත්



ඕනෑම වෙනත් ලෝකයකත් ඉපදෙන්න ඉඩ තියෙනවා. නමුත් ආර්යයන් (අරියෝ) වහන්සේලා මේ ධ්‍යානවලට සමවැදුනම එයින් ලැබෙන ආස්වාදයක් වශයෙන් මෙනෙහි නොකොට, ඒකත් අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් ආදීනව මෙනෙහි කොට, ඒවායින් මිදි මිදී තවත් ඉදිරියට ගමන් කරමින් ඉහළ බඹ තලවල උපදින අතර නිර්වාණයත් සාක්ෂාත් කරගන්නවා.

ඊළඟට අපි කාම කියල ව්‍යවහාරයේ කියනවා. මේ ආස්වාද විඳින කොට, පංචද්වාරවලින් විඳින ආස්වාද නැවත නැවත බලාපොරොත්තු වීම කාම උපාදාන වශයෙන් හඳුන්වනවා. එහෙනම් **කාම උපාදාන අග්‍ර කරගෙන ජීවත්වන, ඒ ආස්වාදම නැවත නැවත ලබන්න ප්‍රමුඛත්වය දෙන යමෙක් ඉන්නව නම්, ඔහු කාම බවට පත්වුන පුද්ගලයෙක්.** කාම බවට පත් වුන පුද්ගලයෝ නිතරම සොයන්නේ ඇස, කන, නාසය, දිව, ශරීරය යන පංචේන්ද්‍රියන් පිනවීම සඳහා අවශ්‍ය කරන දේවල්. කාම බව යන්න මේ ආකාරයෙන් තේරුම් ගත යුතුයි.

රූප බව කියන්නේ තවත් අවස්ථාවක්. රූපාවචර ධ්‍යාන නොයෙකුත් ක්‍රමවලින් වඩා ගන්නා පුද්ගලයෝ, ලෝකයේ වඩාත්ම ආස්වාද ජනක දේ පළවෙනි, දෙවෙනි, තුන්වෙනි, හතරවෙනි ආදී වූ රූපාවචර ධ්‍යාන බව විශ්වාස කරනවා. ඒ ධ්‍යානවලින් ලැබෙන ප්‍රීතියට,. සුඛයට, උපේක්ෂාවට ඇළුම් කරනවා. එය නැවත නැවත ප්‍රාර්ථනා කරනවා හෙවත් උපාදාන කරනවා. එහෙනම් ඔහු රූප බවට පත්වෙච්ච, රූප බව ඇසුරු කිරීමට පත්වෙච්ච පුද්ගලයෙක් වශයෙන් හඳුනා ගන්න පුළුවන්.

අරූප බව වශයෙන් හඳුන්වන්නේ අරූප ධ්‍යාන ප්‍රමුඛ කරගෙන ඒ අරූපාවචර ධ්‍යානවලින් ලැබෙන සැනසීම, ආස්වාදය අග්‍ර කරගෙන එයම නැවත නැවත ප්‍රාර්ථනා කිරීමයි. රූපාවචර ධ්‍යාන හෝ අරූපාවචර ධ්‍යාන ආර්යෙකු විසින් ලබාගන්නා විට ඒ ආර්ය පුද්ගලයා ඒ රූපාවචර ධ්‍යාන හෝ අරූපාවචර ධ්‍යානත් අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් මෙනෙහි කරමින් ඒවා ආස්වාද ජනක දෙයක් වශයෙන් සලකන්නේ නැතුව බැහැර කරනවා. අනාර්ය පුද්ගලයන්ට රූපාවචර, අරූපාවචර ධ්‍යානවලට සම වැදෙන්න පුළුවන් වුනාට, ඒ ධ්‍යාන අර්ථවත් දේවල්, වටිනා දේවල් වශයෙන් සලකමින් ඒවා නැවත නැවත ප්‍රාර්ථනා කරමින් ඇලී ගැලී එහිම ඉන්න උත්සාහ කරනවා.

අං:නි:(4), 256 පිටුවේ එන භව සූත්‍රයේ මෙසේ සඳහන් වෙනවා. ''තයෝ මේ භික්ඛවේ භවා පහා තබ්බා කාම

භවෝ, රූප භවෝ, අරූප භවෝ''. එහෙනම් අපට තේරෙනවා භව කියන්නේ බහා තැබිය හැකි දෙයක් කියල. එනම් තමාගේ හිතේ ඇති තත්ත්වයක්. එහෙම නැතිව භව කියන්නේ උප්පත්තිය ලබන භූමියක් වශයෙන් සැලකුවොත්, අපි කොහොමද පහා තබ්බ කරන්නෙ? එහෙම නැත්නම් ප්‍රහානය කරන්නේ? මේ නිසා **මේ භව කියන තත්ත්වය පහා තබ්බ කළ හැකි දෙයක් හෙවත් ප්‍රහාණය කළ හැකි දෙයක් හෙවත් නිරෝධ කරන්න පුළුවන් දෙයක් වශයෙන් තේරුම් ගත යුතුයි. එහෙනම් භව කියන්නේ හිතේ ඇතිවන තත්ත්වයක්, අපේ මනසේ ඇති වන තත්ත්වයක්.**

දැන් ඔබට වැටහෙනවා ඇති කලින් කියපු විදිහට කාම භවට පත් වෙච්ච පුද්ගලයා කාම භවට පත්වෙලා ඉන්නේ හිතින්, මනසින් බව. ඒ වගේම රූප භවට පත් වූ පුද්ගලයෝ, අරූප භවට පත් වූ පුද්ගලයෝ, ඒවා අග්‍ර කරගත් පුද්ගලයෝ ඒ ඒ භවට පත් වී ඇත්තේ සිතින් බව.

මේ කාම භවට පත් වූ පුද්ගලයෝ උපදින භූමිය කාම ලෝක වශයෙන් හඳුන්වනවා. රූප භව අග්‍ර කරගෙන රූපාවචර ආස්වාදය අග්‍ර කරගත් අය උපදින භූමිය රූපාවචර බ්‍රහ්ම ලෝක වශයෙන් හඳුන්වනවා. අරූප ධ්‍යානවලින් ලබන ආස්වාදය ප්‍රමුඛ කරගෙන එයම නැවත නැවත ප්‍රාර්ථනා කරන අය උපදින භූමිය අරූපාවචර බ්‍රහ්ම ලෝක වශයෙන් හඳුන්වනවා. කාම භව, රූප භව, අරූප භව නිසා උප්පත්ති ලබන භූමි වෙනම තේරුම් ගත යුතු අතර කාම භව, රූප භව, අරූප භව වශයෙන් හඳුන්වන්නේ හිතේම ඇති යම් කිසි තත්ත්වයක් බවත් තේරුම් ගත යුතුයි.

අංගුත්තර නිකායේ තවත් ස්ථානයක මෙසේ සඳහන් වෙනවා. ''භව නිරෝධෝ නිබ්බානං'' එහෙනම් භව කියන තත්ත්වය උදා නොකර හිටියොත් එතන නිවනයි. මෙයිනුත් ඔප්පු වෙන්නේ භව කියන තත්ත්වය මනසේ තමන් තුළම ඇති වන තත්ත්වයක් බවයි. භව නිරෝධ කිරීම තුළින් නිවන සාක්ෂාත් කරගත හැකි බවයි එයින් පෙනෙන්නේ.

විභංග ප්‍රකරණයේ (1) 246 පිටුවේ පටිච්ච සමුප්පාද විභංගයේ භව පිළිබඳව මේ ආකාරයෙන් දක්වා තියෙනවා. ''තත්ථ කතමා උපාදාන පච්චයෝ භවෝ, භවෝ දුවිධේන? (භව දෙයාකාරයි) අත්ථි කම්ම භවෝ, අත්ථි උප්පත්ති භවෝ,'' මෙයින් පෙන්වන්නේ භව කියන එක දෙයාකාරයි කියන එකයි, කර්ම භව සහ උප්පත්ති භව වශයෙන් කොටස් දෙකකට බෙදෙන බවයි. තව දුරටත් එහි මෙසේ සඳහන් වෙනවා. ''තත්ථ කතමා කම්ම භවෝ'' කම්ම භව යනු කුමක්ද?

''පුඤ්ඤාභි සංඛාරෝ, අපුඤ්ඤාභි සංඛාරෝ, ආනිඤ්ජාභි සංඛාරෝ අයං වුච්චති කම්ම භවෝ සබ්බම්පි භවගාමි කම්මං කම්ම භවෝ'' මේකෙන් තේරුම් කරල දෙන්නේ අපි කරන සංඛාරයි. මේ සංඛාර පුඤ්ඤාභි සංඛාර, අපුඤ්ඤාභි සංඛාර, ආනිඤ්ජාභි සංඛාර වශයෙන් තුන් ආකාරයකට බෙදෙනවා. මේවත් අවිද්‍යා පච්චයා සංඛාරාමයි. අපි යම් ආස්වාදයක් බලාපොරොත්තු වුනා නම්, ඒ බලාපොරොත්තුවට පටිච්ච වීමෙන් හැදෙන සංඛාර තමයි මේ භව තත්ත්වයට පත්වෙන්නේ.

ඒවත් පුඤ්ඤාභි සංඛාර, අපුඤ්ඤාභි සංඛාර, ආනිඤ්ජාභි සංඛාර වශයෙන් බෙදෙනවා. ''සබ්බම්පි භවගාමි කම්මං කම්ම භවෝ'' කියල දේශනා කරල තියෙනවා. ඒකෙන් කියන්නේ සියලුම භවගාමී, භවයේ දිගටම පවත්වාගෙන යාමට හේතු වෙන කර්ම තියෙනවා නම් ඒවා කම්ම භවෝ කියලයි.

මේ කර්ම භවය ගොඩනගන්නා වූ පුඤ්ඤාභි, අපුඤ්ඤාභි, ආනිඤ්ජාභි සංඛාර ඒ ඒ මොහොතේ මනසේ හට ගන්නා සංඛාර විශේෂයක්. එහෙමනම් මේ සංඛාරවලට ඉන් පස්සෙ මොකද වෙන්නේ? ඒ සංඛාර නාම ලෝකයට පිට වෙනවා. කොහොමද පිට වෙන්නේ? සංඛාර පච්චයා විඤ්ඤාණං කියල වඤ්ඤාණ සමග තමන් විසින් හදාගන්නා ලද පුඤ්ඤාභි සංඛාර, අපුඤ්ඤාභි සංඛාර, ආනිඤ්ජාභි සංඛාර අඩංගු සටහන් හෙවත් නාම ගෝත්‍ර තමයි පිටවෙලා නාම ලෝකයේ තැන්පත් වෙන්නේ.

කර්ම භවය ගොඩනැගීම සඳහා ඉවහල් වන ඉහත නාම ගෝත්‍රයන් කර්ම භවයට එක් වන්නේ නාමස්කන්ධ හෙවත් ධම්ම වශයෙන් බව දැන් වැටහෙනවා ඇති. කර්ම භවය පිහිටා තියෙන්නේ නාම ලෝකයේ. තිරිසන් ආස්වාද වැඩි වැඩියෙන් බලාපොරොත්තු වෙනව නම්, කර්ම භවයට වැඩියෙන් එකතු වන්නේ තිරිසන් ගතිවලට අනුරූප කර්මයි. මනුස්ස ආස්වාද වැඩියෙන් බලාපොරොත්තු වෙනව නම් කර්ම භවයට වැඩිපුර පිරෙන්නේ මනුස්ස ගතිවලට අනුරූප වූ කර්මයි. දේව ගති සහිත ආස්වාදයන් වැඩියෙන්ම බලාපොරොත්තු වෙනව නම් ඔහුගේ කර්ම භවයේ වැඩියෙන් පිරෙන්නේ දේව ගති ගුණවලට අනුරූප කර්මයි.

**තමා විසින් වැඩියෙන් නිපදවන ලද්දේ දේව ගතිවලට අනුරූප වූ කර්මයන් නම් ඔහුගේ කර්ම භවයේ දේව කර්ම ප්‍රමුඛස්ථානය ගන්නවා. එසේ ප්‍රමුඛස්ථානය ගත්තා වූ කර්ම වර්ගය අනුව ඒ ඒ මොහොතේ ඔහුගේ ගතිය නිර්මාණය වෙනවා. ඒ ඒ ගතියට අනුව ඔහු තුළ දේව ජාතියක් හෝ මනුස්ස ජාතියක් හෝ ඒ ඒ මොහොතේ නිර්මාණය වෙනවා. ඒ ඒ ජාතියට අනුකූල වන්නා වූ දුක් සමූහයක් ඔහුට ඒ ඒ අවස්ථාවලදී විඳින්න සිද්ධ වෙනවා.** මෙන්න මේකයි ඉදපච්චයතා පටිච්ච සමුප්පාදයේ මූලධර්මය. ඔහු විඳිනවයි කිව්වත් මෙහි යථාර්ථය නම් සියලු වේදනාවෝ ස්පර්ශ ප්‍රත්‍යයෙන් කියන එකයි.

ඉදපච්චයතා පටිච්ච සමුප්පාදය අපි කවුරුත් දැනගත යුතුම දෙයක්. මීට පෙර පටිච්ච සමුප්පාදය පිළිබඳ ලිපිවලින් ඉදපච්චයතා පටිච්ච සමුප්පාදය යන්න පැහැදිලි කළා. ඉදපච්චයතා යනුවෙන් හැඳින්වෙන්නේ ඒ ඒ අවස්ථාවේදී තමා යම් යම් ජාතිවලට පත්වෙන හැටි දැනගන්න පටිච්ච සමුප්පාද න්‍යාය ධර්මයයි. මේ මොහොතේ පටිච්ච වුන ආස්වාදයන් මොන වගේ ආස්වාදයන්ද? දේව ගති ප්‍රමුඛ කරගත් ආස්වාදයක්ද, මනුස්ස ගති ප්‍රමුඛ කරගත් ආස්වාදයක්ද, තිරිසන් ගති ප්‍රමුඛ කරගත් ආස්වාදයක්ද යන්න අනුව ඒ ඒ මොහොතේ ජාතියක් බිහි වෙනවා. ඒ ඒ මොහොතේ ජාතියක් බිහි වෙන කොට ඒ බිහි වීමේ ක්‍රමවේදය විස්තර වන්නේ ඉදපච්චයතා පටිච්ච සමුප්පාදයෙන්. තවත් විස්තර වශයෙන් කියනවනම් ජරා, මරණ ජාති ප්‍රත්‍යයෙනි, ජාති භව ප්‍රත්‍යයෙනි, භව උපාදාන ප්‍රත්‍යයෙනි, උපාදාන තණ්හා ප්‍රත්‍යයෙනි, තණ්හා වේදනා ප්‍රත්‍යයෙනි, වේදනා ස්පර්ශ ප්‍රත්‍යයෙනි... ආදී වශයෙන්.

ජාති වශයෙන් සලකන කොට බොහෝ විට අපි හිතන්න පුරුදු වෙලා ඉන්නේ මේ අත් බවින් මිදිල චුත වෙලා තවත් අත් බවක් ඇති කරන ජාතිය ගැන විතරයි. මේ ඉදපච්චයතා පටිච්ච සමුප්පාදයේදී ඒ ඒ මොහොතේ ජාති ඇති වෙමින් ඒ ඒ ජාතියට අනුරූප වූ දුක් ඒ ඒ මොහොතේ විඳින බව තේරුම් ගැනීම අත්‍යවශ්‍යයි.

අපි හිතමු එක් පුද්ගලයෙක් උදේ වරුවේ හොඳ සාමකාමී හිතකින් මනුස්ස සහ දේව ගති ප්‍රමුඛ කරගත්තා වූ කර්මයන් තමාගේ කර්ම භවයට එකතු කරමින් මනුස්ස ගති, දේව ගති නිර්මාණය කරමින් මනුස්ස ජාතියක්, දේව ජාතියක් වශයෙන් ගත කළා කියල. හවස් වරුවේ ඔහුට යම් කිසි හේතුවක් නිසා මහා සිත් තැවුලක් ඇති වෙලා මත්පැන් පානය කරලා තිරිසන් ගති ප්‍රමුඛ කරගත්තා වූ තිරිසන් කරුම භවයක් නිර්මාණය කරමින්, තිරිසන් ගතියක් හවසට නිර්මාණය කරගන්නවා. එතකොට ඔහු හවස තිරිසන් ජාතියක් බවට පත්වෙනවා. එහෙනම් **උදේ දේව හෝ මනුස්ස ජාතියකින් හිටපු පුද්ගලයා** ☞

**හවසට තිරිසන් ජාතියක් බවට පත්වෙලා.** මේකට කියන්නේ ප්‍රවෘත්ති පටිච්ච සමුප්පාදය කියල. මේවා ප්‍රවෘත්ති ජාතිවලට අයිතියි. පටිසන්ධි මොහොතේ පටිසන්ධි ජාතිවලට අයිතියි.

මේ අවස්ථාවේදී අපි උදේ වරුවත් සවස් වරුවත් වගේ පුළුල් වූ කාල පරිච්ඡේදයක් ගැනයි සැලකිලිමත් වුනේ. නමුත් ඇත්ත වශයෙන්ම ප්‍රවෘත්ති පටිච්ච සමුප්පාදයේදී ඒ ඒ මොහොතේම වෙන වෙන ජාති උපදිනවා. මේ මොහොතේ සතුටින් හිටපු අය ඊළඟ මොහොතේ ද්වේශයෙන් ඉන්නවා. එනම් **මේ මොහොතේ රාගික ජාතියක් වශයෙන් ඉඳපු අය ඊළඟ මොහොතේ ද්වේශ ජාතිකයෙක් බවට පත් වෙනවා.** මෙය ඒ ඒ මොහොතේ ඒ පුද්ගලයා විසින් පත් වෙන භව අනුවයි තීරණය වෙන්නේ. ද්වේශ බවට පත් වූ අය ද්වේශ ජාතිකයෙක් වෙලා තමයි කෙළවර වෙන්නේ. රාග භවට පත්වෙච්ච පුද්ගලයෙක් ඊළඟ මොහොතේ රාග ජාතියක් බිහි කරමිනුයි කෙළවර වෙන්නේ. ද්වේශ බවට පත් වූ පුද්ගලයා ද්වේශ ජාතිකයෙක් වෙලා, ද්වේශ ජාතිකයෙකුට විඳින්න තියෙන වේදනා ටික විඳිනවා. විඳින්නේ ස්පර්ශ ප්‍රත්‍යයෙන්. රාග භවට පත් වෙච්ච පුද්ගලයා රාග කර්ම භවක් නිපදවමින් රාග ජාතිකයෙක් බිහි කරමින් ඒ මොහොතේ රාග ජාතිකයෙකුට විඳින්න තියෙන වේදනා ටික විඳිනවා. මේ විඳීමත් ස්පර්ශ ප්‍රත්‍යයෙන්මයි. එහෙනම් ජීවිත කාලය පුරාම අපි ජාති දුක විඳින්නේ මෙන්න මේ විදිහටයි.

මේ පැවැත්මේ ස්වභාවය අනුව දුකට හේතුවන ස්පර්ශ දහසක් එන කොට දුක් මාත්‍ර දහසක් විඳිමින්, ආස්වාදයට හේතුවන ස්පර්ශ මාත්‍රයක් එන කොට ආස්වාද වේදනා මාත්‍රයකුත්, උපේක්ෂාවට හේතුවන ස්පර්ශ මාත්‍රයක් එන කොට උපේක්ෂා වේදනා මාත්‍රයකුත් විඳිමින් යන මේ භව ගමනේ අනන්තව විඳින්නේ දුකක්ම බව තේරුම් ගත යුතුයි. මේ සෑම ක්‍රියාවලියක්ම ජරාවෙන් මරණයෙන් කෙළවර වන අතර නොනැවතී සත්ත්වයා අවිද්‍යාව නිසාම ජරා මරණවලට හේතුවන භව ජාති නිරන්තරයෙන් නිපදවමින් අනන්ත දුක් විඳින බවත් තේරුම් ගත යුතුයි.

ජාති යන්න ක්‍රම රටාවන් දෙකකට අපි තේරුම් ගත යුතුයි. එකක් ප්‍රවෘත්ති පටිච්ච සමුප්පාදය අනුව මේ මොහොතේ යම් යම් ජාතීන් බවට පත් වන හැටි තේරුම් ගත යුතුයි. දෙවැන්න පටිසන්ධි පටිච්ච සමුප්පාදයට අනුව එනම් මේ අත්බවයේ සිට ඊළඟ අත්බවය ලබන අවස්ථාවේදී අලුතෙන් ජාතියක් බිහි වන හැටි පිළිබඳවත් ජාති යන්න විග්‍රහ කරන විට තේරුම් ගත යුතුයි. ඒ දෙයාකාරයෙන් පළමුව ප්‍රවෘත්ති පටිච්ච සමුප්පාදය අනුව ඒ ඒ මොහොතේ ජාති හට ගන්නා හැටි අපි නොයෙක් විට විස්තර කළා. මේ අවස්ථාවේ ඇතිවන යම් අවිද්‍යාවක් නිසා සංඛාර ගොඩනැගෙමින්, විඤ්ඤාණ, නාම රූප, සළායතන, ඵස්ස, වේදනා, තණ්හා, උපාදාන ආදී චක්‍රයෙන් භව ගොඩනැගී භව නිසා ඒ මොහොතේ ජාතියක් ගොඩනැගෙනවා. ඒ ගොඩනැගෙන ජාතිය රාග ජාතියක් වෙන්න පුළුවන්, නැත්නම් ද්වේශ ජාතියක් වෙන්න පුළුවන්. රාග ජාතිකයෙක් ගොඩනැගුනොත් රාග ජාතිකයාට අදාල වන්නා වූ දුක් ඔහු විසින් විඳිය යුතුයි. ද්වේශ ජාතිකයෙක් ගොඩනැගුනොත් ද්වේශ ජාතිකයාට අදාල වන්නා වූ දුක් සමුදාය ඔහු විසින් විඳිය යුතුයි. ඔහු විසින් විඳිනවා කියන්නේ ලෝක සම්මතය අනුවයි. සෑම වින්දනයක්ම ස්පර්ශ ප්‍රත්‍යයෙනි යන්න ඉදප්පච්චයතාවයයි. රාග ජාතිකයෝ, ද්වේශ ජාතිකයෝ ලෙස ප්‍රධාන වශයෙන් දෙකොටසකට බෙදුවට නොයෙකුත් ජාතීන් ඒ ඒ අවස්ථාවල බිහි වෙනවා. **මේ මොහොතේ මනුස්සයෙක් විදිහට ඉන්න පුද්ගලයා ඊළඟ මොහොතේ මහා තරහක් ඇවිත් යකෙක් බවට පත් වන්නට පුළුවන්. තවත් මොහොතක ඔහු ඉතාමත් ශාන්ත දාන්ත අනුන්ට උපකාර කරන දේව ගුණයෙන් යුක්ත වූ දෙවියෙක් බවට පත් වෙන්න පුළුවන්.**

මෙහිදී හිත තුළ ගති වෙනස් **වීමෙන් මේ ජාති ප්‍රධාන වශයෙන් හටගන්නා අතර කය මිනිස් කයමයි. මනසේ ගති අනුව සුළු සුළු වෙනස් ස්වභාවයන් ඒ ඒ මොහොතට කයේ සිද්ධ වුනත් සම්පූර්ණ කාය විපර්යාසයක් වෙන්නෙ නෑ.** එනම් මුල් අවස්ථාවේ යක්ෂයෙක් බවට පත් වෙච්ච පුද්ගලයා ජරාවට පත් වෙලා මැරිල ඊළඟ පුද්ගලයා ඉපදිලා තියෙනවා. එහෙනම් ජරාවට පත්වීම සහ මරණය ඒ ඒ අවස්ථාවේ ඇතිවෙච්ච ජාතීන්ටත් පොදුයි. මෙය ඉතාමත් සුළු කාල පරිච්ඡේදයකදී සිදුවෙන ක්‍රියාවලියක්. **මේ මොහොතේ ඇතිවෙච්ච යක්ෂයා ටික වෙලාවක් ක්‍රියාත්මකවී ජරාවට ගොස් මරණයට පත් වෙනවා. ඒ කාල පරාසය තුළදී සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස ආදී දුක් සියල්ලමත් ඔහු ඒ යක්ෂ ජාතියට අදාලව විඳිනවා. යක්ෂ ජාතිය මේ මොහොතේ මරණයට පත් වෙලා ඊළඟ මොහොතේ දේව ජාතික් ඉපදෙන්න පුළුවන්. යක්ෂ ජාතියට හේතු වුනා වූ අවිද්‍යාව මොහොතකින් ඉවත් වෙලා දේවත්වයෙන් වැඩ කරන අවස්ථාවක් උදා වෙන්න පුළුවන්.** ඒ අවස්ථාවත් මොහොතක් පැවතිලා ඊට අදාල වන්නා වූ දුක් ටික ඔහුට විඳින්න සිද්ධ වෙනවා. දේව තත්ත්වයත් මරණයට **පත් වෙලා තවත් ජාතියක් ඊළඟ මොහොතේ බිහි වෙන්න පුළුවන්. මේවා සම්මත කායික ජරා මරණ නෙවෙයි** ඒ ඒ අවස්ථාවල ඇති වන ප්‍රවෘත්ති ජරා මරණ බව දැනගත යුතුයි. මේ ආකාරයට ප්‍රවෘත්ති පටිච්ච සමුප්පාදය තිරිසනුන්, දෙවියන්, මනුස්සයින් ආදී නොයෙකුත් තත්ත්වයන්වලට තමන්ම පත් වන බව සිහියෙන් කල්පනා කළොත් තේරුම් ගන්න පුළුවන්. මේ ප්‍රවෘත්ති පටිච්ච සමුප්පාදයේදී ජාති, ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස ආදී සියලු දුක් ටික තමා වෙත එන හැටියි. දැන් බලමු ඊළඟ අත් භවයේ ජාතියක් ඇතිවෙලා, ජරාවට පත්වෙලා, මරණයට පත්වන දුක් විඳින ආකාරය. පෙරදී විස්තර කළා කර්ම භවය විසින් තමාගේ ගතිය නිර්මාණය වන හැටි. අවසාන චිත්ත වීතියේදී මේ ගතියට අනුව තමයි ඊළඟ අත් භවයේ උපත සිද්ධ වෙන්නේ. එහෙම නැත්නම් චුත වෙලා උප්පත්තිය සිද්ධ වෙන්නේ.

මේ විදිහට **කයකින් මිය ගිහින් නැවත අලුත් කයකින් උප්පත්තිය ලබපු පුද්ගලයාට ඒ අත්බවට විශේෂ වූ දුක්, දොම්නස්, සෝක, පරිදේව ආදිය විඳින්න සිද්ධ වෙනවා.**

මේ අලුත් අත්බව නිර්මාණය වන්නේ පටිසන්ධි පටිච්ච සමුප්පාදය අනුවයි. එනම් කර්ම බවයේ පිහිටි මතු උපතට හේතු වන අරමුණක් ඒ මොහොතේ ගොඩනැගෙන අවිද්‍යාව ප්‍රත්‍ය කරගෙන උපාදාන වෙලා සංඛාර ලෙස ඒ සිද්ධියට අනුකූල ක්‍රියාවලිය ඒ මොහොතේ සිදුවන්නක් ලෙස කර්ම බලය මුල් කරගෙන ක්‍රියාත්මක වෙනවා. මෙය කර්ම, කර්ම නිමිති, ගති නිමිති යන කාරණා තුනෙන් සුදුසු පරිදි අරමුණු වෙලා මරණාසන්න කාලයේ ගොඩනැගෙන ස්වභාවයක්. ඒ අරමුණ යලි යලි ආවර්ජනය වෙමින් ආසේවන ප්‍රත්‍යය හෙවත් අරමුණ යලි යලි නැගී ඒමෙන් බලවත් වූ චිත්ත වීතියක් අවසාන චුති චිත්ත වීතිය ලෙස පහළ වෙනවා.

ඒ චිත්ත වීතියේ අරමුණ සමග අවිද්‍යාවෙන් ගොඩනැගුන සංඛාරයට අනුව පහළ වන ජවන සිත් පෙළේ මතු පටිසන්ධියට අනුරූප වන විඤ්ඤාණ මාත්‍ර නැගෙමින්, පස්වන ජවන චිත්තක්ෂණයේදී පටිසන්ධියට බලවත් වූ ශක්තිය ලබා කර්ම බවයේ ආසන්න කර්ම ජවනය ලෙස චේතනාව සහිතව පිහිටනවා.

ඊළඟ චිත්තක්ෂණය චුතිය වී එය අවසාන වෙන කොටම ඉහත කී කර්ම ජවනය අනුව පහළ වූ විපාක විඤ්ඤාණය සංඛාර පච්චයා විඤ්ඤාණං යන පටිච්ච සමුප්පාද නියමය ලෙස පටිසන්ධි

විඥ්ඥාණය වෙනවා. මේ පටිසන්ධි විපාක විඥ්ඥාණය සමග කාය දසක, භාව දසක, වත්ථු දසක ලෙස රූප කලාප තුනක් ඒ මොහොතේ කර්ම බලයෙන්ම පහළ කරමින් කාම බවයේ පටිසන්ධි සිත පහළ වෙනවා.

පසුව ලියවුණු අටුවා පොත්වල පෙන්වා ඇති පරිදි මෙය මව් කුසයක පළමු සිත ලෙස පහළවන බව කිව්වත්, සියුම් විමර්ශනයකදී පෙනෙන්නේ මේ ගන්ධබ්බයෙකුගේ පහළ වීමේ මුල බවයි. ඉන් පසු චක්ඛු දසක, සෝත දසක, ඝාන දසක, ජිව්හා දසක රූප කලාප හතලිහද කර්මජවම පහළ වන බව කියවෙන නිසා මව් කුසක් තුළ ඇති උතුජ රූප සමග මෙහි සම්බන්ධතාවක් නැති බවට ඒකත් සාක්ෂියක්. මෙසේ පූර්ණ වූ ගන්ධබ්බයා තමයි සුදුසු කාලයේ මව් කුසකට ඔක්කන්ති වෙන්නේ. විඥ්ඥාණය මව් කුසට පිහිටි විට ගැබ තුළ නාම රූපය වැඩෙන බව පටිච්ච සමුප්පාද නිධාන සූත්‍රයේ පෙන්වා තියෙනවා. මේ සියලු පටිච්ච සමුප්පාද අංග අවිද්‍යා සහගත නිසා ඉන් නිපදවන සළායතනත් අවිද්‍යා සහගතයි. දැන් ස්පර්ශ වේදනා ලබන්න සුදුසු කාය කර්ම විපාක ලෙස, උප්පත්ති බවය වෙලා තියෙනවා. මෙසේ පෙර බවයේ අවිද්‍යා, සංඛාර, තණ්හා, උපාදාන, කර්ම භව සහ උප්පත්ති භව හේතු කොට ගෙන අලුත් බවයේ පටිසන්ධි විඥ්ඥාණ, නාම රූප, සළායතන, ස්පර්ශ, වේදනා යන විපාකස්කන්ධය පහළ වෙමින් පටිසන්ධි පටිච්ච සමුප්පාදය ක්‍රියාත්මක වෙනවා. මෙසේ ප්‍රවෘත්ති හෝ පටිසන්ධි පටිච්ච සමුප්පාදයේ එක් එක් අංගයක් හටගත් ආසන්න හේතුව දැකීම ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදය නම් වෙනවා. එනම් ජරා මරණ ඇති වන්නේ ජාති නිසයි. ජාති වන්නේ බව නිසයි. බව වන්නේ උපාදාන නිසයි. උපාදාන වන්නේ තණ්හා නිසයි. තණ්හා වන්නේ වේදනා නිසයි. වේදනා වන්නේ ස්පර්ශ නිසයි... ආදී ලෙස දැකීම ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදය නම් වෙනවා.

මේ ආකාරයට ඒ ඒ මොහොතේ ජාති, ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස ඇතිවන ආකාරයත්, අත්බවක් මාරු වීමේදී මුළු අත්බව තුළම ඒ අත්බවට අදාල වූ සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස ආදිය විඳින්න සිදුවන හැටිත් අවබෝධ කරගත යුතුයි. එහෙනම් මෙතෙක් කල් ජාති, ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාස කියන දුක් ටික එක අත්බවක ඉඳල ඊළඟ අත්බවයේ ඉපදුනාට පස්සෙ විඳින්න වෙන දේවල් කියල හිතාගෙන හිටියනම්, දැන් තේරෙනවා ඊට අමතරව මේ මේ අවස්ථාවේදී ජාති ඇතිවෙන කොට ජරා, මරණ, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ඇතිවන හැටි. මේ පටිච්ච සමුප්පාද ක්‍රම රටා දෙකට අනුව මේ කාරණය තේරුම් ගත යුතුයි. ක්ෂණික හේතු ඵලය ඉදප්පච්චයතා පටිච්ච සමුප්පාදය අනුව තේරුම් ගත යුතුයි.

**නුගේගොඩ වින්සර් රෝහලේ සභාපති**
**වෛද්‍ය ආර්. පී. වීරසිංහ**
MBBS/DFM/MCGP/MPFAM

**සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,**
**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ,**
**අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව,**
**දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ**
**අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද**
**නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත**
**බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.hiddendhamma.net www.nirvanadhamma.com mp3.hiddendhamma.net www.helabodhupiyuma.net

විද්‍යුත් ලිපිනය: webmaster@helabodhupiyuma.net දු.අ:- 071 3046895

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව.

ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.




**සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා පැවැත්වෙන සදහම් වැඩසටහන් මාලාව සජීවීව විකාශනය කෙරෙන අන්තර්ජාල ගුවන් විදුලි සේවාවට සවන්දීම සඳහා www.waharaka.com වෙබ් අඩවිය ඔස්සේ ''දම් සභා ගුවන් හඬ''ට පිවිසෙන්න.**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ මංගල කලාපයේ සිට 12 වන කලාපය දක්වා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දායකත්වය**

◆ ධම්මික සේනාධීර මහතා - නෙක්මෝ පරිගණක ආයතනය - මාලබේ. ◆ අසංග මංජුල කුමාර මහතා - හෝමාගම. ◆ සමන් සිල්වා මහතා - නාගොඩ, කළුතර. ◆ ඩී.සී.ආර් ඇක්සස් ලංකා මුද්‍රණාලයේ චන්දිම පෙරේරා මහතා ඇතුලු කාර්ය මණ්ඩලය පිටකෝට්ටේ. ◆ එස්. එම්. ජයසේකර මහතා - මාලබේ. ◆ වෛද්‍ය ආර්. පී. වීරසිංහ මහතා - කොහුවල. ◆ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත. ◆ ඇල්. අමරසිංහ මහතා - පිලියන්දල. ◆ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව. ◆ එස්. අමරසිංහ මහතා - බෙල්ලන්විල. ◆ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම. ◆ සිසිර කරුණානායක මහතා - උඩුගම්පොල. ◆ දිල්හාන් ලියනගේ මහතා - තවලම. ◆ වැබඩ සිරිසේන මහතා - කඩවත. ◆ සම්පත් ඉන්දික කුමාර මහතා - වලස්මුල්ල. ◆ ජේ. එන්. ද සිල්වා මහතා - පිලියන්දල. ◆ චමිල ප්‍රසන්න මහතා - අත්තිඩිය. ◆ අනිල් කාරියවසම් මහතා - හෝමාගම. ◆ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය. ◆ නන් අයුරින් දායක වූ පිංවතුන්

**මූල්‍යමය දායකත්වය**

◆ ජයන්ති අත්තනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මෙල්බන් නුවර ඕස්ට්‍රේලියාව - රු. 150,000/- ◆ අමිත් හඳුගොඩ මහතා - අත්තිඩිය - රු. 51,000/- ◆ සමන් සිල්වා මහතා - කළුතර - රු. 40,000/- ◆ මනෝජ් ජයසූරිය මහතා, උදාන ආරියවංශ මහතා - මහරගම, රංජිත් වික්‍රමසිංහ මහතා - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, පතිරණ විජේතිලක මහතා - හෝකන්දර, චන්දිම ගුණදාස මහතා - මොරටුව, සුජාතා දසනායක මහත්මිය - දෙහිවල, ශාන්ත මාරසිංහ මහතා - දිගන, ශ්‍රී රංජිත්සිංහ මහතා - කැළණිය, ඉසුරු සම්පත් මහතා - කළුතර, රංජිත් සමරකෝන් මහතා - මත්තේගොඩ, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල - රු. 85,200/- ◆ ලහිරු කරුණාරත්න මහතා ඇතුළු පවුලේ සැම - ඇ.එ.ජ. - රු. 20,000/- ◆ වජිර රණසිංහ මහතා - එක්සත් රාජධානිය - රු. 20,000/- ◆ අසේල ජයවීර මහතා ඇතුළු පවුලේ සැම - කොට්ටාව - රු. 18,000/- ◆ තුසිත නාකන්දල මහතා - ගල්කිස්ස - රු. 15,000/- ◆ චන්ද්‍රලාල් ගමනායක මහතා ඇතුළු පවුලේ සැම - වේරහැර - රු. 12,000/- ◆ වසන්ත අබේසිංහ මහතා සහ පද්මා කහඳුව මහත්මිය ඇතුළු පවුලේ සැම- තලපත්පිටිය - රු. 11,000/- ◆ ගයාන් ගුණරත්න මහතා ඇතුළු පවුලේ සැම - ගොතටුව - රු. 10,300/- ◆ ඩබ්. ඒ. තිළිණවතී මහත්මිය - කඩවත - රු. 10,000/- ◆ සී. ලොකුලියන මහතා - එක්සත් රාජධානිය - රු. 9,500/- ◆ රංග ගමගේ මහතා ඇතුළු පවුලේ සැම - වීරකැටිය - රු. 9,000/- ◆ දිල්හාන් ලියනගේ මහතා - තවලම - රු. 9,000/- ◆ චම්පා වික්‍රමසිංහ මහත්මිය, ජගත් වික්‍රමසිංහ මහතා - බත්තරමුල්ල - රු. 7,000/- ◆ රොහාන් තිලකරත්න මහතා, අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 6,500/- ◆ පුබුදු ශ්‍යාමික මහතා - නිට්ටඹුව - රු. 6,000/- ◆ සුනන්ද මානගේ මහතා - නාවල - රු. 5,000/- ◆ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ◆ ටී. සිරිසේන සිල්වා මහතා - කඩවත - රු. 5,000/- ◆ ඔස්ටින් ප්‍රනාන්දු මහතා, සිසිර සිරිවර්ධන මහතා - පොල්ගහවෙල - රු. 5,000/- ◆ සාලින්ද ජයවර්ධන මහතා සහ මධුහානි කළුවැව මහත්මිය ඇතුළු පවුලේ සැම - මාලබේ - රු. 5,000/- ◆ අරුණ නිශාන්ත දිනේෂ් මහතා - මාකොළ - 4,500/- ◆ මානෙල් කුමාරතිලක මහත්මිය - ජා-ඇල -රු. 3,000/- ◆ දිල්රුක් ෂෙහාන් බස්නායක මහතා - මත්තේගොඩ - රු. 2,000/- ◆ මොනිකා කුලසේකර මහත්මිය - අත්තිඩිය - රු. 2,000/- ◆ කරුණාවතී විතාන මහත්මිය - ගාල්ල - රු. 2,000/- ◆ මාලතී වීරසිංහ මහත්මිය - රු. 1,000/- ◆ සුසිල් ආනන්ද මහතා - පාදුක්ක රු.1000/- ◆ කමලාවතී වීරසිංහ මහත්මිය - මාලබේ - රු. 1000/- ◆ කේ. පී. එම්. සමන්තිලක මහතා - පාදුක්ක - රු. 1000/- ◆ යමුනා කුලසේකර මහත්මිය - කලගෙඩිහේන - රු. 1000/- ◆ ප්‍රේමා ගුණතිලක මහත්මිය - වෙලගෙදර - රු. 1000/- ◆ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1000/- ◆ වෙනත් පිංවතුන්ගෙන් ලද පරිත්‍යාග - රු. 3,500/- ◆ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 538,500/- ◆ සියලු කලාපයන් සඳහා මුද්‍රණ වියදම - රු. 1,371,940/- ◆ අනෙකුත් වියදම් - රු. 30,432/- ◆ සම්පූර්ණ වියදම - රු. 1,402,372/- ◆ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී.

**දහම් සඟරා 11,000ක් ධර්ම දානය පිණිස නොමිලේ බෙදාහැරීමේ පිංකමට දායක වූ පිංවතුන්**

◆ නෙළුව සෞඛ්‍ය වෛද්‍ය නිලධාරී කැළුම් ලංකේෂ්වර මහතා ඇතුළු කාර්ය මණ්ඩලය ◆ නෙළුව, ආඬාරදෙණිය වත්ත පුද්ගලික සමාගමේ ඩබ්. ජිනදාස මහතා, ඩබ්. ගුණරත්න මහතා, ඩබ්. ලක්ෂ්මන් මහතා. ◆ නෙළුව ප්‍රාදේශීය ලේකම් වසන්ත විතානගේ මහතා ඇතුළු කාර්ය මණ්ඩලය. ◆ නෙළුව ප්‍රාදේශීය සභා සභාපති එම්. අයි. ජී. සුනිල් මහතා ◆ නෙළුව චාරුක නිවාඩු නිකේතනයේ අධිපති පුෂ්පකුමාර මහතා ◆ සුරේෂ් ප්‍රනාන්දු මහතා - ගාල්ල ◆ ප්‍රසංග ප්‍රනාන්දු මහතා ◆ නෙළුව ආරියසිරි ස්ටෝර්ස් අධිපතිතුමා නෙළුව ජයසිංහ තේ කර්මාන්ත ශාලාවේ අධිපතිතුමා ◆ කුඩා තේවතු හිමියන්ගේ ගාල්ල දිස්ත්‍රික් සංගමයේ සහ නෙළුව ශාඛාවේ නිලධාරී මණ්ඩලය. ◆ තිසරු සෙනෙවිරත්න මහතා - නෙළුව ◆ චමින්ද නාමල් මහතා - නෙළුව ◆ නන් අයුරින් සහයෝගය දැක්වූ නෙළුව ප්‍රදේශයේ පිංවත් පිරිස

ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිරී පිහිටා සුඛිත මුදිත වෙත්වා, සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා!

එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!

# ගන්ධබ්බයෙකුගේ වතගොත

කයක් හැර නවත් කයකට යන විට ‌ දී
නොයෙක් වෙනස්කම් වෙයි සත හට දුක් ‌ දී
ණයක් ගෙවෙන එක පමණකි මනු ලොව ‌ දී
බයක් නැතිව ඉන්නද කෙලෙසක සිත ‌ දී

සුලඟට හසු වූ පරඬැල් පත කෙබඳු ‌ වෙද
සුලඟට ඕන විදිහට යනු ඇත ‌ නිබඳ
අහසට පනින කය සිරුරින් ගිය ‌ විටද
මෙලෙසට කම් බලෙන් නවතා කරති ‌ තද

නෑ හිතවතුන් දෙන දෙයකින් යැපෙනු ‌ මිස
බෑ අන් දෙයක් ඉල්ලා ගෙන කනු ‌ විගස
කෑ දෙය වුණත් පමණයි ගන්ධයකි ‌ යුස
පෑ පෙර විකුම් දැන් ඉවරයි නොමැත ‌ තොස



හවිහරණක් නැතිව ඇවිදින ‌ අවකාසේ
මවි කුසයක් ලබන්නට කරනා ‌ වෙහෙසේ
සෙවි දෙය නොලැබ යයි හිටියත් මොන ‌ දේසේ
පවි පින් අනුව ලැබ දෙයි මවි පිය ‌ වාසේ

ගඟ දිය ගසා යන විට පනිනට ‌ ගොඩට
ගඟ දිග යනෙන මළ මිනියත් වෙයි ‌ පිහිට
අඟ පස ලබන්නට තිබෙනා ‌ හදිසියට
ළඟ ඇති ගැබ කුමක් වුව මැදුරකි ‌ එවිට

තුන් සතරමං හන්දිද අගු පිල් ‌ ගානේ
ගන්නට යමක් හොයමින් යන්නට ‌ ඕනේ
උන්නත් පෙරදී ලෝකෙට පෙන්වා ‌ මානේ
පින් පෙත් ලබන්නට දැන් තනියම ‌ බෑනේ

හරක් බලු බළල් මිනිසත් බවින් ‌ සැදී
කරක් ගහන ගඳබුන් සිය ගණන් ‌ පොදී
අරක් ගෙන කයක් ලබනා සිතින් ‌ බැඳී
තෙරක් නොමැති සසරේ අසරණින් ‌ ඉඳී

ගඳ සුවඳින් සැදුනු අහරින් දිවි ‌ ගෙවනා
විඳ විඳ දුකින් අසහනයම නිති ‌ දෙවනා
අද හෝ හෙට කයක් ලැබ ගැනුමට ‌ දුවනා
මඳ නැත මෙවැනි ගඳබුන් බොහො කල් ‌ තැවෙනා



# ඇති දා... සහ නැති දා...

ඇති වන විටදී මිනිසට පදමට කාසි
එති තව බොහෝ උදවිය ලබනට වාසි
නැති වන විටදී වස්තුව හා නෙක රාසී
යති ළඟ හිටපු උදවිය හැඬුවත් නෑසී

මිලදී ගැනෙන දෑ වැඩි වන විට දාක
මුලදී නොහිටි නෑයොත් ඇති වෙයි නේක
එල දී එපින් ගෙවිලා එන විට සෝක
නොලදී සැපක් දහමකි හැම කල ඒක

ලොව ඇති වස්තු ලැබ ගනු වස් කරන සෙනේ
දිව කට බොරු කියයි නොබලා කිසිම හැනේ
මව පිය වුණත් තුට්ටුවකට දෙකට ගැනේ
ඉවනට දමයි ඇඳිවත වත් නොමැත ඉනේ

ගනු මිස දෙනු නොමැති උදවිය ණයට කියා
කුණු වෙන කයට නෙක හැඩ වැඩ දමති සොයා
අනුවණකම නිසා මතු ගොඩ නගන දෙයා
පුනු වෙන විටදී සිහි නැත යති දෙනෙත පියා

අත මිට ඇති කලට ඇත පිරිවර සේනා
සඳු වට සපිරි තරු ලෙස ලෝකෙට පේනා
යන විට විනාසෙට ඒ කිසිවක් නේනා
විලසට හිරු කිරණ දුටු පිනි බිඳු ගානා

කම් පෙර හේතු කොට එන ඇති නැති බේදේ
දම් නිය අනුව දනු එන හැටි කළ කී දේ
යම් දින දනොත් අරි විනයේ තුන් වේදේ
නිම් නැති සසර දුක දුරලන මග පෑදේ

පබැඳුම - නිහිඳු චන්දන සිරිවර්ධන

නිහිඳු චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල විහාර පාරේ අංක 96/A දරන ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී